සැඟවුණු බොදු මග යළි පුබුදන

# හෙළ බොදු පියුම

ශ්‍රී බු. ව. 2562 ක් වූ නිකිණි මස (ව්‍යවහාරික වර්ෂ 2018 අගෝස්තු)

84 වෙනි කලාපය



## සියලු පිර බන්ධන වින කපන ඖෂධ යන්ත්‍රයක්...

රු. 25/-

සැඟව ගිය බොදු මග යළි රැගෙන සෑම පුන් පොහෝ දිනකම එළිදක්වන දහම් සංග්‍රහය



# බුදු මග යමු

කන බොන අඳින පළඳින යස රඟට — මනා
වැජඹෙන යස ඉසුරු මැද සිටු මැදුරු — තනා
නිවසන මෙලොව රඟ මඬලකි සිතන — දනා
අවසන අතැර යති සැම රුදු මරුට — සිනා

ඇස කන නැහැය දිව කය පස සතප — වන
මිස දිටු මතම මිස පව පින නොහඳු — නන
දෙස බස රැස සිහළ කම වුව නොසළ — කන
මුස පත් නිවට පිරිසකි මෙම අමන — දන

අදහති මොව්හු එය නිවැරදි මගය — කියා
විඳවති පසුව දුක හද ගැබ පතුලෙ — තියා
නුවණැති දනෝ දෙලොවම සුව සදන — නියා
පදවති දිවි ඔරුව භව මග එතෙර — සොයා

ලෝ දම අනිස බව යන පොදු දහම — දැන
ආ ගම දහම අදහන ඒ අනුව — යන
පා සම මෙත සිතන නැති බැරි පිරිස — ගැන
ඒ සැම සතට ඇත භව දුක නසන — පින

අව ගති දුරැර පින් සිතිවිලි පණ — ගන්වා
පව පිටු දැකිය යුතු වග සත වෙත — දන්වා
භව දුක නසන එම මග සත හට — පෙන්වා
සුව සෙත සදා දුනි හිමි ජය දද — නංවා

පෙර නොම ඇසුව විසිතුරු දහමකි — දෙසුව
නිර තුරු එම දහමටම සිත ගත — මුසුව
දෙර ණත පිනැති සත හට බුදු බණ — ඇසුව
මර ණය නසන අරි මග වැටහුනි — පසුව

පබැඳුම - කාව්‍ය ශිරෝමණී පානදුරේ එස්. ඒ. එස්. පෙරේරා






# ලෝක ස්වභාවය මුල් කරගෙන කමටහන් සැකසෙන අයුරු... 04

සත්ත්වයා බාහිර රූපයට රැවටෙන ආකාරය පසුගිය කලාපයෙන් විග්‍රහ කළා. දැන් මේ විදිහටම ශබ්දයට රැවටෙන ආකාරයත් උදාහරණ උපමා තුලින් තේරුම් ගන්න ඕන. සංගීත භාණ්ඩයක් ගත්තොත් අපි ඒකෙන් මොනවද ගන්නෙ? අපි හිතමු ඒක ගිටාරයක් කියල. එතකොට ඒකෙ කම්බියක් කම්පනය වෙනකොට එන මිහිරි නාදයක් ඇහිල රුපියල් දහස් ගණනක් දීල හරි, හොඳ සංගීත භාණ්ඩයක් හම්බ වුනා කියල ආසාවෙන් මිලදී ගන්නවා. දැන් ඉතින් ඔය සංගීත භාණ්ඩය ඇතුලෙ තිබුනෙ මොනවද? අර තත / කම්බිය පොඩ්ඩක් බුරුල් කළා නම් එහෙම අර මිහිරි සද්දෙ ඔක්කොම ඉවරයි.

ඒ තත ශබ්ද කරන්න බැරි නම්, කම්බිය පොඩ්ඩක් ඇද වෙලා ගියා නම්, කැඩිල ගියා නම්, ඒ මිහිර ශබ්ද මාත්‍රය ආවෙ නැත්නම්, ඒත් ශබ්දය දෙන්න හේතු වෙච්ච ඔක්කොම උපාංග ටික ඒකෙ තියෙනවා. නමුත් දැන් මොකද කියන්නෙ? “අපෝ මේක නම් එපා, මේක කබලක්, මේකෙන් වැඩක් නෑ” කියල පැත්තකට දානවා. එහෙනම් කබලක් කියල, වැඩක් නෑ කියල අහකට දැම්ම එකේ තමයි ඒ වටිනවයි කියල ගත්ත සංගීත භාණ්ඩයේ කිලෝ ගණනක් බර තිබුනෙ, පිටින් ඔපය තිබුනෙ. ඕකෙන් මොකක්ද අහක් කළේ? අර මිහිරි නාද මාත්‍රය පොඩි වෙනසක් කළා විතරයි ඒක එපා වුනා. කෙනෙකුට කියන්න පුළුවන්, තත බුරුල් වුනා නම්, කැඩිල ගියා නම් නැවත සුසර කරගන්න පුළුවන්නෙ, හදාගන්න පුළුවන්නෙ ඕක ඒ හැටි දෙයක්ද කියල. පුළුවන් තමයි හැබැයි යම් කිසි විදිහකින් සංගීතයක් සපයන වෙලාවෙදි, ආස්වාදයක් ලබන වෙලාවෙදි ඕක වුනා නම් මොකද වෙන්නෙ? සුසර කර කර ඉන්න, හද හද ඉන්න වෙලාවක් නෑ කේන්තියෙන් දමල ගහනවා, පැත්තකට දානවා. මොකද අර මොහොතට තමයි ඒකෙ වටිනාකම තියෙන්නෙ. ඒ අවශ්‍ය මොහොතට නැත්නම් ඒකෙන් වැඩක් නෑ.

එහෙනම් අපි සංගීත භාණ්ඩයේ ඇළුම් කළේ මොකටද? ඒකෙන් නැගුන ශබ්දයේ ඔප මාත්‍රයක් නිසා, අනික් සියල්ලත් එක්ක වියදමක් දරල බර ගොඩක් අරගත්තා. මම, මගේ කියල බර ගොඩක් විදිහට ගන්න හිතුනෙ මොකක්ද? අර පිටින් තිබුන ශබ්දයේ ඔප මාත්‍රය. ඒ ටික තමයි ඒකෙන් ප්‍රිය මනාප විදිහට ගත්තෙ.

ඊළඟට මලක් අරගෙන සුවඳ ඉඹිනවා. ඕකෙ ගන්ධ මාත්‍රයක් තියෙනවා. අනික් ටික විදිහට තියෙන්නෙ ජලය, ද්‍රව්‍ය පදාර්ථ ආදී සතර මහා භූත. දැන් ඒ ගන්ධ මාත්‍රය ඒකෙ තියෙන කල් ඕකට මහා වටිනාකමක් දෙනවා. සුවඳ විලවුන් කුප්පියක් අරගෙන ඇරල තියනවා. අපි කියනවා, ඕකෙ මූඩිය ඇරල තියන්න එපා සුවඳ යනව කියල. ඇරල තිබුනොත් එහෙම පස්සෙ බලනකොට අර කිච්ච ටික ඔක්කොම තියෙනවා, නමුත් සුවඳ නෑ. සුවඳ ගිහින්. පුයර (පවුඩර්) ටින් එකක් ගෙනත් ඇරල තියනවා. අහකට ගියේ පොඩ්ඩයි, ඒකෙ නිය තුඩකට ගන්න තරම් දෙයක් නෑ. අනික් ඔක්කොම ටික තියෙනවා. ඒ නිය පිඬට ගන්න පුළුවන් මාත්‍රය නිසා හරි සුවඳ පුයර ජාතියක් කියල උස්සගෙන බදාගෙන ලොකු වටිනාකමක් දෙනවා. දැන් ඒකෙ තිබුනෙ මොනවද? ආස්වාද මාත්‍රය නිය පිඬට ගන්න තරම් දෙයක්වත් නෑ. ඒත් ඒ ආස්වාද මාත්‍රය තවරල රඳවල තිබුන ඉතිරි කොටස වැඩක් නැති හිස් බරක්.

ඊළඟට රසය ගත්තත් එහෙමයි. පොඩ්ඩක් ලුණු වැඩි කළා. එක්කො ලුණු අඩු කළා. නැත්නම් ඒකෙ තියෙන රස මාත්‍රය පොඩ්ඩක් එහෙ මෙහෙ

කරල වෙනස් කරනවා. ඒත් අර ද්‍රව්‍ය වස්තුව කිලෝ ගණනක් බරට කන්න තියෙනවා. දැන් මොකද කියන්නෙ? අපෝ කන්න බෑ, මට නම් එපා කියනවා. දැන් එතකොට මොන කෑමටද කැමති වුනේ? ඒකෙ ගෑවිලා තිබුන ඔප මාත්‍රයක් වගේ තිබුන රස මාත්‍රයක් නිසා අර මුළු කෑම එකටම වටිනාකමක් දුන්නා කීයක් දීල හරි ගන්න ඕන කියල. අන්තිමට කිලෝ ගණනක් හිස් දෙයකට මුදල් ගෙවනවා. හිස් දෙයක් බදා ගන්නවා. ඒ මොකක් නිසාද? අර රස කියන මාත්‍රය ඒ තුල වැහිල තිබුන නිසා.

ඊළඟට ස්පර්ශය (පොට්ඨබ්බය) ගත්තමත් එහෙමයි. හරි හොඳ සිනිඳු ස්පර්ශය කියල ගත්ත වස්තුව පොඩ්ඩක් රළු කෙරුව නම් අර ආස්වාද මාත්‍රය ඉවරයි. එතකොට ඒක එපා වෙනවා. අර ස්පර්ශ මාත්‍රය දැනිල, ඒ ස්පර්ශ මාත්‍රය ගෑවිලා තියෙන කිලෝ ගණනක් විතර බර මුළු කුණු කන්දලයම අරගෙන හරි වටිනා දෙයක් කියල, මගේ නෝනා මෙහෙමයි, මගේ මහත්තය මෙහෙමයි, මගේ දුව පුතා මෙහෙම හැඩකාරයි කියල ගන්නෙ, අර හුරල නිය පිඬට ගන්න තරම්වත් නැති ඔප මට්ටම් මාත්‍රයට රැවටිලා. ඒ මාත්‍රයට රැවටිලා මහා වටිනාකමක් දෙනවා. ඊට පස්සෙ ඒ සුළු මාත්‍රය නිසා විසාල දුක් ගොඩක්, වෙහෙස ගොඩක් කරපින්න ගන්නවා. ඊට පස්සෙ ඒක මගේ වස්තුව කියල තණ්හාවෙන් ගන්නවා, ඇළුම් කරනවා.

එහෙනම් මෙතනදි පේනවා මන වඩන රූප, මන වඩන ශබ්ද, මන වඩන ගන්ධ, මන වඩන රස, මන වඩන ස්පර්ශ කියල යමක් ඇත්ද, ඒ සියල්ලම අංශු මාත්‍රයි. ඒ අංශු මාත්‍ර ගෑවිලා තියෙන අප්‍රමාණ කුණු ගොඩවල්වලට "මම, මගේ, මගේ ආත්මය" කියල බැඳෙනවා. ඒවා ලබා ගන්න පොර කනවා. රැස් කරගන්න පොර කනවා. ගොඩ නගාගන්න මහන්සි වෙනවා. අන්තිමට කෙළවරක් නැති මහන්සියක්, පෙළීමක් ඇවිත් ඒත් කුණු ගොඩ දරාගෙන ඉන්නෙ මොකක් නිසාද? රූප, ශබ්ද, ගන්ධ, රස, ස්පර්ශ කියන මායා මාත්‍ර 5 ක් මුල් කරගෙන ඒ මායා මාත්‍ර 5 බැඳිල තිබුන කොටස තමයි වටිනාකමක් දීල අරගත්තෙ.

එහෙනම් මේ මුළු ලෝකයක බර උස්සන්න, අවිද්‍යාවෙන් තෘෂ්ණාවෙන් බැඳල තියන්න, ඇහැට පෙන්වන්න හෝ අතට ගන්න තරම් දෙයක් නැති මායා මාත්‍ර 5 කට පුළුවන්. **මුළු ලෝකයේම තියෙන සියලු දේ ඔප මට්ටම් කරල ගත්තත් අල්ලට ගන්න තරම් දෙයක් නෑ. ලෝකයයි කියන, ප්‍රියයි කියන සියලු රූපයන්ගේ ඔප මට්ටම් ඔක්කොම එකතු කරල බලන්න පුළුවන් නම්, මෙන්න මේ මට්ටම කියන එක අල්ලගන්න තරම් දෙයක් නෑ කියල වැටහෙනවා.** මුළු ලෝකයේම සුවඳ කියල කියන ඒවායේ තියෙන සුවඳ මාත්‍රය වෙන් කරල ගත්තොත්, මෙපමණයි කියල පෙන්වන්න තරම් දෙයක් නෑ. සුවඳ මට්ටම ඒවායේම දැනෙන ස්වභාවයක් විතරයි. අනික් සේරම ඒකෙ රැඳිල තිබුන රොඩු ගොඩ. ඒ වගේම තමයි මේ ලෝකෙ තියෙන සේරම රස ටික එකතු කරල බැලුවොත් ඒ රොඩු ගොඩටම රස වැටහීම් මාත්‍රයක් විතරයි. අනික් ඔක්කොම ඒවා ඒකෙ බැඳිල තිබුන රොඩු ගොඩ. මේ ලෝකෙ ආස්වාද දෙන්නා වූ ස්වභාවයකින් වෙන් කරල ගත්තොත් එහෙම අල්ලට ගන්න තරම් දෙයක් නෑ. කුණු ගොඩ තමයි ආස්වාද ස්වභාවය බැඳිල තිබුන සියලු වස්තුව.

එහෙනම් ලෝක සත්ත්වයා අප්‍රමාණ කුණු ගොඩක් බදාගෙන වෙහෙසෙන්නෙ පෙළෙන්නෙ මොකක් නිසාද? ඔන්න ඔය මායා ආස්වාද මාත්‍රයකින් තාවකාලිකව රවටන රැවටිල්ලකට අහුවෙලා. මෙන්න මේ විදිහට රූපයේ තත්ත්වය දකින්න ඕන. රූපස්කන්ධයයි කිව්වම ඇයි රූපස්කන්ධයට බැඳුනෙ? කොයි ටිකටද බැඳුනෙ? මුලින් පෙන්වල පසුව නැතිවෙන මායාවකට. යම් කිසි රූපයක තියෙන ප්‍රිය මනාපය කියන්නා වූ මාත්‍රය කුණු ගොඩක් එක්ක "මම" කියල බදා ගන්න, ඒ බර ගොඩ පෝෂණය කරමින්, රැක ගනිමින්, නොයෙක් ආකාරයේ අප්‍රමාණ දුකක් වෙහෙසක් විඳවන්න හේතු ඇති කරන මුළා සහගත ඔප මාත්‍රයකට පුළුවන් වුනා ලෝක සත්ත්වයා එතැනට ඇදල දාන්න.

එහෙනම් මේ රූපස්කන්ධය කියන දුක්ඛස්කන්ධයක් කෙරෙහි සත්ත්වයා ඔප මට්ටමෙන් බැඳ තබනවා. රැවටෙන්න මාත්‍රයක් දීල තියෙනවා. හැබැයි **ඒ මාත්‍රය දුන්නෙ වැඩි කාලයකට නෙවෙයි. ලෝක රාමුවට කොටු කරගන්න කල් විතරයි. තරුණකම දුන්නෙ විවාහ කරගන්න කල් විතරයි. බැඳගෙන කරගහගෙන අවුරුද්දක් දෙකක් යනකොට ඔක්කොම ඉවරයි.** දැන් මොකද කරන්නෙ? කුණුගොඩ ඉතුරු වුනා. ඔප මට්ටමෙන් රැවැට්ටුවා. ලෝක බැම්මට ඇදල දැම්මා.

දැන් ඉතින් ජීවිතේ ඉවර වෙනකල්ම ගෙවන්න වෙනවා. නැවත සෙල්ලම් කරන්න හම්බ වෙන්නෙ නෑ. උඹ මගේ, මගේ උඹ, උඹට ඕන හැටියට වැඩ කරන්න බෑ, උඹත් මගේ... ආදී වශයෙන් අයිතිවාසිකම් හදා ගන්නවා. දැන් ඉතින් මොකද වෙන්නෙ? කෙස්වලු පටලවාගෙන තඩි බාපුවා කොච්චර ඇත්ද? මුළු ජීවිත කාලයේදිම ඔය දෙන්න කොච්චර නම් දැවිච්ච තැවිච්ච අවස්ථා ඇත්ද? ජීවිත කාලයටම ඔය වගේ එකිනෙකා දැවෙන තැවෙන ඒවා එක පැත්තකින් තියෙනවා. දෙන්න අතර දැවීමක් තැවීමක් නැතිව හිටියොත්, අනිකට කරදරයක් වෙයිද කියන බියෙන් සැකෙන් පෙළෙනවා. ඔය විදිහට දෙන්නට දෙන්න ඒ නිසා දැවුන පෙළුන වාර ගණන, බියෙන් සැකෙන් හිටපු වාර ගණන බැලුවොත් ඒ ගිනි කන්ද කොච්චරනම් ඇත්ද? දැන් ඒක අලුවෙලා ගිහින්. හැබැයි ඒ ආදරවන්තයින් දෙන්නට ඒ නිසා හට ගත්ත දැවීම බැලුවොත් එහෙම, දැවුන සියල්ල එකට ආව නම් එක මොහොතක දැවිල අලු වෙලා යනවා. මහා ගිනි කන්දක්. හොරු ගනියිද? පැහැර ගනියිද? ගහයිද? මරයිද? බඩගින්නෙ ඉන්න වෙයිද?... මේ ආදී වශයෙන් නොයෙක් ආකාරයෙන් මේ ශරීරය පෝෂණය කරන්න, රැකගන්න ඒ වගේ අඩු පාඩු බලාගෙන ජීවත් වෙන්න ඕන. ඒ නිසා ඉන්න තැනක් හදා ගන්න ඕන. කන්න බොන්න දෙයක් හම්බ කරගන්න ඕන. සොර සතුරු පීඩාවන්ගෙන්, ලෙඩ දුකින් ආරක්ෂා වෙන්න උපක්‍රම යොදන්න ඕන.

මේ ඔක්කොම ආවෙ මොකටද? ආස්වාද මාත්‍රය ඔක්කොටම වඩා ලොකු වුනා. ඒ ආස්වාද මාත්‍රය අවුරුද්දක් දෙකක් යන්න ඉස්සෙල්ල පෙන්වල ගෙවිල ගියා, සැඟවිලා ගියා. මෙන්න මේ පොඩ්ඩ අරගත්තම රූපස්කන්ධයේ මාත්‍රයක් සඳහා අප්‍රමාණ ආදීනවයකට ලෝක සත්ත්වයා ඇද දමනවා. ඔන්න ඔය මාත්‍රය තෝරගන්න බැරි නිසා බැඳෙන දේ තමයි තණ්හා උපාදාන කියන්නෙ. රූපස්කන්ධය කෙරෙහි බැඳෙන ආසාවට හේතු වුනේ ඒ ආස්වාද මාත්‍රය. ඒ නිසා ඔප වෙච්ච මාත්‍රයකට රැවටිලා අප්‍රමාණ දුක් කන්දරාවක් කරගහ ගන්නවා.

ඉතින් ඔතැනින් පටන් ගත්තම ඔකම තමයි වේදනා කියල කිව්වෙ. සැප වේදනා සැප වේදනා කිව්ව මිසක් දුක් වේදනා පස්සෙ යන්න කැමති නෑ. හැබැයි සැප වේදනා මාත්‍රයක්

## ලෝක ස්වභාවය මුල් කරගෙ කමටහන් සැකසෙන අයුරු...

අල්ල ගන්න ගිහින් ජීවිත කාලයටම අප්‍රමාණ දුක් වේදනා විඳල තියෙනවා. **හැම මොහොතකම කරල තියෙන්නෙ මොකක්ද, ආස්වාද මාත්‍රයක් අල්ල ගන්න ගියාම ඒ සඳහා අප්‍රමාණ දුක් වේදනා විඳිනවා.** නමුත් අර සැප වේදනා මාත්‍රයට තමයි හිත බැඳගන්නෙ. අන්න ඒ බැඳ ගන්න මාත්‍රය නිසා මේ වේදනා දෙක තුල සැප වේදනා මාත්‍රයට දහසක් දුක් වේදනා විඳින්න වෙනවා. හැබැයි අප්‍රමාණ දුක් වේදනාව සැප වේදනා මාත්‍රයෙන් වහල ගෙනත් දෙනවා. ඒ ගැන බැලුවෙ නැති නිසා, තේරුම් ගත්තෙ නැති නිසා, ඒ සැප වේදනා මාත්‍රයක් මතුවටත් බලාපොරොත්තු වීම තුලින් අප්‍රමාණ දුක් වේදනා විඳිනවා.

එහෙනම් මේ වේදනා ස්කන්ධය හැදිල තියෙන්නෙ සැප වේදනා මාත්‍රයකට අප්‍රමාණ දුක් කන්දරාවක් දාල, ඒ දුක් වේදනා සියල්ලම සැප මාත්‍රයෙන් වහල. ඒ තමයි රැවටිල්ල, වේදනාවේ රැවටිල්ල. එහෙනම් වේදනා ස්කන්ධයෙන් අපිට හිතා ගන්න තියෙන්නෙ මොනවද බැලුවොත්, ඒ ආස්වාද මාත්‍රය / සැප වේදනා මාත්‍රය අප්‍රමාණ දුක් වේදනා ගොඩකින් වහල තියෙන බව තේරුම් ගන්න ඕන. නමුත් අර සැප වේදනා මාත්‍රයෙන් අහක් වෙලා බලන කල් මේ දුක් වේදනා ගොඩ පේන්නෙ නෑ.

එතකොට වේදනා ස්කන්ධයට බැඳීම නිසා සංඥා ස්කන්ධය බදාගන්නවා. **කෙනෙක් ගොඩ නගන සංඥා අතර ප්‍රිය මනාප සංඥා කීයද තියෙන්නෙ? ඒක අල්ල ගන්න ගිහින් අප්‍රිය අමනාප සංඥා කීයක් නම් ලබනවද?** දුර ඉඳන් බලනකොට හඳ හරි ලස්සනයි, ළඟට ගියාම දූවිලි ගොඩක් කියල අපි කතාවට කියනවා. ඒ වගේ රූප සංඥා, ශබ්ද සංඥා, ගන්ධ සංඥා, රස සංඥා, පොට්ඨබ්බ සංඥා, ධර්ම සංඥා කියල සංඥා ගොඩවල්වල යන්තම් ඔප මාත්‍රයක් තියෙනවා. ඒ මාත්‍රය නිසා ප්‍රියයි මනාපයි කියල රැවටෙනවා. තරුණයා, තරුණිය කියන්නා වූ සංඥා මාත්‍රයට බැඳිල, මහල්ලා / මැහැල්ල කියන තැනට එනකල් ලබල තියෙන්නෙ ප්‍රිය මනාප සංඥා කීයද? **මුළු ජීවිත කාලය තුලම බැලුවොත්, තරුණ කය කියන සංඥාවෙන්, තරුණයි කියන සංඥාවෙන් ගත්තම, ඒ ආකාරය කොච්චර දවසක්ද පැවතුනේ?** එතැන් පටන්ගෙනම ඇද ගැහිච්ච, කුද ගැහිච්ච සංඥාමයි මුළු ජීවිත කාලයේම ලැබුවෙ. එතකොට ඒ ජීවිත කරගහ ගත්තෙ හරි ලස්සනයි කියන සංඥා මුල් කරගෙන.



හරි ලස්සන ඇඳුම කියල ඇඳුමක් අරගෙන එනවා. පාට හොඳට තියෙන කල් ලස්සන හොඳ ඇඳුම කියන වචනය තියෙනවා, සංඥාව තියෙනවා. ඊට පස්සෙ ඇඳුම දකිනකොට පහල වෙන සංඥා මොනවද? දැන් ඉතින් පාංකඩ ඇඳුම. එහෙනම් වැඩි කාලයක් ලැබිල තියෙන සංඥා මොනවද? එකක් අල්ල ගන්න ගිහින් ඒකෙ බැඳිල තිබිච්ච අහිතකර සංඥා ගොඩකටම මුහුණ දෙන්න සිද්ධ වුනා. හරි ලස්සන ගෙදර කියල සංඥාවකින් බැඳිල ඒ සංඥාව මුල් කරගෙන හදාගත්ත ගෙදර කබල් වෙලා ගිය තැන් පටන් වැඩි කාලයක් ගෙවන්නෙ කොහොමද? දැන් පරණ ගේනෙ, දැන් මේ ආදි කාලෙ ගෙවල්නෙ, දැන් මේවා ඔප මට්ටම් ගෙවල් නෙවෙයි, කවුරුවත් අපේ ගෙදරට ගෙන්න ගන්නවත් බෑ, ලස්සන ගෙවල් කොච්චර තියෙනවද? දැන් සංඥා වෙනස් වෙලා. එහෙනම් **ඒ ඒ සංඥා බලාපොරොත්තුවෙන් අල්ලගෙන බැලුවම ඒක පිරිල තියෙන්නෙ, හිතට සතුටක් නැති, ප්‍රණීත නැති, සුව නැති සංඥා ගොඩකින්. හැබැයි සුව නැති සංඥා ගොඩටම මුහුණ දෙන්න සිද්ධ වුනේ මොකක් නිසාද? සුවයි කියන සංඥා මාත්‍රයක් දැකල, ඒක ඡන්ද රාගයෙන් අල්ල ගන්න ගිය නිසා.**

ඊළඟට සංඛාර කියන්නෙ අපි හිතෙන්, කයෙන්, වචනයෙන් රැස් කරන දේවල්. ඒවා ප්‍රියයි මනාපයි කියල රැස් කරන්න ගිහින් අරගෙන ආවට පස්සෙ මොකද වෙන්නෙ? එතැන් පටන්ගෙන කැඩෙයි බිඳෙයි විනාස වෙයි කියන බය නිසා දුක් සංඛාර නිපදවනවා. දුක සේ කතා කරනවා. දුක සේ හිතනවා. අනේ කැඩෙයිද, බිඳෙයිද, විනාස වෙයිද? අනේ කවුරුවත් කඩයිද, බිඳියිද, විනාස කරයිද? දැන් මොනවද මේ ඇති වෙන්නෙ? ඔක්කොම මෝහ සිතිවිලි. නැත්නම් මෝහ සහගත සංඛාර. කැඩෙන දේ කැඩෙනවා. බිඳෙන දේ බිඳෙනවා. විනාස වෙන දේ විනාස වෙනවා. නමුත් ඒ ගැන හිතන්නෙ නෑ. ධර්මතාවය ඒක වුනාට, ඒකට එහෙම ඉඩ දෙන්න බෑ, ඒක කොහොම හරි රැකගන්න ඕන කියල, බැරි දෙයක් කරන්න මුළාවෙන් දඟලන අදහස්වලින්මයි ඔක්කොම සංඛාර පිරිල තියෙන්නෙ. ප්‍රියයි මනාපයි කියන සංඛාර මාත්‍රයක් නිසා අප්‍රිය අමනාප සංඛාර අප්‍රමාණයකට මුහුණ දෙනවා. ප්‍රියයි මනාපයි කියන විඤ්ඤාණයක් පහල කරගෙන, ඔය ටිකෙන් ඒ ගති ලක්ෂණයේ හිත පිහිටල ඒක බදාගත්ත තැන් පටන් අප්‍රිය අමනාප සිතිවිලි කෝටි ප්‍රකෝටි ගණන් පහල කරනවා.

එහෙනම් රූප, වේදනා, සංඥා, සංඛාර, විඤ්ඤාණ කියන මේ ස්කන්ධ 5 තුල මායාවකට රැවටිලා අප්‍රමාණ දුක් විඳගෙන එන්නෙ අද ඊයෙ පටන් නෙවෙයි, අප්‍රමාණ අනන්ත සංසාරයේ පටන්. හැබැයි ඒක දැක්කෙ නෑ. ඒව ඔක්කොම අමතක වෙලා. නමුත් මේ ආපු ගමන බොරුවක් නෙවෙයි. මිනිස් ඇස ඉක්ම වූ දිවැසට දකිනවා, පෙර අනාදියේ පටන්ගෙන භවයක් භවයක් පාසා මෙබඳු කයවල් ලබමින්, ඒ කයවල් වැනසෙමින් අනන්ත දුක් විඳිමින් මේවා පස්සෙ නේද ඇවිල්ල තියෙන්නෙ කියල. බුදු, පසේ බුදු, මහ රහත් උත්තමයන් වහන්සේලා වගේ දිවැස් තියෙන උත්තමයන්, ලෝකයා නොරවටන උත්තමයන්, තමන්ගෙ මහ දිවැස්වලින් දැකල ලෝකයාට පෙන්වා දෙනවා, මෙන්න මෙහෙම දෙයක් තියෙනවා ඒක බොරු නෙවෙයි කියල.

මේක වෙන්නෙ මෙහෙමයි කියල ඒ දිවැස් තියෙන හැම උත්තමයෙක්ම කියල තියෙනවා. අනාදියේ පටන් එන භව ගමනක් තියෙනවා කියල ප්‍රකාශ කරල තියෙනවා. මටත්

දිවැසක් ලැබුනා, ඕක බොරුවක් කියල කිව්ව එකම දිවැසිවරයෙක්වත් නෑ. යම් කෙනෙකුට දිවැස් මාත්‍රයක් ලැබුන නම් ඔහු භවයක් හෝ දෙකක් හෝ දැකල තියෙනවා. මහ දිවැස් ලැබුන නම් කෝටි ප්‍රකෝටි ගණන් අත්බැව් දැකල තියෙනවා. මට දිවැස් තියෙනවා, පෙර භවයක් නෑ, ඔය බොරු කියල කියපු කෙනෙක් ලෝකයේ අද වෙනකල් නෑ. **මෙච්චර කාලයකට කෙබඳු ආකාරයක හෝ දිවැස් ඇත්තෙක් පහළ වුනා නම්, මොන ආගමේ කිව්වත්, බෞද්ධ කිව්වත්, අබෞද්ධ කිව්වත්, දිවැසක් තිබුන නම්, ඒ හැම කෙනෙක්ම කියල තියෙනවා, අනාදියේ පටන් එන සසර ගමනක් දැකල තියෙනව කියල. ඒක ලෞකික දිවැසට පවා පේනවා. අත්බැවෙන් අත්බැවට ආපු ගමනක් දැකල තියෙනවා. පෙර ගමනක් තිබිල තියෙනවා. මේක මේ අත්බවේ මව් කුසේ පටන් ගත්ත එකක් නෙවෙයි. ඊට එහාමයි. දැකපු ඔක්කොම අය ඒක කියල තියෙනවා. නමුත් උත්තමයන් දැකපු ඇත්ත ලෝකයා විස්වාස කරන්නෙ නෑ.**

හැබැයි ලෝකයට ඇලුම් කරන ලාභ, කීර්ති, ප්‍රසංසා බලාපොරොත්තු වෙන, ඒවායේ බැඳිල රැඳිල කටයුතු කරන අයගෙ කතාවක් / මතයක් තියෙනව නම් ඒක ඇත්ත වෙන්නැති කියල හිතනවා. නමුත් අපි හොඳටම දන්නවා ලාභය, කීර්තිය, ප්‍රසංසාව බලාපොරොත්තු වෙන කෙනා තමන්ගෙ වැඩේ කරගන්න කොච්චරනම් බොරු කියනවද කියල. හැබැයි ඒ අයගෙ කීම ඇත්තයි කියල පිළිගන්න ලෝකයත් හැඩගැහිල තියෙනවා. මිනිසා අභවල් ග්‍රහලෝකයට ගියයි කිව්වම, ඒක ඇස් දෙකින් දැක්කෙ නැතත් ලෝක සම්මත විද්‍යාඥයො කියනව නම් ඒක පිළිගන්නවා. එහෙනම් දැනුත් ගිහින් ඔප්පු කරල පෙන්වන්න කියල එහෙම අහන කවුරුවත් නෑ. කිව්වෙ මොකක්ද ඒක පිළිගන්නවා. දෙවියො, භූතයො, යක්ෂයො කියල කොටසක් නෑ, ඒවා මනඃකල්පිත කියල ලෝක සම්මත උගත්තු කිව්වොත් ඒක පිළිගන්න පෙළඹෙන අය වැඩියි.

හැබැයි කිසිම ලාභයක්, කීර්තියක්, ප්‍රසංසාවක් බලාපොරොත්තු නොවෙන, ඒ වගේම ලෝකයේ කිසිම දෙයක් අල්ල ගන්නෙ නැතිව ඒ බැඳීම් රැඳීම්වලින් ඉවත් වෙලා, නිදහස් සරල ජීවිතයක් ගත කරන උත්තමයන් වහන්සේලාගෙ සත්‍ය කියමනක් ගණන් ගන්න කැමති නෑ. අර මුළා වෙච්ච පිරිසගෙ වචන ඊට වඩා ලොකුයි. ඒ තමයි මුළාවෙ හැටි, මුළාවෙන් ලෝකයා වහන හැටි. නමුත් කිසිම ලාභයක්, කීර්තියක්, ප්‍රසංසාවක් කිසිම ආකාරයකින් බලාපොරොත්තු නැති, කාම සම්පත්තියකට බැඳිල රැඳිල නැති, කිසියම් ආකාරයක ගරු නම්බුවක් හෝ බලාපොරොත්තු නැති, එබඳු ගුණ ඇත්තා වූ දිවැස් ලාභී උත්තමයන් හැම කෙනෙක්ම කියල තියෙනවා, අප්‍රමාණයේ පටන් ගෙන එන සසර ගමනක් තියෙනවා කියන කාරණය. එහෙනම් ඒක බොරුවක් නෙවෙයි.

එතකොට මෙච්චර කාලයක් අපි මොකක්ද කරල තියෙන්නෙ? රූප, වේදනා, සංඥා, සංඛාර, විඤ්ඤාණ කියන මේ ස්කන්ධ 5 ක් දරාගෙන අනාදියේ පටන්ගෙන ගමනක් එනවා. එහෙනම් අනාදියේ පටන් මොනවද කරල තියෙන්නෙ? මායා මාත්‍රයකට රැවටිලා අප්‍රමාණ වෙහෙස කරවන්නා වූ දුක් කන්දරාවකට කරගහගෙන ආපු ගමනක් නම්, එහෙම ගමනක් මෙච්චර කාලයක් ඇවිත් තියෙනව නම් ඒක බොරුවක් නෙවෙයි. දැන් අමතක වෙලා තියෙන්නෙ. හැබැයි නාම ගෝත්‍ර / මතක සටහන් විදිහට තැන්පත් වෙලා තියෙන නිසා දිවැස් / සමාධි ලැබුන නම් සිහි කරල බලන්න පුළුවන්. එතකොට අද තියන්නෙත් ඔච්චරයි. පෙර තිබුනෙත් ඔච්චරයි. එහෙනම් මතු යන ගමනට තියන්නෙත් ඔච්චරයි. එයින් එහාට එහෙම සැප සහගත වෙනත් රූපස්කන්ධයක් හට ගන්න විදිහක් නෑ. සැප සහගත වේදනා ස්කන්ධයක්, සැප සහගත සංඥා ස්කන්ධයක්, සැප සහගත සංඛාර ස්කන්ධයක්, සැප සහගත විඤ්ඤාණ ස්කන්ධයක් අරගත්ත සත්ත්වයෙක් කොහේවත් නෑ. කවුරු මොනව කිව්වත් රැවටිලා තියෙන්නෙ ඔය ටිකට. හැම කෙනාම ඔය මුළා මාත්‍රයකට රැවටිලා, ඒ වටා ගොදුරු වෙලා තියෙන මහා දුක් කන්දරාවක් කරගහගෙන, ඒවා පෝෂණය කරමින්, පවත්වමින්, පවත්වන්න බැරි දෙයක් පවත්වන්න උත්සාහ කරමින්, දුක් විඳගෙන ආපු අනන්ත භව ගමනක් තියෙනවා කිව්වෙ ඒකයි.

ඉතින් මෙන්න මේ කාරණය දැනගත්ත ලොව්තුරා බුදු පියාණන් වහන්සේ සියල්ලගේම අග්‍ර ඥානයෙන් යුක්ත වෙලා මේකෙ අහුමුළු නැර පෙන්නුවා, හේතුවක් ඇතිව මිසක් මේක නිකං හට ගත්තෙ නෑ කියල. මේ සසර ගමන කොහොමද හට ගත්තෙ කියල විග්‍රහ කරල දුන්නා. ඒක අවසන් කරගන්න හැටිත් විග්‍රහ කරල දුන්නා.

එහෙනම් ස්කන්ධ භාවනාවක් අවශ්‍ය වෙනවා. ඔන්න ඔතනදි මූලික අවස්ථාවෙ විග්‍රහ කළා ස්කන්ධ කියන්නෙ මොනවද කියල. හරයක් ඇති දෙයක්ද? අන්න ඒක තමයි මූලික වශයෙන් හඳුන ගත්තෙ. එහෙනම් අපි ළඟ තියෙන්නෙ මොනවද? ඔය කියන රූප ස්කන්ධය, වේදනා ස්කන්ධය, සංඥා ස්කන්ධය, සංඛාර ස්කන්ධය, විඤ්ඤාණ ස්කන්ධය කියන මේවා යම් තැනක ඇත්ද, ඒවාට ඇළුම් කරන කෙනාට කියනවා සත්ත්වයා කියල. බාහිර ලෝකයේ තියෙන ද්‍රව්‍ය වස්තු තමයි ඒවාට ආධාර වෙන්නෙ. ඒවා ඔක්කොම අරගෙන මම, මගේ, මගේ ආත්මය කියල ගත්ත මිත්‍යා දෘෂ්ටිය නිසා අප්‍රමාණ දුක් කන්දරාවෙන් මිදෙන්න බැරිව සසර ගමනක් යනවා. ඒක සාරයි, වටිනවා කියලම හිතනවා.

මෙන්න මේ ටික දැක්කට පස්සෙ පංචස්කන්ධ භාවනාව මොකක්ද කියල දකින්න ඕන. මේ පංචස්කන්ධ භාවනාවක් අරගන්නකොට දැන් වැදගත්ම කොටස තේරුම් ගත්තා. එයින් එහා සත්ත්වයෙක් නෑ. ඔය පංචස්කන්ධය ඉක්මවල ඉන්න කොටසක් ගැන කිසිම සත්ත්වයෙකුට කියන්න බෑ. පංචස්කන්ධයෙන් තොරව කිසිම සත්ත්වයෙක් ගැන කතා කරන්න විදිහක් නෑ. එහෙම කිසිම සත්ත්වයෙක් ලෝකයේ කිසිම තැනක විද්‍යමාන නෑ. යම් තැනක සත්ත්වයෙක් කියල විද්‍යමාන වුනාද, ඔය කියන පංචස්කන්ධය අනිවාර්යෙන් විද්‍යමාන වෙලා තියෙනවා. වෙන දේකින් විද්‍යමාන වෙලා නෑ. ස්කන්ධ ඔක්කොම පහකට විග්‍රහ කළා නම්, එහෙම නැත්නම් ගතයි හිතයි කියල, එහෙමත් නැත්නම් නාමයයි රූපයයි... ආදී වශයෙන් කිව්වෙ මේ සත්ත්වයා. සත්ත්වයා ඔය කියන්නා වූ ස්කන්ධ 5 කින් වෙන් කරල විග්‍රහ කරල තියෙනවා.
(ඉතිරි කොටස ලබන කලාපයෙන්)

*පූජ්‍යපාද වහරක අභයරතනාලංකාර මහ තෙරුන් වහන්සේ විසින් යළි මතු කළ සැඟවුනු දහම් කරුණු ඇසුරෙන් සකස් කළේ:*

**නීතිඥ චන්දන සිරිවර්ධන**

# නිවන් ලැබ දෙන කමටහන්...

04 කොටස



ලෝකයේ ස්වභාවය අනිච්ච, දුක්ඛ, අනත්ත වශයෙන්, අසාර වශයෙන් දහම් ශ්‍රවණය කරල තේරුම් ගත්තට පස්සෙ, එතනින් එහාට ගිහින් සසර ගමන කෙළවර කර ගන්න නම් භාවනාය පහාතබ්බ හෙවත් භාවනාවෙන් පහ කළ යුතු කොටසට යන්න ඕන. ඒ සඳහා තමයි කර්මස්ථාන වඩන්න අවශ්‍ය වෙන්නෙ. ඒ කර්මස්ථාන වඩනකොට කෙළෙස් ප්‍රහීණ වෙනවට අමතරව, ඒ ඒ පින්වතුන්ගේ සසර පුරුදු අනුව, හේතු වාසනා අනුව දැහැන්, සමාධි ආදියත් වැඩෙන්න පුළුවන්. ඒ සඳහා වෙනම උත්සාහ කළ යුතු නෑ. හේතු තියේ නම් ලැබෙනවා. ඒ වගේම මේ බොහෝ කමටහන් සියලු සත්ත්වයන්ම මුල් කරගෙන තියෙන නිසා නිවන් මග වැඩීමට අමතරව බාහිර පරිසරය සුද්ධ වෙලා පසුතලය හදන්නත් උපනිශ්‍රය වෙනවා. මේ කමටහන් සතර ඉරියව්වෙන්ම වඩන්න පුළුවන්.

පසුගිය කලාපයෙන් ලෝකයේ ස්වභාවය අනිච්ච, දුක්ඛ, අනත්ත වශයෙන් විග්‍රහ කළා. ඒ විග්‍රහයෙන් පසු වහරක අභයරතනාලංකාර මහ තෙරුන් වහන්සේට විවිධ අවස්ථාවල සමාධියෙන් නැගුනු කමටහන් කිහිපයක් තමයි පින්වතුන්ගේ යහපත පිණිස මේ සටහන් කරන්නෙ. මේ කර්මස්ථාන අතරින් තම තමන්ට වැඩිපුර ගෝචර වෙන කර්මස්ථාන වැඩි වැඩියෙන් වඩල නිවන් සාක්ෂාත් කර ගන්න අදිටන් කරගන්න.

23. සම්මා තිසරණ සරණයි
හට ගත් සියල්ල
අනිච්චයි දුක්ඛයි අනත්තයි
අතහැරීම නාථයි
අතහැරීම වෙත්වා
නොඇල්ම නාථයි
නොඇල්ම වෙත්වා
මිදීම නාථයි - මිදීම වෙත්වා
නිවනම නාථයි - නිවනම වෙත්වා

24. හට ගත් සියල්ල
අනිච්චයි දුක්ඛයි අනත්තයි
මමද සියලු ලෝක
සියලු සත්ත්වයෝ
අතහැරීම නාථයි
අතහැරීම වෙත්වා
නොඇල්ම නාථයි
නොඇල්ම වෙත්වා
මිදීම නාථයි - මිදීම වෙත්වා
නිවනම නාථයි - නිවනම වෙත්වා

25. පංච කාමයෝ
අනිච්චයි දුක්ඛයි අනත්තයි
තුච්චයි නින්දිතයි දාහ සහගතයි
අතහැරීම නාථයි
නොඇල්ම නාථයි
මිදීම නාථයි
නිවනම නාථයි
අතහැරීම වෙත්වා
නොඇල්ම වෙත්වා
මිදීම වෙත්වා
නිවනම වෙත්වා
**(රාගය ප්‍රහීන කිරීමට වැදගත් කමටහනකි.)**

26. පංච කාමයෝ
අනිච්චයි දුක්ඛයි අනත්තයි
නිස්සාරයි
පංච කාමයෝ
තුච්චයි නින්දිතයි ළාමකයි
දාහ සහගතයි
පංච කාමයෝ අනාථයි ///
අතහැරීම නාථයි
අතහැරීම වෙත්වා
නොඇල්ම නාථයි
නොඇල්ම වෙත්වා
මිදීම නාථයි - මිදීම වෙත්වා
නිවනම නාථයි - නිවනම වෙත්වා
**(කාම රාග පටිඝ ප්‍රහීණ කිරීමට)**

27. පංච කාමයෝ
අනිච්චයි දුක්ඛයි අනත්තයි
තුච්චයි නින්දිතයි ළාමකයි
දාහ සහගතයි
අතහැරීම නාථයි
අතහැරීම වෙත්වා
නොඇල්ම නාථයි
නොඇල්ම වෙත්වා
මිදීම නාථයි - මිදීම වෙත්වා
නිවනම නාථයි - නිවනම වෙත්වා
**(කාම රාග පටිඝ ප්‍රහීණ කිරීමට)**

28. පංච කාමයෝ
තුච්චයි නින්දිතයි ළාමකයි
දාහ සහගතයි
අනිච්චයි දුක්ඛයි අනත්තයි
නිස්සාරයි
අතහැරීම නාථයි
අතහැරීම වෙත්වා
නොඇල්ම නාථයි
නොඇල්ම වෙත්වා
මිදීම නාථයි - මිදීම වෙත්වා
නිවනම නාථයි - නිවනම වෙත්වා
**(කාම රාග පටිඝ ප්‍රහීණ කිරීමට)**

29. රාග බන්ධන රාග ධර්මයෝ
අනිච්චයි දුක්ඛයි අනත්තයි
නිස්සාරයි
අතහැරීම නාථයි
අතහැරීම වෙත්වා
නොඇල්ම නාථයි
නොඇල්ම වෙත්වා
මිදීම නාථයි - මිදීම වෙත්වා
නිවනම නාථයි - නිවනම වෙත්වා

ද්වේශ බන්ධන ද්වේශ ධර්මයෝ
අනිච්චයි දුක්ඛයි අනත්තයි
නිස්සාරයි
අතහැරීම නාථයි
අතහැරීම වෙත්වා
නොඇල්ම නාථයි
නොඇල්ම වෙත්වා
මිදීම නාථයි - මිදීම වෙත්වා
නිවනම නාථයි - නිවනම වෙත්වා

මෝහ බන්ධන මෝහ ධර්මයෝ
අනිච්චයි දුක්ඛයි අනත්තයි
නිස්සාරයි
අතහැරීම නාථයි
අතහැරීම වෙත්වා
නොඇල්ම නාථයි
නොඇල්ම වෙත්වා
මිදීම නාථයි - මිදීම වෙත්වා
නිවනම නාථයි - නිවනම වෙත්වා

මාර බන්ධන මාර ධර්මයෝ
අනිච්චයි දුක්ඛයි අනත්තයි
නිස්සාරයි
අතහැරීම නාථයි
අතහැරීම වෙත්වා
නොඇල්ම නාථයි
නොඇල්ම වෙත්වා
මිදීම නාථයි - මිදීම වෙත්වා
නිවනම නාථයි - නිවනම වෙත්වා

30. මේ දෙතිස් කුණපය
අනිච්චයි දුක්ඛයි අනත්තයි
මේ දෙතිස් කුණපයෝ
අනිච්චයි දුක්ඛයි අනත්තයි
අතහැරීම නාථයි
නොඇල්ම නාථයි
මිදීම නාථයි
නිවනම නාථයි
සියල්ලෝ දෙතිස් කුණප ඇසුරෙන්
අතහැරෙත්වා නොඇලෙත්වා
මිදෙත්වා
නිබ්බාන පරම සුඛයෙන්
සුඛිතතර වෙත්වා
**(මනෝමය සෘද්ධිය සඳහා සුදුසු කමටහනකි.)**

31. රූප ස්කන්ධයෝ
අනිච්චයි දුක්ඛයි අනත්තයි
නිස්සාරයි
අතහැරීම නාථයි
අතහැරීම වෙත්වා
නොඇල්ම නාථයි
නොඇල්ම වෙත්වා
මිදීම නාථයි - මිදීම වෙත්වා
නිවනම නාථයි - නිවනම වෙත්වා

වේදනා ස්කන්ධයෝ...
සංඥා ස්කන්ධයෝ...
සංඛාර ස්කන්ධයෝ...
විඤ්ඤාණ ස්කන්ධයෝ...
**(පෙර සේ විස්තර කරගන්න)**

32. ලෞකිකත්වයට බැඳීමේ
සියලු පාප අවස්ථා
අනිච්චයි දුක්ඛයි අනත්තයි
නිස්සාරයි
අතහැරීම නාථයි
අතහැරීම වෙත්වා
නොඇල්ම නාථයි
නොඇල්ම වෙත්වා
මිදීම නාථයි - මිදීම වෙත්වා
නිවනම නාථයි - නිවනම වෙත්වා
**(ගිහි පින්වතුන්ට විශේෂයි.)**

33. සසර පැවැත්මට හේතු වන
සියලු පාප අවස්ථා
අනිච්චයි දුක්ඛයි අනත්තයි
නිස්සාරයි
අතහැරීම නාථයි
අතහැරීම වෙත්වා
නොඇල්ම නාථයි
නොඇල්ම වෙත්වා
මිදීම නාථයි - මිදීම වෙත්වා
නිවනම නාථයි - නිවනම වෙත්වා
**(ගිහි පින්වතුන්ට විශේෂයි.)**

34. ලෞකිකත්වයට බැඳීමේ
සියලු අවස්ථා
අනිච්චයි දුක්ඛයි අනත්තයි
නිස්සාරයි
අතහැරීම නාථයි
අතහැරීම වෙත්වා
නොඇල්ම නාථයි
නොඇල්ම වෙත්වා
මිදීම නාථයි - මිදීම වෙත්වා
නිවනම නාථයි - නිවනම වෙත්වා
**(පැවිදි උතුමන්ට විශේෂයි.)**

35. පැවැත්මේ සියලු අවස්ථා
අනිච්චයි දුක්ඛයි අනත්තයි
නිස්සාරයි
අතහැරීම නාථයි
අතහැරීම වෙත්වා
නොඇල්ම නාථයි
නොඇල්ම වෙත්වා
මිදීම නාථයි - මිදීම වෙත්වා
නිවනම නාථයි - නිවනම වෙත්වා
**(පැවිදි උතුමන්ට විශේෂයි.)**

36. සසර පැවැත්මට හේතුවන සියලු
අවස්ථා
අනිච්චයි දුක්ඛයි අනත්තයි
නිස්සාරයි
අතහැරීම නාථයි
අතහැරීම වෙත්වා
නොඇල්ම නාථයි
නොඇල්ම වෙත්වා
මිදීම නාථයි - මිදීම වෙත්වා
නිවනම නාථයි - නිවනම වෙත්වා
**(පැවිදි උතුමන්ට විශේෂයි.)**

37. අවිජ්ජා සහගත පංචස්කන්ධයෝ
තුච්චයි නින්දිතයි ළාමකයි දාහ
සහගතයි
අනිච්චයි දුක්ඛයි අනත්තයි
නිස්සාරයි
අතහැරීම නාථයි
අතහැරීම වෙත්වා
නොඇල්ම නාථයි
නොඇල්ම වෙත්වා
මිදීම නාථයි - මිදීම වෙත්වා
නිවනම නාථයි - නිවනම වෙත්වා
**(පැවිදි උතුමන්ට විශේෂයි.)**

38. මමද සියලු ලෝක සියලු
සත්ත්වයෝ
අනිච්චයි දුක්ඛයි අනත්තයි
අතහැරීම නාථයි
නොඇල්ම නාථයි
මිදීම නාථයි
නිවනම නාථයි

39. සියලු සංඛාර සියලු සංඛත
අනිච්චයි දුක්ඛයි අනත්තයි
සියලු සත්ත්වයෝ
සියලු සංඛාර සියලු සංඛත
අතහරිත්වා
නොඇලෙත්වා
මිදෙත්වා
නිවන් දකිත්වා
**(සක්මනට ප්‍රබල කමටහනකි.)**

40. සම්මා තිසරණ සරණයි
සියලු ලෝක සියලු සත්ත්වයෝ
අනිච්චයි දුක්ඛයි අනත්තයි
අතහැරීම නාථයි
නොඇල්ම නාථයි
මිදීම නාථයි
නිවනම නාථයි
**(සක්මනට ඉතා යෝග්‍යයි)**

**සටහන**
**නීතිඥ චන්දන සිරිවර්ධන**

# පෙළ දහමේ සැඟවුණු තැන් සොයා...



16 වන කොටස

**සංයුක්ත නිකාය - 5-2**

**මොග්ගල්ලාන සූත්‍රය - 27 පිටුව**

මුගලන් මහ රහතන් වහන්සේ මිගාර මාතු ප්‍රාසාදය සිය ඍද්ධි බලයෙන් පයේ මහපටගිල්ලෙන් කම්පිත කළ අයුරු සඳහන් වේ.

**බ්‍රාහ්මණ සූත්‍රය - 31 පිටුව**

තෘෂ්ණා ඡන්දය පහකිරීමට ඡන්ද, චිත්ත, විරිය, විමංසා යන සතර සම්‍යක් ප්‍රධාන වැඩිය යුතු බව ආනන්ද හිමියන් දෙසූ විට, ඡන්දයෙන් ඡන්දය පහ කිරීම පිළිගත නොහැකි යැයි බමුණෙක් කිය. ඒ පිළිබඳ විස්තරය ඇත.

**විභංග සූත්‍රය - 39 පිටුව**

භික්ෂුව ආලෝක සංඥාව වඩන අයුරු පෙන්වා ඇත.

**අයෝගුල සූත්‍රය - 47 පිටුව**

බුදුන් වහන්සේ සතර මහා භූතික මේ කයෙන් බඹ ලොවට ඍද්ධියෙන් වඩින බව පෙන්වයි.

**සුතනු සූත්‍රය - 69 පිටුව**

අනුරුද්ධ තෙරුන් වහන්සේ සතර සතිපට්ඨානය වැඩූ බැවින්, බහුල කළ බැවින් මහා අභිඥ බවට පත් වූ බව පෙන්වයි. හීන දහම් හීන දහම් ලෙසත්, මධ්‍යම දහම් මධ්‍යම දහම් ලෙසත්, ප්‍රණීත දහම් ප්‍රණීත දහම් ලෙසත් දකින බව පෙන්වයි.

**සල්ලාගාර සූත්‍රය - 73 පිටුව**

සිවු සීවටන් (සතර සතිපට්ඨානය) වැඩූ භික්ෂුවක් නැවත ගිහි බවට නොපෙරලෙන බව පෙන්වයි.

**ඉද්ධිවිධ සූත්‍රය - 79 පිටුව**

සතර සතිපට්ඨානය වැඩූ බැවින්, බහුල කළ බැවින් මහා ඍද්ධි ලැබූ බව පෙන්වයි.

**දීප සූත්‍රය - 99 පිටුව**

බුදු පියාණන් වහන්සේ පෙර බෝසත් කාලයේ ආනාපාන සතිය බහුල ලෙස වැඩූ බව සඳහන් වේ. මෙහිම, නව අනුපූර්ව සමාපත්ති සහ සියලු වේදනා නිරෝධයට ආනාපාන සතිය ශ්‍රේෂ්ඨ බව පෙන්වා ඇත.

**කිම්බිල සූත්‍රය - 107 පිටුව**

ආනාපාන සති භාවනාවෙන් සතර සතිපට්ඨානය වැඩෙන අයුරුද, මුළා සිහි ඇති අයට ආනාපාන සතියක් නොදෙසන බවද පෙන්වයි.

**ඉච්ඡානංගල සූත්‍රය - 113 පිටුව**

ආනාපාන සතියට අරිය විහාරය, බ්‍රහ්ම විහාරය, තථාගත විහාරය යැයි කියන බවත්, එම ආනාපාන සතියෙන් සේඛ භික්ෂුවට මග වැඩෙන බවත්, අරිහත්වයට පත් වූ අයට (අසේඛ) සුඛ විහරණය ලබාදෙන බවත් පෙන්වා ඇත.

**කංඛෙයිය සූත්‍රය - 115 පිටුව**

අරිහත්වයට නොපත් භික්ෂුව පංච නීවරණ දුරු කර අරිහත්වය පතා ආනාපාන සතිය වඩන බවත්, අරිහතුන් වහන්සේ පංච නීවරණ සහමුලින් දුරු කර ඇති බැවින් ඉහාත්ම සුඛ විහරණය සහ සිහි නුවණ සඳහා වඩන බවත් පෙන්වයි.

**ආනන්ද සූත්‍රය - 119 පිටුව**

එක් දහමක් වඩන ලද්දේ සිවු දහමක් පුරවයි. සිවු දහමක් වඩන ලද්දේ සත් දහමක් පුරවයි. සත් දහමක් වඩන ලද්දේ දෙදහමක් පුරවයි. ඒ එකම දහම නම් ආනාපාන සතියයි. විස්තර ඇත.

**රාජ සූත්‍රය - 139 පිටුව**

සතර අපායෙන් සෝතාපන්න අය මිදී ඇති බව පෙන්වයි. (අපාය 3 ක් පනවන අයට එය නොගැලපෙන බවට සාක්ෂියකි.)

**දුතිය සාරිපුත්ත සූත්‍රය - 147 පිටුව**

සතර සෝතාපත්ති අංග පෙන්වා ඇත. අරි අටඟි මගට සෝත යැයි කියන බවත්, ඒ මගට පත් වූයේ සෝතාපන්න බවත් පෙන්වා ඇත.

**ගිඤ්ජකාවසථ සූත්‍රය - 161 පිටුව**

**කෙනෙක් කළුරිය කළ විට නැවත උප්පතිය කෙබඳුද ආදී විස්තර බුදුන් වහන්සේගෙන් ඇසීම උන්වහන්සේට වෙහෙසක් බවත්, සෝතාපන්න නම් සිවු දහමක් තුළින් තිර ලෙස දැනගත හැකි බවත්, මෙයට දහම් කැඩපත යැයි කියන බවත් පෙන්වා ඇත.**

**සරකානි සූත්‍රය - 191 පිටුව**

සතර අපාගත නොවන අය ගැන සඳහන් වේ. තථාගතයන් වහන්සේ කෙරෙහි ශ්‍රද්ධා මාත්‍රයක් ප්‍රේම මාත්‍රයක් ඇති කෙනෙක් අපාගත නොවන බවද පෙන්වා ඇත.

**අනාථපිණ්ඩික සූත්‍රය - 201 පිටුව**

සෝතාපන්න කෙනෙකුගේ දස හංගය ඇති බව පෙන්වා ඇත.

**නන්දක සූත්‍රය - 215 පිටුව**

භාග්‍යවතුන් වහන්සේ කෙරෙහි

පැහැදීම ආර්ය විනයේ ඇතුලත නැම ලෙස සැළකෙන බව පෙන්වා ඇත.

**නන්දිය සූත්‍රය - 229 පිටුව**

සතර සෝතාපන්න අංග සියල්ලෙන් සියල්ල සහමුලින් නැත්ද ඔහු පුහුදුන් කෙනෙකි. ආර්ය ශ්‍රාවකයාගේ පමා විහරණය දක්වා ඇත. එනම්, බුදුන් කෙරෙහි අචල ප්‍රසාදය ඔහුට ඇතත් දහවල් කාය විවේක, චිත්ත විවේක පිළිබඳවත්, රාත්‍රී සමවත් සුව පිළිබඳවත් සම වැදීමක් නැත්නම් මෙය ප්‍රමාද විහරණයයි. විස්තර ඇත. අප්‍රමාදීව බුදුන්, දහම්, සඟුන් සහ අරියකාන්ත සීලයෙහි ප්‍රවිවේකයත්, සමවත් සුවයත් ලබන අරිය ශ්‍රාවක හට සමාධි, ප්‍රඥා වැඩෙන බව පෙන්වා ඇත.

**ගිලාන සූත්‍රය - 247 පිටුව**

සෝවාන් අංග 4 ආස්වාස 4 ක් ලෙස පෙන්වා ඇත. මරණාසන්න කෙනෙකු සසරින් මුදවන අනුපූර්ව ක්‍රමයක් ඇත. විමුක්තියට හිත තැබූ ඔහු සහ සියවසක් මුළුල්ලෙහි මිදුනු සිත් ඇති භික්ෂූන් වහන්සේගේ විමුක්තියත් අතර වෙනසක් නැති බවද පෙන්වා ඇත.

253 පිටුවේ පටන් ඇති ඵල, දුතිය ඵල, තතිය ඵල, චතුත්ථ ඵල, පටිලාභ වුඩ්ඪි, වේපුල්ල යන සූත්‍රවල සත් පුරුෂ සේවනය, සද්ධර්ම ශ්‍රවණය, යෝනිසෝ මනසිකාරය, ධර්මානුධර්ම පිළිවෙත යන හතර සිවු ඵලයන්ට සහ නුවණට, නුවණේ වැඩීමට, විපුල බවට හේතු වන අයුරු පෙන්වා ඇත.

**සමාධි සූත්‍රය - 261 පිටුව**

සමාධිය වඩන්න උපදෙස් දී ඇත. වැඩූ සමාධියට චතුරාර්ය සත්‍යය දකින නුවණ ලැබෙන බවද පෙන්වා ඇත.

**විග්ගාහික කථා සූත්‍රය - 267 පිටුව**

**ධර්ම කරුණු පිළිබඳව උද්දාමව වාද නොකරන ලෙසත්, චතුරාර්ය සත්‍යය ගැන කතා වැඩ සහිත බවත් පෙන්වයි. (වර්තමානයේ ධර්මය සම්බන්ධයෙන් උද්දාමයෙන් වාද විවාද කරගන්නා අයට මේ බුද්ධ දේශනාව කියවා තේරුම් ගැනීම වටී.)**

**තිරච්ඡාන කථා සූත්‍රය - 269 පිටුව**

**දෙතිස් කතා පෙන්වා ඒවා කතා නොකරන ලෙසත්, චතුරාර්ය සත්‍යය ගැන කතා වැඩදායක බවත් පෙන්වයි. (මේ දේශනාවත් වර්තමානයේ ධර්මයට මුවාවෙන් ධර්මයට නොගැලපෙන වාද විවාද, අපහාස උපහාස කර ගන්නා අයට වටිනා මග පෙන්වීමකි.)**

**අවිජ්ජා සූත්‍රය - 283 පිටුව**

චතුරාර්ය සත්‍යය නොදැනීම අවිද්‍යාව ලෙස පෙන්වා ඇත.

**සංකාසන සූත්‍රය - 285 පිටුව**

**චතුරාර්ය සත්‍යය පෙන්වන විට අකුරු - ව්‍යංජන - බෙදීම් අප්‍රමාණ බව පෙන්වා ඇත. (වර්තමානයේ නිවන් අරහයා සදහම් දේශනා කරන භික්ෂූන් වහන්සේලා විවිධ උදාහරණ උපමා, බෙදීම්, නිරුක්ති... ආදිය අරගෙන සාමාන්‍ය ජනතාවට තේරුම් ගන්න පුළුවන් විදිහට දහම විග්‍රහ කරනකොට, උන්වහන්සේලාට ධර්මය විකෘති කරනවා යැයි අවලාද නගමින්, පහත් අන්දමින් කතා කරමින් සාසනයෙන් පන්නා දැමිය යුතු බවට තර්ජන ගර්ජන කරන උදවියට දහමේ සඳහන් මෙවැනි කාරණා ඇස නොගැටීම විමතියට කරුණකි.)**

**ගවම්පති සූත්‍රය - 293 පිටුව**

චතුරාර්ය සත්‍යයෙන් එක් සත්‍යයක් දුටු විට ඉතිරි තුනම දකින බව පෙන්වා ඇත.

**සිංසපා සූත්‍රය - 295 පිටුව**

බුදුන් වහන්සේ ඇට්ටේරිය වනයකදී කොළ ටිකක් අතින් ගෙන, දෙසූ දහම් එපමණ බවත්, නොදෙසූ දහම් කැලේ කොළ තරම් බවත් පෙන්වා, එසේ නොදෙසුවේ විමුක්තියට අනවශ්‍ය බැවින් බවත් පෙන්වා ඇත.

**දණ්ඩ සූත්‍රය - 297 පිටුව**

අවිද්‍යා නීවරණ සහිත තෘෂ්ණා සංයෝජන සහිත සත්ත්වයෝ වරෙක මෙලොවින් පරලොවටත් වරෙක පරලොවින් මෙලොවටත් එන බව පෙන්වා ඇත.

**සත්තිසත සූත්‍රය - 299 පිටුව**

උදේ, දවල්, සවස යහුල් පහරවල් 300 කින් පහර කන මිනිසෙක් නොමැරී සියවසක් හිඳ අවසානයේ චතුරාර්ය සත්‍යය අවබෝධ කරන්නේ නම් එයද පිළිගත යුතුය. මෙය එහි වටිනාකම පෙන්වන උපමාවකි. එහෙත් සුවසේම අවබෝධ කරගත හැකිය.

**චින්තා සූත්‍රය - 307 පිටුව**

**සුමාගාවා නම් පොකුණු තෙර සිටි කෙනෙක්, නෙළුම් දැලි තුලින් සිව් රඟ සේනාවක් බසිනු දැක, තමාට පිස්සු යැයි සිතුනු බවත්, අන් අයද තමාට පිස්සු බව අනුමත කළ බවත් පැවසූහ. නමුත් එය ලොව සිදුවිය හැකි දෙයක් බවත්, අසුර සේනාවක් බැසීමෙන් වූ බවත් බුදුන් වහන්සේ පෙන්වා ඇත. මනසට පෙනෙන දේවල් ඔල්මාද බවම කියමින්, එවැනි අය මනෝ වෛද්‍යවරු වෙත, පිස්සන් කොටුවට යොමු කළ යුතු යැයි කියමින් සමච්චල් කරන මෙකල උදවියට මෙය කදිම පිළිතුරකි.**

**ඛුද්දක නිකාය - සුත්ත නිපාතය**

**කසීභාරද්වාජ සූත්‍රය - 23 පිටුව**

**බුදු පියාණන් වහන්සේට දුන් දානය තථාගත ශ්‍රාවකයෙකුට හැර අනිකෙකුට නොදිරවන බැවින් නොදෙන ලෙස දෙසා ඇත. මෙය වර්තමානයේ බුද්ධ පූජාවටද ඒ ආකාරයෙන්ම අදාළ වන බව නැණ නුවණින් තේරුම් ගත යුතුය.**

**ආමගන්ධ සූත්‍රය - 75 පිටුව**

මස් මාළු නොව දස අකුසල් ආමගන්ධය බව පෙන්වා ඇත.

**කිංසීල සූත්‍රය - 97 පිටුව**

ආර්ය භාවයට පත් කරන ධර්මයෙහි හිතින්, කයින්, වචනයෙන් කටයුතු කරන අය අනුත්තර වන බව පෙන්වයි.

දුක පිළිබඳ දෙසූ දහම් සටහන්

**දුක්ඛ ලක්ඛණ සූත්‍රය - සං. නි. 2 - 271 පිටුව**

ධාතු 4 ගැන කලකිරෙන්න හේතු පෙන්වයි. මේවා දුක්ද, දුකෙන් යුක්තද, දුකෙහි පිවිස ගත්තීද, සුවයෙහි නොපිවිස ගත්තිද, එහෙයින් සත්ත්වයෝ සතර ධාතුවෙහි නොබැඳෙති.

**දුක්ඛ සූත්‍රය - සං. නි. 3 - 39 පිටුව**

පංචස්කන්ධය දුක් බව පැහැදිලිව පෙන්වා ඇත. මහණෙනි, රූපය දුක්ය, වේදනාව දුක්ය, සංඥාව දුක්ය, සංඛාර දුක්ය, විඤ්ඤාණ දුක්ය. 133 පිටුවේ එහි ඡන්දය පහකළ යුතු බවත් පෙන්වා ඇත.

**අජ්ඣත්ත / බාහිර දුක්ඛ සූත්‍ර - සං. නි. 4 - 5, 9 පිටු**

ඇස, කන, නාසය, දිව, කය, මන, රූප, ශබ්ද, ගන්ධ, රස, ස්පර්ශ, ධර්ම දුක් බව පෙන්වා ඇත.

**දුතිය අජ්ඣත්ත දුක්ඛ / බාහිරානිච්ච සූත්‍ර - සං. නි. 4 - 11, 13 පිටු**

අතීත, අනාගත, වර්තමාන ඇස, කන, නාසය, දිව, කය, මන, රූප, ශබ්ද, ගන්ධ, රස, ස්පර්ශ, ධර්ම දුක් බව පෙන්වා ඇත.

*පූජ්‍යපාද වෑරක අභයරතනාලංකාර මහ තෙරුන් වහන්සේ විසින් දින පොතක සටහන් තබන ලද කරුණු ඇසුරිනි.*

**සටහන**
**නීතිඥ චන්දන සිරිවර්ධන**



# නිවන් මගේ පැටළුනු තැන්...

**08 කොටස**

නිවන් මාර්ගයේ ගමන් කරන කෙනෙකුට, පෙර සසර වඩල හුරු පුරුදු තියෙනව නම් සමථ භාවනා දැහැන් නිරායාසයෙන්ම නැගිල එනවා. ඒ විදිහට ධ්‍යාන ප්‍රතිඵල ලැබෙන, මේ කාලයේ භාවිතා වෙන විදිහට ආස්වාස ප්‍රස්වාස ආනාපාන සති භාවනාව වඩන ආකාරය වහරක අභයරතනාලංකාර මහ තෙරුන් වහන්සේ ගිහි කාලයේ පටන් ලැබූ අත්දැකීම් ඇසුරින් මීට සෑහෙන කාලයකට පෙර විස්තර කරල තිබුනෙ මේ විදිහට.

ඔබට ලෞකික ආනාපාන සති භාවනාව අනුව ලෞකික දැහැන් මගක් වඩන ආකාරයත්, දැහැන් ලබන ආකාරයත්, ප්‍රඥා විමුක්තව ආර්යන්ට වැඩෙන ආකාරයත් දැනගන්න අවශ්‍ය නම් මෙන්න ඒ ආනාපාන සති භාවනා ක්‍රමය. මේ සඳහා ඔබට සීල සුද්ධියක් අවශ්‍යයි. එහෙම නැතිව සික්ෂා පද සමාදන් වුනාට මදි. මොකද ඒක සිල් වතක් විතරක් නිසා. සීලය කිව්වෙ වරදේ, දුෂ්චරිතයේ හිත නොපිහිටන සංවර බව.

දේපළ, ඉඩකඩම්, ගේ දොර, යාන වාහන, හරක බාන... ආදී කාම සම්පත් කෙරෙහි ඡන්ද රාගයෙන් බැඳීම සහ ඒවා ගැන විපරම් කරන ගතිය, මිල මුදල් යනාදී කාම වස්තු පරිහරණය, තමන් වසඟයේ පවත්වන බලාපොරොත්තුව සමග බැඳුන හිත තියේ නම්, ඒවා තමන් වසඟයේ තියාගෙන පාලනය කරන හිත තියේ නම්, එබඳු තත්ත්වයක් යටතේ ඉඳගෙන කෙනෙක් මේ භාවනාව කළත් මූලාරම්භයවත් ලබන්න බෑ. ප්‍රධාන වශයෙන් අවශ්‍ය වෙන්නෙ භාවනාව සඳහා ගන්න උත්සාහය නෙවෙයි, මේ භෞතික ලෝකයේ හිමිකම් කෙරෙහි ඡන්ද රාගයෙන් බැඳුන හිත ඉවත් කර ගැනීම.

ලැබුනොත් ලැබුන විදිහට **පරිහරණය කරන නිහතමානී වූ, වචනයකින්වත් ඉඟියකින්වත් අනුන්ට රිදවන බලාපොරොත්තු නැත්නම් මේ භාවනාව සඳහා ඒ සිත් පිරිසිදුයි. තමන්ට හිංගි හිංසා කළත් විරුද්ධකරුවන්ට වචනයකින් හෝ පෙර ඉඟියකින් හෝ හිංසා කටයුත්තක් නොකර මැදහත් වෙන්න ඔබට පුළුවන් නම් විතරක් මේ භාවනාව ආරම්භ කරන්න.** ඒකෙන් දැහැන් එල ලබන්න හේතු වාසනා ලැබෙනවා. සද්ධර්මය ශ්‍රවණය කළ පින්වතුන්ට මේ තුලින් ප්‍රඥා විමුක්තව මග එල ලබන්නත් පුළුවන්. ඔබ නොදැන හිටියත් සෝතාපන්න වෙලා නම්, මේ ක්‍රමවේදය එතනින් එහා තියෙන ඉහල මග එල සඳහා ඉතා යහපත්. එහෙනම් පළමුව ආරම්භ කරන්නෙ කොහොමද?

නිදහසේ විවේකී රාත්‍රියක නම් වඩා හොඳයි. අන්‍යයන්ගේ අවධානය වැටෙන්නෙ නැති තැනකට ගිහින් එරමිණිය ගොතාගෙන හෝ ඉතා පහසු විදිහට ශරීරය සමබරව හිටින ආකාරයට වාඩිවෙන්න. දෑත එක උඩ එක වමත් අල්ල උඩ දකුණු අතේ පිට අල්ල හිටින විදිහට තියාගෙන භාවනා ඉරියව්වෙන් සිටීම වඩා හොඳයි. දැන් මෙහෙම හිතන්න.

**දාහයෙන් ගිනි ගත්ත ලෝකයේ මහ ගැටුම් තුල ඉන්නවට වඩා සාමාන්‍ය පැවැත්මක දිවි ගෙවීම හොඳයි. සාමාන්‍ය පැවැත්මක දිවි ගෙවනවට වඩා නිදහස් විවේකය හොඳයි. නිදහස් විවේකයට වඩා හුදෙකලා විවේකය හොඳයි. හුදෙකලා විවේකයට වඩා හුදෙකලා පවිත්‍ර හිතින් ගතින් යුතුව ලබන විවේකය හොඳයි.** මම සීලවන්තයි. මම සුචරිතයි. මට දාහ නෑ. පිරිසිදුයි. පිවිතුරුයි (පවිත්‍රයි). මම කෙනෙකුට, සතෙකුට, කිසිවෙකුට දාහය දෙන්නෙ නෑ. මම පවිත්‍රයි, පවිත්‍රයි.

මේ විදිහට කිහිප වරක් සිහි කරන්න. දැන් කලබල නැතිව විවේකයට පත් වෙමි කියන හැඟීම අරගෙන නිදහස් සුවය නිදහස් සුවය කියන අදහස ඇතිව, තමන් ගැනම පවිත්‍ර හිතින් බලන ගමන් නාසය අගට හිත යොමු කරල, ඇස් පියාගෙන නාසය අතරින් යන එන සුළඟ දිහාවට හිතින් අවධානය යොමු කරන්න.

වේගයෙන් හුස්ම ගන්නෙ නැතිව, වේගයෙන් හුස්ම අරින්නෙ නැතිව, ස්වභාවයෙන් යන එන

හුස්ම වායුවට හිත යොමු කරන්න. දෙතුන් වතාවක් යොමු කරල හුස්ම පස්සෙ දුවන්නෙ නැතිව වායුව යන එන හැටි බලාගෙන නිහඬව තමන් ඉන්නෙ කෙබඳු තැනකද කියල හොඳින් හිතාගන්න. ආසනය ගැන, කුටිය හෝ කාමරය ගැන හෝ හොඳින් හිතාගන්න. ඔරලෝසුවක් වගේ හෙමින් අනුකරණ නාදය පවත්වන, නිතර පවතින හඬක් ගැන, ඒ හඬ තමන්ගෙන් කුමන පැත්තක කොච්චර දුරකින් නැගෙනවද කියල හිතේ සනිටුහන් කරගන්න. ඊට පස්සෙ තමන් වාඩිවෙලා ඉන්න ඉරියව්ව ගැන හිතන්න. හුදෙකලා විවේකී පවිත්‍ර නිදොස් දිවියක විවේකී අවස්ථාවක් කියන සිතිවිල්ල ඇති කරගන්න.

දැන් නැවතත් ඒ මෙනෙහි කරගත්ත ස්වභාවයන් පසුපස හිත යවන්නෙ නැතිව, නාසයෙන් ඇතුල් වන පිටවන සුළඟ නාස් පුඩු ළඟ හිතෙන් බලමින් ඒ වායු ස්වභාවය මෙනෙහි කරන්න. හැම මොහොතකම පවිත්‍ර ප්‍රබෝධ ගතියට හිත තියමින් ඒ වායු සංසරණය දිහා හිතින් බලන්න. හදවතේ පවිත්‍ර ප්‍රබෝධ ස්වභාවය ඔබේ මුහුණ ඇසුරු කරගෙන පිහිටන නිසා මුහුණේ පවිත්‍ර ආලෝක ස්වභාවයක් විටින් විට දිස් වේවි. වායු සංසරණ ස්වභාවය හිතින් ස්පර්ශ කරන්න. ආශ්වාස ප්‍රාශ්වාස කියල මෙනෙහි කරන්නෙ නැතිව, ඒ නිසා දැනෙන වායු සංසරණ ස්වභාවයටත්, මුහුණේ පවිත්‍රත්වය සහිත සියුම් චිත්තාලෝක ස්වභාවය දෙසටත් හිත යොමු කරමින් නිසංසලව භාවනාව කරගෙන යන්න.

ඔබ හොඳ පවිත්‍ර ගතියක ඉන්නව නම්, ඒ අවස්ථාවෙම හෝ සුළු වෙලාවකින් හෝ ඔබට මුහුණේ සියුම් චිත්ත ප්‍රසාදාලෝක ගතිය සහ වායු සංසරණ ස්වභාවය ඇසුරින් විශේෂයක් ඇතිවෙනවා. එහෙම නොවුන නම් අධෛර්ය නොවී, වෙහෙසත් නොවී, ඊළඟ දවසෙත් පුළුවන් වෙලාවක් මේ විදිහටම ප්‍රගුණ කරන්න. කල් නොගිහින් යම් දවසක විශේෂත්වයක් දැනේවි. නිතරම සුචරිතව ඉන්න ගමන්, මම නිවැරදි සුචරිත වෙමි, මම පවිත්‍රයි, පිරිසිදුයි කියන හැඟීම නිතර හිතේ තියාගෙන සිහි කරමින් කටයුතු කතාබහ පවිත්‍ර කර ගනිමින්, හිත දූෂ්‍ය කරගන්නෙ නැතිව කල් යවන්න. මම පවිත්‍රයි, පිරිසිදුයි කියන හැඟීම වැඩෙනකොට භාවනා වෙලාවෙදි මුහුණ ආලෝකමත් වේවි. නාසය අසළ පවිත්‍ර වායු සංසරණයත් පෙනේවි. එතකොට වායු දර්ශනය සහ මුහුණේ ආලෝකය ක්‍රමයෙන් වැඩි වෙනවා. කායික මානසික ප්‍රබෝධය නැගිල එනවා.

නාසය ළඟ වායු සංසරණයත්, ආලෝකවන්ත බවත් පැහැදිලි වෙමින් ශරීරය පිළිබඳව ඉඳගෙන ඉන්න ආකාරයේ දැනීම අභිබවා ප්‍රබෝධයේ ආලෝකය ඔබට හොඳින් පෙනෙන්න ගන්නවා. ක්‍රමයෙන් වායු සංසරණයට වඩා පවිත්‍රව සෞම්‍යව සිසිල් ආලෝකයක් තමන් වෙත ඇති විදිහට දැනෙමින් මහත් සැහැල්ලුවක් දැනෙන්න ගන්නවා. මුහුණ හඳ වගේ බබලන සෞම්‍ය ආලෝකයක් විදිහට පේන්න ගන්නවා. ඒ ආලෝකයේ සුවයට ඔබේ හිත නිරායාසයෙන් ඇදිල යනවා.

වෙලාවකට සුළඟ සංසරණය අරමුණු වෙනවා. වෙලාවකට සුළං අරමුණ නොපෙනී මුහුණ ඇසුරු කරල තිබිච්ච පවිත්‍ර වූ ප්‍රබෝධ වූ සෞම්‍ය වූ ආලෝකය පේනවා. මේක හොඳට ප්‍රගුණ වුනාට පස්සෙ මුහුණෙ දිස්වුන පවිත්‍ර වූ මෘදු වූ සෞම්‍ය වූ ආලෝකයේ ශාන්ත බවට හිත තියල බලන්න හුරුවෙන්න ඕන. මේ විදිහට බලනකොට අධික පවිත්‍ර ප්‍රබෝධයක් ඇතිවෙලා මුළු ශරීරයම පවිත්‍ර වූ ඒ ආලෝක ධාරාවෙන් වැහිල යනවා. ශරීරය විනිවිඳ යමින් ඇතුල පිට ආලෝක ධාරාවක් වගේ දිස්වෙනවා. ශරීරය නොදැනී යනවා. ආසනය හෝ හිටපු ස්ථානය හෝ වටපිටාව හෝ කිසිවක් නොදැනී ආලෝක ධාරාවම පේන්න ගන්නවා. උඩ, යට, අවට කිසිම ද්‍රව්‍යයක්, වස්තුවක් හෝ කිසිම රූප සටහනක් නැති, ශරීර ප්‍රමාණයට තරමක් විසාල වූ ආලෝක ධාරාව තමන්ගෙ ශරීරය වෙනුවට වැටහෙනවා. වට රේඛා නැති ආලෝක පිඬක් වගේ වැටහෙනවා. සුදු වළාකුලකින් වැහිල තියෙන උදයේ පායන සූර්යාගේ වට රවුම් රේඛා නැති, නමුත් ආලෝක ගුලියක් වගේ පේන්නෙ යම් සේද, එබඳු වූ රේඛා නැති ආලෝක ගුලියක් වගේ දැනෙනවා. ශරීර ප්‍රමාණයට තරමක් දිගටියට පේන මානයක උඩ යට හෝ අවට කිසිවක් නැති පවිත්‍ර හිස් අවකාශයක් මධ්‍යයේ තමන් අගපසඟ හෝ කය නැති ආලෝක පිඬක් වගේ වැටහෙන්න වෙනවා. "මම" කියන සංඥාවෙන් හැඟීම් ඉවත් වෙලා "පවිත්‍රත්වයේ ආලෝකය" කියන සංඥාවත් ඒ වෙනුවට වැටහෙනවා.

දැන් බියක් හෝ වේදනා රිදීම් ආදී කිසිවක් අහලකවත් නෑ. පවිත්‍රත්වයේ ආලෝක ජීවමානත්වය කියන සංඥාව ඔබට දැනේවි. නමුත් කල්පනාව අති පවිත්‍රයි. නිදහසේ හිතන්න පුළුවන්. කැමති වෙලාවක් ඉන්න පුළුවන්. කිසිවෙක් සමග සම්බන්ධයක් නැති, කිසිම සත්ත්ව පුද්ගල ද්‍රව්‍ය වස්තු නැති හුදෙකලා අභ්‍යවකාශයක තමන් විතරක් පවිත්‍ර ආලෝකයක් විදිහට ඉන්න හැටි වැටහෙනවා. ඔබ මේ තත්ත්වයට එනකොට දැහැන් තල 3 ක් පසු කරල සිවු වැනි දැහැනට සම වැදිල ඉන්න බව තේරුම් ගන්න. වායු අරමුණ ඉක්මවල මුහුණේ සෞම්‍ය ප්‍රභාලෝක ඇසුරේ හිටියේ ප්‍රථම ධ්‍යාන සමවත. ශරීරයේ පැතිරිලා ගිය ආලෝකය සමග හිටියේ ද්විතීය ධ්‍යාන සමවත. ශරීරය විනිවිඳ ගිය ප්‍රබෝධාලෝකය සහිත වුනේ තෘතීය ධ්‍යාන සමවත. ශරීරයක් නැතිව, කිසිම රූප සටහනක් නැතිව, අභ්‍යවකාශ මධ්‍යයක පවිත්‍රත්වයේ ආලෝක සංඥාවෙන් වැටහුනේ චතුර්ථ ධ්‍යාන සමවත.

මේ සමවතේ ඔබ රිසි නම් කැමති වෙලාවක් ඉන්න පුළුවන්. කාලය මෙනෙහි කළොත් පැය ගණනින් හිටපු සීමා කාලයක් තේරුම් ගන්න පුළුවන්. නමුත් දාහ ගිනි, වේදනා දැනෙන්නෙ නැති නිසා පවිත්‍රත්වයේ හැඟීමෙන් පිහිටල හිටියොත් වෙලාව ගිය බවක් දැනෙන්නෙත් නෑ. හිතාගත්ත කාලය ගෙවුනම කාලය ගෙවුන බව වැටහෙනවා. මේ තත්ත්වයට යන ඔබ නැවත ආපසු එන මගත් පුරුදු කරගත යුතුයි. ගිය ආකාරයටම ආපසු මෙනෙහි කරන්න පුරුදු වෙන්න. පූර්ණ ආලෝකය බවට පත් වුනේ ශරීරයේ විනිවිඳ ගිය අවස්ථාවකදි බව මතක් කරන්න. ඒ අවස්ථාව මෙනෙහි කරල ආපසු එනවා කියල හිතාගෙන ඒ ස්වභාවය සිද්ධ වෙච්ච ආකාරය මෙනෙහි කරන්න. එතකොට ඔබට තුන් වැනි දැහැන් ස්වභාවය මෙනෙහි වෙලා ඒකට ආපහු එන්න පුළුවන්. ඔබට ශරීර හැඩ ඇති ආලෝකය වැටහෙනවා.

ඊළඟට ඒ ශරීර හැඩය ස්පර්ශ වෙලා ආලෝකය තිබිච්ච හැටි මෙනෙහි කරනකොට ඒ තත්ත්වය වැටහෙනවා. බර නැති, වේදනා නැති ශරීර හැඩයත්, ගැවසිලා තියෙන ආලෝකයත් වැටහෙනවා. දැන් ඔබ ද්විතීය ධ්‍යාන තත්ත්වයට නැවත ඇවිත් ඉන්නෙ.

ඊළඟට ඒ ශරීර හැඩයේ හඳක් වගේ එළිය තිබිච්ච මුහුණු ඇසුරු කරපු ආලෝකය මෙනෙහි කරන්න. ශරීරයේ විසිරුනු ආලෝකය

නොපෙනී, රවුම් ස්වභාව තියෙන, වට දාර නැති, මුහුණු ඇසුරේ තිබිච්ච ආලෝක ගුලිය වැටහෙනවා. ඒ තමයි ප්‍රථම ධ්‍යාන ස්වභාවය.

දැන් ඒ ඇසුරේ මධ්‍යගතව තිබිච්ච වායු දර්ශනය මෙනෙහි කරන්න. උග්ගහ නිමිත්ත වැටහෙනවා. ඒ ඇසුරු කළ මුහුණේ ප්‍රබෝධය මෙනෙහි කරන්න. ආරම්භක වූ මම පවිත්‍රයි පිරිසිදුයි කියල ගත්ත අදහසත්, කය ඇසුරු කරන පවිත්‍ර සිතිවිල්ලත් වැටහෙනවා. කය හැඩ ගස්සවල තිබුන භාවනා ඉරියව්ව මෙනෙහි කරනකොට කායික හැඩය, ඉරියව්ව වැටහෙනවා. ආසනය මෙනෙහි කරනකොට හිටපු අසුන වැටහෙනවා. තවම අඟපසඟ ප්‍රබෝධ සහිත හිරි ස්වභාවයක තියෙන නිසා අඟපසඟ හරියට වැටහෙන්නෙ නෑ. ඒ නිසා වමත උඩ තියාගෙන හිටපු දකුණතට හිත තියල චලනය කරන්න ඔසවන්න උත්සාහ කරන්න. අත එසවෙනව දැනෙනකොට ඔබ පියවි ශරීරය ස්පර්ශයට එනකල් ආපසු ඇවිත් තියෙනවා. අවට පරිසරය, තමන් හිටපු කුටිය හෝ කාමරය මෙනෙහි කරනකොට ඒකෙ ආකාරය වැටහෙනවා. සියුම් හඬ නගපු ඔරලෝසු නාදය හෝ අවටින් මතකයට තියාගත්ත හඬ ආපු දිහාවට හෝ හිත යොමු කරල ඒ හඬ මෙනෙහි කරන්න. ඉතා නිවුන බවකින් ඒ හඬ සවනත ගැටිල පියවි දැනීම ලැබෙනවා. ඔබ මෙලොව ප්‍රකෘතියෙන් හිටිය විදිහටම දැන් ඉන්නවා. මම සුචරිතයි, පවිත්‍රයි, පිරිසිදුයි කියල 3 වතාවක් විතර සිහි කරල ඉරියව් වෙනස් කරගන්න. මේ විස්තර කළේ අත්දුටු නිසැක ලෞකික දැහැන් මගක්. ඒ ගැන සැක කරන්න එපා.

දැන් මේ ක්‍රමය ප්‍රගුණ කරපු ඔබට ඒ දැහැන ප්‍රගුණ කරපු කෙනෙකුගේ අත්දුටු අරූප දැහැන් සමවදින මග මේ විදිහට විස්තර කෙරෙනවා.

කලින් කියපු චතුර්ථ ධ්‍යානයට සම වැදිල ඒ තත්වය සිහි කරගන්න. “මම” කියන මිනිස් සංඥාව වෙනුවට “පවිත්‍රත්වයේ ජීවන ආලෝකයයි” කියන හැඟීමත්, ප්‍රභාස්වරත්වයත් වැටහෙනවා. ඉතා සියුම් පවිත්‍ර ආලෝකය විහිදීම, කොච්චර උඩ යට ඇතුළු හැම දිසාවටම යොමු කළත් හැම තැනම පේනවා. වටපිට බලන ඇසක් නෑ. හැම තැනම ඒකාකාරව පේනවා. කිසිම සත්ත්ව, පුද්ගල, ද්‍රව්‍ය, වස්තු මාත්‍රයකුත් ඒ අවකාශයේ නෑ. යම් තාක් බැලුවද ඒ තාක් විසාල වූ ද්‍රව්‍ය වස්තුවලින් තොර අහසක් හැම තැනම පේනවා. ප්‍රභාස්වරව අහස මධ්‍යයේ වගේ තිබිච්ච ආලෝක කදම්භය වෙනුවට අනන්තයක්ම, අනන්ත විසාලත්වයක්ම වැටහෙමින් අසීමිත නිදහසක් ලැබුව වගේ නිදහස් බව දනවමින් සැනසුමක් ලැබෙනවා. චතුර්ථ ධ්‍යානයේ තිබුනේ, හිරවීමක් තෙරපල තැබීමක් වගේ පීඩනයක් නෙවෙයිද කියල වැටහෙනවා. නිදහසේ අහසේ විසිරුනා, සැහැල්ලු වුනා, නිදහස් වුනා කියන සංඥාවක් හට ගනිමින් අනන්ත අහසේ විසිරිලා හිරෙන් (කැටි වෙලා හිටිය ආකාරයකින්) නිදහස් වෙච්ච අනන්ත අවකාසය ඇසුරු කරල හිටිනවා. පෙරට වඩා මහත් පහසුවක් සැහැල්ලුවක් දැනෙනවා. චතුර්ථ ධ්‍යාන ප්‍රභාස්වර ආලෝක පිඬ ඒකෙ නැති වෙලා විසිරිලා ගිහින් අනන්ත අහසක් වෙලා සැහැල්ලුව වැටහෙනවා. මේ තමයි අකාසානඤ්චායතනය.

අනන්ත අහස සහ අහසේ හැම තැනම දැනෙන බව වෙනවා. දැනීමට යොමු කළාම දැනීම ඉතා මටසිලිටි විදිහටත්, අවකාසය ගොරෝසු දෙයක් විදිහටත් වැටහෙනවා. අවකාසයේ ස්පර්ශ වන දැනීම වේදනාවක් දීල තිබුන නෙවෙයිද කියල වැටහෙනවා. අනන්තව විහිදුන දැනීම ගොරෝසු අහස ස්පර්ශ නොකර වෙන් කරන්න පුළුවන් බව පේනවා, වැටහෙනවා. අහස අමතක කරල දැනීමේ පිහිටන්න පුළුවන් බවත් වැටහෙනවා. ඒක මහත් සැනසුම් සුවයක්. සුවය වැටහෙනකොට නිරායාසයෙන් අනන්ත දැනීමේ පිහිටල, අනන්තයේ දැනීම කියන සංඥාව හට ගන්නවා. එයින් මෙහා ඇසුරට අකමැතියි. මේ තමයි විඤ්ඤාණඤ්චායතනය.

මීළඟට දැනීම කොහේ විහිදෙනවද කියල හැඟෙනවා. දැනීම් අනන්තයකම විහිදෙන ක්‍රියාවලියක් විදිහට වැටහෙනවා, පේනවා. ශක්තියක්, වැර යෙදීමක් නිසා සිදුවන්නක් විදිහට වැටහෙනවා. විහිදුවන වැර අඩු කරනකොට නිදහස් අක්‍රිය බවකුත්, වෙහෙසකින් මිදෙන බවකුත් වැටහෙනවා. විහිදෙන්නෙ නැතිවම නිදහස් බව විදිහට වැටහෙනවා. එතකොට දැනීම ඇකිලෙමින් ඒකීය වෙනවා. මුං ඇටයක් තරම් කුඩාවට දැනීම වැටහෙනවා. දැනීම විහිදෙන්නෙ නැතිවම සැනසීමක් වගේ වැටහෙනවා. මේ තමයි ආකිඤ්චඤ්ඤායතනය. මේ තත්ත්වයත් ආයාසයකින් විහිද වූ දැනීමක් බව වැටහෙනවා. **ආයාසය අත්හැරීම ශාන්ත විදිහට වැටහෙනවා. දැනීම තවත් හැකිලිලා යනවා. දැනීම අංශු මාත්‍ර වෙලා මොකක් වුනාද කියල මෙනෙහි වෙනවා. දැනෙන බව නැතිවෙන්න යනවා. ජීවිත ආසාව වැටහෙන අවස්ථාවක් එළඹෙනවා. නමුත් නැත්තටම නැතිවෙන්නෙ නෑ. පරමාණුකව දැනෙන නොදැනෙන මට්ටමින් නවතා ගන්නවා. ජීවයේ මූල ධාතුව වගේ දකිනවා. ජීවයට ආසාව නිසා සහමුලින්ම දැනීම විනාස වෙන්න නොදී පුබුදුවනවා.** දැනීම නිවෙන්න එනකොට පුබුදුවනවා. නැවත නිවෙන්න එනකොට පුබුදුවනවා. අනිත්‍යයක් බිහි කරන බවත්, ඒක දීපු ශක්තිය අරගෙන පිබිදෙන බවත්, නැවත මියයන්න එන බවත්, ආසා ශක්තියෙන් පුබුදුවන බවත්, ජීවිත ආසාව නිසා වෙහෙස වැටහෙන්නෙ නැති බවත් විදසුන් නුවණ තියේ නම් වැටහෙනවා. පෘතජ්ජන අය, පැවැත්ම ප්‍රිය කරන අය, මේ උත්තරීතර සුවය ජීවයේ ඉහළම නිදහස විදිහට පිළිගන්නවා. මේ තමයි නේවසංඥානාසංඥායතනය.

**මුළා වෙච්ච අය ජීවිතයට ආසා කරනවා. පැවැත්මේ නිසරුවත්, නැවැත්මේ දාහ නැති බවත් වැටහෙන ආර්යන්ට ජීවිත ආසාවෙන් පුබුදුවන්න උවමනාවක් නෑ. අත්හැරීමේ මිදීමේ නොඇල්මේ සැනසීම වැටහෙන ආර්යයෝ දාහය දෙන පැවැත්මේ රැඳෙන්නෙ නෑ. ජීවිතයට වඩා නිරෝධය නිදහස් කියල, දැනීමේ පුබුදුවන්න උත්සාහ නොකර අත්හරිනවා. සියලු උත්සාහයන් නවතනවා. මැරෙයි කියල අදහසක් තිබුනත් මැරෙන්නෙ නෑ. සියලු ජීවිත බර බහා තියල නිහඬ වෙනවා. දැනීම නිරුද්ධ වෙනවා. කර්ම ශක්තිය භවය පවත්වනවා.** ඒ ශක්තියම නින්දෙන් ඇහැර වන්නක් වගේ සුදුසු කාලයේ දැනීම කරා පමුණුවනවා. කර්ම ශක්තියෙන් භවය තනල නොමැරී පවත්වාගෙන එන බවත්, මතුවට ජීවත් වීමේ ආසාව කර්ම ශක්තියේ පැවැත්මෙන් සෑහීමකට පත්වෙන්නෙ නැතිව මතු ජීවිතයකට ක්‍රියා ශක්තිය යොදවමින් ක්‍රියාකාරීව ඉන්න හැටිත් මනා සේ මේ අවස්ථාවේ වැටහෙනවා. **ජීවිත බලාපොරොත්තු නැති නිසා ඒ සඳහා උත්සාහ නොකරන අය දැනීම නිරෝධ කරල නිදහස් සමවතෙන් සමවත් නිරාමිස සුව ලබන බවත්, ඒක උත්තරීතර ආර්යන්ට විතරක් ලබන්න පුළුවන් දෙයක් බවත් දැනගන්නවා.** ඒ වගේම



කැමති නම් කැමති වෙලාවක් සුදුසු පරිදි අධිෂ්ඨාන කරල නිරෝධයට සමවැදිල ඉන්නත් පුළුවන් බව පේනවා. (මේ නිරෝධය ගැන, ඒ විදිහට බොහෝ වෙලාවක් ඉන්න පුළුවන් බව අනුමාන සත්‍ය වැටහීමකිනුත්, නේවසංඥානාසංඥායතනය සහ සුළු වෙලාවක නිරෝධය අත්දැකීමෙනුත් තමයි විස්තර කළේ)

ආපසු එනකොට දැනීමෙන් හිස් වෙච්ච, පෙර දැනීම විසිරිලා තිබිච්ච විඤ්ඤාණය, ඒ මොහොතට පෙර සම වැදුන ආකාර ස්වභාවය මෙනෙහි කළාම වැටහෙනවා. ඒ වැටහීමත් සමගම දැනීමට ස්පර්ශ නොකරන, නමුත් දැනීම විසිරවන්න පුළුවන් හිස් බව වැටහෙනවා. මේ තමයි ආකිඤ්චඤ්ඤායතනයට ආපසු පැමිණීම.

ඊට පස්සෙ දැනීම ඒ අනන්තයේ විසුරුවනවා. අනන්ත ස්වභාවය දැනීමට ගෝචර වෙමින් දැනෙන බව පිහිටනවා. අනන්තය අරමුණු වෙනවා. මේ තමයි විඤ්ඤාණඤ්චායතනයට ආපසු සමවැදීම.

දැනීම ආකාස ධාතුව ස්පර්ශ කරනවා. මෙනෙහි කළාම එක්තරා රළු ස්වභාවයක් වැටහෙමින් ආකාස ධාතුවේ ස්පර්ශ වෙලා හිටිනවා. ආකාසයයි කියල වැටහෙනවා. මේ තමයි ආකාසානඤ්චායතනයට ආපසු පැමිණීම.

පෙර ප්‍රභාස්වරව තිබිච්ච ආලෝකය මෙනෙහි කරනවා. ආකාස ධාතුව නොදැනී ප්‍රභාස්වර ආලෝක පිඬ වැටහෙනවා. පවිත්‍රත්වය, ප්‍රභාස්වරත්වය කියන ඒකකයක් වෙන්ව වැටහෙනවා. ඒකීය බවට පත්වීම වැටහෙනවා. මේ තමයි චතුර්ථ ධ්‍යානය.

**මේ ප්‍රතිඵල ඔබ ලබන්න උත්සාහ කළත් බැරි බව වැටහෙනව නම්, මේ ක්‍රමය ගැන බිඳක්වත් සැක කරන්න එපා. කලබල වෙලා විවේචනය කරන්න යන්නත් එපා. පටිච්ච සමුප්පාද ධර්ම නියාමය හොඳින් තේරුම් අරගෙන, යම් නාම රූප ධර්මයක් ඇස, කන, නාසය, දිව, ශරීරය කියන මේවායේ මාර්ගයෙන් ඇසුරු කරන්න හිතෙනව නම්, ඒ කෙරෙහි ඔබට පවතින ඇලීම් ස්වභාවයත් බැඳීම් ස්වභාවයත් තේරුම් ගන්න උත්සාහ කරන්න.** ලෝභය, ද්වේශය, මෝහය ඇති වෙනවද කියල හිතල බලන්න. ආසාව, ආදරය, කැමැත්ත, ලෞකික වූ පෘතජ්ජන වූ අයගේ අනුකම්පාව... මේවා ලෝභයේ අවස්ථාද කියල හිතල බලන්න. ලෝභ වෙනකොට ලෝකයේ එල්බ ගන්නවා. ආසාව, කැමැත්ත, ආදරය යම් ලෝක සම්මතයක එල්බ ගත්තම ඒක දාල ඉවත්වෙන්න බෑ.

දරුවා කියන්නෙ ලෝකයට හිමි කොටසක්. දරුවා කණෙක්, කොරෙක්, අබ්බගාතයෙක් නම් අම්ම දරුව දාල ඈතක යන්නෙ නෑ. සිල් සමාදන් වෙන්න යන්නෙත් නෑ. දුක් විඳිනව දැක්කොත් තමන්ගෙ සියලු නිදහසත් අත්හැරල දාල දරුවගෙ කටයුතුවල යෙදෙනවා. තමන්ට විපතක් වෙන්න ආවොත්, අනේ මාව නැති වුනොත් ඒ අනාත දරුවට කාගෙ පිහිටක්ද කියල සෝක වෙනවා. මේ අනුකම්පාව තියෙනකල් තමන්ට නිදහස් වෙන්න බාධාවක්. යම් ලෝක සම්මත සත්ත්ව, පුද්ගල, ද්‍රව්‍ය, වස්තු අතරේ කාම වස්තු කෙරෙහි ඇළුම් කරනව නම්, බැඳීමක් වෙනව නම් කාම ස්වභාවය ඉක්මවන්න බෑ. යම් රූපයක් දැකල කැමැත්තක් ඇති වෙනව නම් ඒ කුමන අන්දමේ රූපයක්ද කියල විමසිය යුතුයි. රූපය යම් ආකාරයකට අයිතිද, ඇතිවෙන්නෙ ඒ ආකාරයේ කැමැත්තක්. ඒ රූප ආකාරය කෙබඳු ප්‍රතිඵලයක් ගෙනත් දෙන්න ක්‍රියා කරනවද, එබඳු ආකාර භුක්ති විඳීමකට හේතු වෙනවා.

යම් තරුණයෙකුට රූමත් තරුණියකගේ කාම රංගන රූපාකාරයක් දැකල කැමැත්තක් ඇති වෙනවද, ඒ රූප කාමය ලිංගික ආස්වාදය ප්‍රතිඵලය කොට පවතිනවා. යම් දරුවෙකුට තමන්ගෙ මවගේ රූපය දැක්කම රූප කාමයක් එනවද, ඒ කාමය මව් සෙනෙහසට හේතු වෙනවා. යම් මවකට තමන්ගෙ දරුවගෙ රූපය දැකල යම් රූප කාමයක් මතු වෙනවද, ඒ රූප කාමය දරු සෙනෙහසකට හේතු වෙනවා. යම් දක්ෂ වෛද්‍යවරයෙකුට කීකරු දක්ෂ ශිෂ්‍යයෙක්ගෙ රුවක් දැකල රූප කාමයක් එනවද, ඒ කාමය සිසු සෙනෙහසකට හේතු වෙනවා. යම් දියණියකට දයාබර පියෙක් දැකල යම් රූප කාමයක් එනවද, ඒ රූප කාමය පිය සෙනෙහසකට හේතු වෙනවා. යම් ගුණවතෙකුට ශාන්ත ශ්‍රමණ රූපයක් දැකල යම් රූප කාමයක් එනවද, එතකොට ඒ රූප රාගය ශාන්ත බවට හේතු වෙනවා.

දැන් මේ රූප කාමය පටිච්ච සමුප්පාද න්‍යායට අනුව ගලපල නිසි පිළිතුර ලබා ගන්න ආකාරය බලමු. පළවෙනි අවස්ථාවෙදි ස්පර්ශ ආයතනය තමයි ඇස. ගෝචර රූපය තමයි රූමත් තරුණියකගේ කාම රංගන රූපාකාරය. ඇසට මේ රූපය ස්පර්ශ වෙනවා. එබඳු ආකාරය ඇහෙන් ස්පර්ශ කරනකොට චක්ඛු විඤ්ඤාණය පහල වෙනවා. කාම රංගන සහිත සුරූපී ස්ත්‍රී රූපයක් දකින කොට ඒකෙ කැමැත්ත පහල කරන්න හේතු වෙන රාගානුසය තිබුන නිසා, චක්ඛු විඤ්ඤාණයේ පතිත වෙච්ච විගස අනුරූප වූ අනුසයෙන් මතු වූ ඒ පිළිබඳ ඇලෙන බව නැගෙමින් මනෝ රැහැනකින් බැඳ ගත්ත වගේ උපාදානය නැගෙනවා. එතකොට ඔහුට අනුරූප ගතිය වෙනවා. ගතිය කාමුක නිසා කාමුක බව ඇති කරනවා. ඔහු කාමුකයෙක් වගේ ඉන්නවා. ඒ අවස්ථාව ඒ මොහොතේ ඔහු උපන් ජාතිය. මෙලොව ජීවත් වෙලා ඉඳෙත්දිම පහල වෙන පටිච්ච සමුප්පාද ජාති හොයන මේ ක්‍රමය බුද්ධ දේශනාවක්.

ඒ වගේම ශාන්ත ශ්‍රමණ රූපයක් දැක්කම ඇතිවෙන රූප කාමය කොහොමද? ඇහැට ශ්‍රමණ රුව ගැටුනම චක්ඛු විඤ්ඤාණය උපදිනවා. ශාන්ත රුවකට ආසාව ඇති කරපු රූප කාමය විරාග නිශ්‍රිතව අරමුණ නැගුනම නැගී සිටිනවා. ඒකෙන් ශ්‍රමණ රූප රාගය නැගී සිටිනවා. වීතරාගී වීතදෝසී වීතමෝහී ස්වභාව ඇති අයගෙ ආකාර, ලිංග, නිමිති, ප්‍රඥප්ති... ආදී වූ නාම රූපයෝ විඤ්ඤාණයේ බැහැගෙන තියෙනවා. රූප රාගය එහි තණ්හාවත් උපාදානයත් කරනවා. වීතරාගී වීතදෝසී වීතමෝහී බවේ

# සියලු හිර බන්ධන වින කපන ඖෂධ යන්ත්‍රයක්...



වර්තමාන ලෝකයේ ජීවත් වෙන මනුස්සයින්ට නොයෙකුත් කරදර ලෙඩ රෝගවලට මුහුණ දෙන්න සිද්ධ වෙලා තියෙනවා. පූර්ව කර්ම විපාකවලින් එන විපත්තිවලට අමතරව ගති විපත්ති, කාල විපත්ති, ප්‍රයෝග විපත්ති, උපධි විපත්තිවලින් එන කරදර බාධකත් වැඩි වෙලා තියෙනවා. මේ හේතුවෙන් සමහර වෙලාවට නිවන් දකින්න බණ පදයක් අහන්න, බණ භාවනාවක් කරන්න හේතු වාසනා තියෙන පිංවතුන්ට පවා ඒ අවස්ථාවට නොයෙකුත් කරදර බාධා එනවා. සමහරවිට වටිනා අවස්ථා මගහැරිල යන්නත් පුළුවන්. මනුස්සයා අධික තණ්හාවෙන් ක්‍රියා කිරීම නිසා අනිකාට හදි හූනියම් කරල හරි තමන්ට අවශ්‍ය කරන කාම සම්පත්තිය ලබා ගන්න උත්සාහ කිරීමත් මේ සඳහා ප්‍රධාන සාධකයක් වෙලා තියෙනවා. විශේෂයෙන් අද කාලයේ සමහර පුවත්පත් අරගෙන බැලුවොත් ස්ත්‍රී පුරුෂ වශී ගුරුකම්, ගෙන්නනවා, පන්නනවා... ආදී වශයෙන් පත්තර පිටු ගණන් පුරවල තියෙන්නෙ මේ වගේ

පහල කිරීම කරනවා. ඔහුට ඒ ජාතිය වෙනවා. ඒ ජාතියට ඇති ආවේණික බව හෙවත් උපාසක බවේ උපාසක ජාතියෙන් දිස් වෙනවා. මේ විදිහට නිවන් දකින්න අවශ්‍ය වෙන උපාසක ජාතියේ පිහිටනවා.

හැබැයි මේ විදිහට රූප රාග කිච්ච පලියට, තණ්හා උපාදාන කිච්ච පලියට ඉවත දාන්නෙ නැතිව, තැනට සුදුසු නුවණින් තේරුම් අරගෙන පහල වෙන ජාති පටිච්ච සමුප්පාද දහම් න්‍යායෙන් තේරුම් ගන්න පුළුවන් නම් නිවන් මග සොයාගන්න පුළුවන්.

යමෙක් බඹ ලොවට හේතු පහල කරන යම් හේතුවක යෝග කරනවද, ඔහු සංසාරය තුලම දුක් වූ අනාර්ය වූ අනර්ථ සහිත වූ අත්ථකිලමතානු යෝග කරන්නෙක්. ඊට කටයුතු මග අනුගමනය කරන්නා අත්ථකිලමතානු යෝගියෙක්. ඒ මග ගිහින් නිවන් දකින්න පුළුවන් කියල හිතන සමහරු ඒ යෝගය ප්‍රිය කරනවා. එබඳු යෝගීන් කෙරෙහි හිත් අලවනවා. ඒ ස්වභාවයේ ජාතිය ඒ අයට පහසුවෙන් නැගෙනවා. එබන්දෙක් දකිනවා. ඇසේ රූපය ස්පර්ශ වෙනවා. ආකාර, ලිංග, නිමිති, ප්‍රඥප්ති... ආදී නාම රූපයෝ විඥ්ඥාණයේ බැහැ ගන්නවා. අනුසය වූ රූප රාගයෝ නැගිල එනවා. ඒකෙ ආසා කරනවා. උපාදානයෙන් බැඳිල යනවා. උපාදානය කළේ යම් ස්වභාවයක්ද එබඳු භව වෙනවා. එබඳු පහල කිරීම් වෙනවා. එයින් එබඳු ජාති භට ගන්නවා. ප්‍රතිඵලය ඊට අනුකූල වෙනවා. සංසාරයටම හේතු වෙනවා. උපාසක ජාති නෙවෙයි, අත්ථකිලමතානු යෝගී ජාතිකයෙක්.

මේ විදිහට සසරට හේතු වෙන මාර්ග දැනගත යුතුයි. අත්ථකිලමතානු යෝගය ලැබෙන හැටි දැනගත යුතුයි. කාමසුඛල්ලිකානු යෝගය දැනගත යුතුයි. ඒ දෙකම දැනගෙන, කාමසුඛල්ලිකානු යෝගය හීන, ග්‍රාම්‍ය, පෘතජ්ජන, අනාර්ය, අනර්ථ සහිත බවත්, අත්ථකිලමතානු යෝගය දුක්, අනාර්ය, අනර්ථ සහිත බවත් දැනගෙන ඒ මග සසර ගමනටම අයිති බව දැනගෙන, ඒවාට අයිති නැති මගක් නිවනට ඇති බවත් තේරුම් ගත යුතුයි. වළල්ලක් අඹරල පයට දමාගෙන පුවක් ගහේ නැග්ගට පුවක් මිසක් පොල් ලැබෙන්නෙ නෑ. **ඒ වගේ ආරණ්‍යගතව, රුක්මුල්ගතව, ශූන්‍යාගාරගතව සිවුරක් හෝ සුදු වතක් හෝ දරාගෙන භාවනා ඉරියව්ව බලාගෙන සාසන මාර්ගයේත් යෝගී මාර්ගයේත් පිටින් පෙනෙන එකාකාරීත්වය දැකල යෝගී බ්‍රහ්මචරියා මග ගිහින් නිවන් දකින්න ක්‍රම සෙවීම, නිවන් ඵලය සෙවීම, පොල් පුවක් හඳුනන්නෙ නැති කෙනෙකුට ගස් යන ආකාරය එකාකාර විදිහට පෙනිල පොල් කඩන්න පුවක් ගස් නගිනවා වගේ කටයුත්තක් බව තේරුම් ගත යුතුයි.**

පටිච්ච සමුප්පාද ධර්ම රටාව තේරුම් අරගෙන, භාවේ තබ්බන්ති කියල පෙන්වල තියෙන ආර්ය දහම් මගත්, හේතු නිරෝධ ඵල නිරෝධ තේරුම් අරගෙන පහාතබ්බන්ති කියල දේශනා කළ නිරෝධ මගත් වටහා ගත යුතුයි. නාම රූප පරිච්ඡේද ඥානයෙන් කෙබඳු ආකාර, ලිංග, නිමිති, උද්දේස, ප්‍රඥප්තියක් ඇසුරු කිරීම කාමසුඛල්ලිකානු යෝගීද, ඒකෙන් කාමසුඛල්ලිකානු යෝගියෙක් බිහි කරයිද කියලත්, කෙබඳු ආකාර, ලිංග, නිමිති, උද්දේස, ප්‍රඥප්ති ඇසුරක් අත්තකිලමතානු යෝගී වෙනවද, ඒකෙන් අත්තකිලමතානු යෝගියෙක් බිහි කරයිද කියලත්, කෙබඳු ආකාර, ලිංග, නිමිති, උද්දේස, ප්‍රඥප්ති ඇසුරක් ආර්ය මාර්ග ආරම්භයක්, ආර්ය මාර්ග වර්ධනයක්, ආර්ය මාර්ග පූර්ණයක් ඇති කරයිද කියලත් තමන්ම වටහා ගන්න පුරුදු වෙන්න ඕන.

*පූජ්‍යපාද වහරක අභයරතනාලංකාර මහ තෙරුන් වහන්සේ විසින් යළි මතු කළ සැඟවුනු දහම් කරුණු ඇසුරෙන් සකස් කළේ:*

**නීතිඥ චන්දන සිරිවර්ධන**

අණවින කොඩිවින බන්ධන හදිහූනියම් කරන අයගෙ දැන්වීම්වලින්. ඒවාට සැදී පැහැදී ඉන්න මිනිස්සුත් ඕන තරම් ඉන්නවා. මේ ගැන මීට කලිනුත් මේ සඟරාවෙන් දැනුවත් කරල තියෙනවා.

කොහොම හරි මේ වගේ විනාසකාරී දේවල්වල අවසන් ප්‍රතිඵලය විදිහට, මෙලොව වශයෙන් ඒ වගේ විපත්වලට ලක්වෙන පුද්ගලයන්ට දීර්ඝ කාලීන කායික මානසික ආබාධ හට ගන්න හේතු වෙනවා. ඒ වගේම මනුස්සයාගේ කිරණ කය ගත්තොත් කාගෙවත් 100% ක් සුද්ධ නෑ. බාහිර ලෙඩ රෝගයක් හරි අමනුස්ස දෝසයක් හරි බැඳිල රැඳිල තියේ නම්, ඒ තැන් හරියට කාක්කෙක් වසුරු පිඬක් හෙලුවම පිච්චිලා යනව වගේ ආසාදනයට ලක් වෙලා තියෙනවා. ඒ ස්ථාන විවිධ අක්‍රමවත් කළු පැහැයන්ගෙන් දිස් වෙනවා.

අන්න ඒ වගේ අවස්ථාවල ඒ සඳහා උපක්‍රමයක් වශයෙන්, එහෙම නැත්නම් ප්‍රයෝග සම්පත්තියක් වශයෙන් යොදා ගන්න පුළුවන්, වහරක අභයරතනා-ලංකාර මහ තෙරුන් වහන්සේ විසින් ලෝක සත්ත්වයාගේ යහපත පිණිස දයානුකම්පාවෙන් හඳුන්වා දුන් තවත් වටිනා ඖෂධ යන්ත්‍රයක් තමයි මේ හඳුන්වා දෙන්න යන්නෙ.

සාමාන්‍යයෙන් මේ වගේ සියුම් ගුප්ත ක්‍රමවේද බොහෝ කොටම ගුරු මුෂ්ටි වශයෙන් හංගගෙන ඉන්න යුගයක, හුදෙක් ලෝක සත්ත්වයා කෙරෙහි දයානුකම්පාවෙන්ම මතු කළ මේ වගේ ක්‍රමවේද මේ සඟරාවෙන් මේ විදිහට ඉදිරිපත් කරන්නෙ, මේවායින් කිසිදු ලාභයක්, කීර්තියක්, ප්‍රසංසාවක් ඉපයීම අපගේ බලාපොරොත්තුව නොවන නිසා. මොකද **බෞද්ධයො විදිහට ලෝකයාට යහපතක් වෙන දෙයක් දැනගත්ත නම් ලෝකයාගේ යහපත වෙනුවෙන්ම ඒවා හෙළි කිරීම තමයි අපේ යුතුකම. වහරක අභයරතනාලංකාර මහ තෙරුන් වහන්සේ උන්වහන්සේගේ සමාධියට මතු වෙච්ච මේ වගේ වටිනා ක්‍රමවේදවලින්, ලෝකයා අවැඩක් කර නොගන්නා ආකාරයේ ක්‍රමවේද කිසිම ගුරු මුෂ්ටියකින් තොරව හුදෙක් ලෝකයා කෙරෙහි දයානුකම්පාවෙන්ම හෙළිදරව් කළා.** ඒ නිසා කාලයාගේ ඇවෑමෙන් ඒවා යටපත් වී යෑමට මත්තෙන්, වර්තමාන ජනයාගේත්, පශ්චිම ජනයාගේත් යහපත පිණිස මේ වටිනා ක්‍රමවේදයත් හඳුන්වා දෙන්න තීරණය කළා.

හැබැයි මේ ක්‍රමවේදයෙන් ලැබෙන ප්‍රතිඵලත් ඒ ඒ පුද්ගලයන්ගේ කර්ම ශක්තීන්ට යටත්ව ප්‍රත්‍ය වෙන බව සළකන්න ඕන. ඒ නිසා විවිධ අයට විවිධාකාරයෙන් මේ ක්‍රමවේදය ප්‍රත්‍ය වෙන්න පුළුවන්. ඒ වගේම මේ ක්‍රමවේදයේ සාර්ථකත්වයට මේ සඳහන් කරල තියෙන අමුද්‍රව්‍යවල සුද්ධතාවයත්, යන්ත්‍රය හදාගන්න ක්‍රමවේදයේ නිරවද්‍යතාවයත් බලපානවා. ඒ නිසා හැකියාව තියෙන පින්වතුන් තමන්ට පුළුවන් උපරිම සුද්ධතාවයෙන් හා නිරවද්‍යතාවයෙන් යුක්තව මේ ක්‍රම අනුගමනය කරල යහපත සලසගන්න.

මේ සඳහා මූලික වශයෙන් පැටවුන් හැර ගිය රන් කුඹල් ගෙවල් කිහිපයක් අවශ්‍යයි. රන් කුඹලෙක් ගෙයක් හදනකොට අළුතින් පස් කපල මඩ වෙච්ච තැන්වල රොන් මඩ, එහෙම නැත්නම් වේයො හුඹස් බැඳල වැස්සට දිය වෙලා එන රොන් මඩ තියෙන තැන්වල ලෙවකාගෙන ගිහින් මඩ රොල්ල විතරක් කෙළවලට ගන්නවා. ඒක ගුලියක් විදිහට සුදුසු තැනක තැන්පත් කරල නැවතත් ගිහින් මකුළු දැලක් කඩාගෙන ඇවිත් ඕකට තියල කෙළවලින් අලවනවා. මේ සතාගෙ කෙළවල කිසිම සතෙකුට ළං වෙන්න බැරි විකර්ෂණ ශක්තියක් තියෙනවා. ඒ නිසා අමනුස්සයෙකුටවත් එන්න බෑ. ඒ වගේම මේ මකුළු දැලකට කොහේ හරි ඉන්න සතෙක් ඇද ගැනීමේ ශක්තියක් තියෙන නිසා ඒ මකුළු දැල්වල විශ්ව ශක්තිය කිරණක් වශයෙන් ආකර්ශනය කර ගැනීමේ බලයක් පිහිටනවා. එතකොට මනුස්සයාගේ කිරණ කය යම් කිසි විදිහකින් හානියට පත් වෙච්ච අවස්ථාවක විශ්වයේ තියෙන සුද්ධ ශක්තිය ඇදල අරගෙන යථා තත්ත්වයට පත් කිරීමේ හැකියාවක් රන් කුඹල් මැටිවල ගැබ් වෙලා තියෙනවා.

මෙතනදි යොදා ගන්නෙත් රන් කුඹල් ගෙයක්මයි. නිකං කුඹල් (ගැහැඩි කුඹල්) ගෙයක් අරගෙන බෑ. රන් කුඹල් ගෙයක් හඳුන ගන්නත් ක්‍රමවේදයක් තියෙනවා. නිකං කුඹලෙක් හදන්නෙ ශාලාවක් වගේ තනි ගෙයක්. ඒකෙ එක බිත්තරයයි දාන්නෙ. ඒ සතා මැස්සෙකුට වඩා ටිකක් ලොකුයි. කළු පාටයි. නමුත් රන් කුඹලෙක් ගොඩක් කාමර තියෙන පුනීලාකාර හැඩැති ලොකු ගෙයක් තමයි හදන්නෙ. බිත්තරත් කිහිපයක්ම දානවා. ඒ සතත් රන්වන් පාටට හුරුයි. ලොකුයි. ඒ වගේම ගැහැඩි කුඹල් හදන ගෙවල්වල වැලි ස්වභාවයක් තියෙනවා. රන් කුඹල්ගේ එහෙම වැලි නෑ. දැන් මේ රන් කුඹල් ගෙවල් සාමාන්‍යයෙන් රබර් තීන්ත, සිමෙන්ති බදාම සහිත නවීන ගෙවල්වල දැකගන්න ලැබෙනව බොහොම අඩුයි. වැඩිපුරම ගල් බිත්තිවල, ගල් ලෙන්වල, කටුමැටි ගෙවල්වල, ලැලි ගෙවල්වල, පාලම් බෝක්කු යට, අත්හැරල දාපු පැරණි ගොඩනැගිලිවල තමයි දකින්න පුළුවන් වෙන්නෙ. මොකද රන් කුඹලෙක් ගෙයක් හදන්නෙ ලේසියෙන් කාගෙවත් ප්‍රහාරයකට ලක් නොවෙන හොඳම තැනක් බලල. ඒ සතා පරිසරයටත් බොහොම සංවේදියි. මනුස්සයෙක් හැර වෙන කිසිම සතෙක් රන් කුඹල් ගෙයක් කඩන්නෙ නෑ. වෙන කිසිම සතෙක්ගෙන් හානියක් නෑ.

අද කාලෙ ඉතින් තනිකර කොන්ක්‍රීට් වනාන්තරවලින් පිරිච්ච ගෙවල් දොරවල් තියෙන නිසා රන් කුඹල් ගෙවල් හොයාගන්න තරමක් අපහසු වෙන්න පුළුවන්. නමුත් කටු මැටියෙන්, වරිච්චියෙන් බිත්ති බැඳපු, විශේෂයෙන් ගම්බද ගෙවල්වල අදටත් මේවා හොයාගන්න ඒ තරම් අපහසු නෑ. හැබැයි **මතක තියාගන්න ඕන විශේෂම කාරණය තමයි, පැටවුන් හැර ගිය රන් කුඹල් ගෙයක්ම ගන්න ඕන. යම් කිසි හේතුවක් නිසා පැටවුන් සහිත ගෙවල් අරගෙන උන්ගෙ වාසස්ථාන නැතිවෙලා ඒ සතුන්ට අසාධාරණයක් වුනොත් මේ ඖෂධ යන්ත්‍රයේ බලය මුළුමනින්ම බිඳෙන බවත් දැනගන්න ඕන. මොකද මේකෙ කිරණ ශක්තියත් එක්ක වැඩ කරන එක්තරා ක්‍රමවේදයක් තියෙනවා. ඒක බොහොම සියුම්. පැටවුන් හැර ගියාට පස්සෙ තමයි ඒ කිරණ ශක්තිය ක්‍රියාත්මක වෙන්නෙ. අධ්‍යාත්මික වශයෙන් නැගෙන මේ වගේ ක්‍රමවේදවලට අනිකෙකුට හිංගි හිංසා, අවැඩ අසාධාරණ කරන ක්‍රමවේද කිසිසේත්ම යොදා ගන්නෙ නෑ. ඒ නිසා පළමු කොටම ඒ කාරණය ගැන සැළකිලිමත් වෙන්න ඕන.**

ඉතින් පැටවුන් හැර ගිය කුඹල් ගෙයක්ද කියල පහසුවෙන් හොයා ගන්න පුළුවන් ක්‍රමයක් තියෙනවා. කුඹලෙක් මැටි ගෙනත් කුඹල් ගේ හදල ඒකෙ බිත්තර දාල ඒවායින් එන පැටවුන්ට ආහාර ආදිය ගෙනත් ඒකෙම තැන්පත් කරනවා. ඔහොම ඉඳල සාමාන්‍යයෙන් බිත්තර දාල දවස් 45 ක් විතර යනකොට උන් ලොකු මහත් වෙලා පිටවෙන්න කාලය එනවා. අන්න එතකොට කුඹල් පැටව් කුඹල් ගේ සිදුරු කරල ගුල් වගේ හදල



ගැහැඬි කුඹල් ගෙයක්



රන් කුඹල් ගෙයක්

ඒවායින් එළියට එනවා. කාලයක් යත්දි ඒකෙ මකුළු දැල් ආදියත් බැඳෙන්න ගන්නවා. එතකොට පහසුවෙන් පැටව් හැර ගිය කුඹල් ගෙයක්ද කියල අර පුංචි සිදුරුවලින්, ගුල්වලින් හඳුනගන්න පුළුවන්. ඒ වගේම ඒ සත්තු ඇතුලෙ ඉන්නවද කියල වටින් පිටින් සෝදිසි කරල දැනගන්නත් පුළුවන්. ඒ වගේ පැටව් හැර ගියපු කුඹල් ගෙයකට ඒ කුඹල් පවුලවත්, වෙනත් කුඹල් පවුලක්වත් නැවත එන්නෙ නෑ. එතකොට ඒ වගේ කුඹල් ගෙයක් හිමිකාරත්වය අත්හැරල දාපු කුඹල් ගෙයක් විදිහටයි සළකන්නෙ.

දැන් මේ වගේ පැටව් හැර ගිය රන් කුඹල් ගෙවල් කිහිපයක් අරගෙන ඉතා සියුම්ව කුඩු කරගෙන රොඩු ඉවත් කරගන්න. ඉන්පසු ඒක පෙනේරයකින් හලාගෙන ඒ කුඩු ග්‍රෑම් 100 ක් ස්වභාවික පිරිසිදු පොල් විනාකිරි මිලි ලීටර් 500 කට මිශ්‍ර කරල විනාඩි 30 ක් මිශ්‍රණ යන්ත්‍රයකින් මිශ්‍ර කරන්න. ඉන්පසු ඒ මිශ්‍රණය දවසක් පැඳෙන්න තියල ඒකෙ උඩ තියෙන දූවිලි සහිත තෙල් තට්ටුව වගේ කොටස ඉවත් කරල මිශ්‍රණය 3 - 4 වතාවක් කලවම් කරන්න. දැන් පෙරහනකට කපු පුළුන් තට්ටුවක් යොදල ඒ මිශ්‍රණය තුන් වතාවක් පෙරාගෙන පුළුන් ටිකත් මිරිකල ඒකෙන් එන ද්‍රාවණය වෙන්කර ගන්න.

මෙතනදි කුඹල් මැටිවල තියෙන සියලු ශක්තිය පොල් විනාකිරිවලට දිය වෙලා එනවා. පොල් විනාකිරි පහසුවෙන් හදාගන්න කෙටි ක්‍රමයකුත් තියෙනවා. යන්තම් දිය අඬන කලටි කුරුම්බ ගෙඩි 2 - 3 ක් කඩල ඇස්ස කපල ඒකෙ වතුර මැටි වළඳකට දාල යෝගට් හැන්දක් තරම් පොල් රා මන්ඩි ටිකක් එකතු කරල භාජනයේ කට රෙදි කඩකින් හොඳින් වහල සතියක් විතර තියල තිව්වම විනාකිරි නිකම්ම හැදෙනවා.

ඊට පස්සෙ කිරිමැටි ටිකක් හොයාගෙන ඒවායේ තියෙන තිරිවාන ගල් අරගෙන සුළඟෙ යන මට්ටමට සියුම්ව කුඩු කරගෙන ඉහත ද්‍රාවණයෙන් උකු වෙනකල් අනාගන්න. ඒ තිරිවාන ගල් සියුම්ව කුඩු කර ගන්නෙ එහෙම නැති වුනොත් අනන්න බැරි නිසා. වැලි අහු වුනොත් බඳල තියෙන්නෙ නෑ, කඩා වැටෙන්න බලනවා. යකඩ කෝවකට දාල තලල අඹරල ගත්තම හොඳට කුඩු වෙනවා. මේ තිරිවාන ගල්වල සුද්ධ ශක්තිය ගැබ් කිරීමේ හැකියාව වැඩියි. ගෙවල් ආරක්ෂා කරනකොට, ජීවම් කරනකොට තිරිවාන ගල් යොදා ගන්නෙත් ඒ නිසා. බාහිරට නිරාවරණය වෙච්ච නැති නිසා කිරිමැටිවල තියෙන තිරිවාන ගල් තවත් සුද්ධයි. ඇළකට, දොළකට, වෙලකට බැස්සම කිරිමැටි හොයා ගන්න පුළුවන්.

දැන් මේ කුඹල් මැටි ද්‍රාවණයෙන් අනාගත්ත තිරිවාන කුඩු මිශ්‍රණය පොල් ඉරටුවක ගාල එසෙව්වම හතර වතාවකට ටික ටික වැක් කෙරෙන පදමට, හරියටම කියනව නම් කොණ්ඩ කැවුම්වලට පිටි ඒදගන්න පදමට සකස් කරගන්න.

හැබැයි මේ යන්ත්‍රය සාමාන්‍ය යන්ත්‍ර වගේ ගාංචුවකින් / කොක්කකින් එල්ලන්න හදල බෑ. මොකද යන්ත්‍රය හරහා නූලක් දාලයි පළඳින්න ඕන. ඒ සඳහා යන්ත්‍රය හරහා කුහරයක් තියෙන්න ඕන. ඒ නිසා මේක හදාගන්න පහසු ක්‍රමයක් තියෙනවා. පුංචි පැපොල් පිති කැල්ලක් අරගෙන ඒකෙ මැදට අර කුඹල් මැටි ද්‍රාවණයෙන් අනාගත්ත තිරිවාන කුඩු මිශ්‍රණය දාන්න. ඊළඟට මඤ්ඤොක්ක කොළයක නැට්ටක් හෝ ඒ වගේ සුදුසු දෙයක් අරගෙන පැපොල් බටය මැදින් යවන්න. එතකොට වැඩිපුර තියෙන ඝන ද්‍රාවණය ඉවත් වෙනවා. දැන් මේක දවසක් විතර වේලුනාට පස්සෙ අර මඤ්ඤොක්ක නටුව ඉවතට ඇද්දම කුහරයක් හැදෙනවා. දැන් පැපොල් බටය හෙමිහිට පතුරු ගලවල අහක් කළාම තුනී බිත්තියක් සහිත, කුහරයක් සහිත යන්ත්‍රය තියෙනවා. හැබැයි මේ යන්ත්‍රය ශක්තිමත් මදි නිසා පිඟන් මැටිටෙන් ආවරණය කරන්න ඕන. ඒ සඳහා විවිධ රසායන යොදල පදම් නොකළ ස්වභාවික පිඟන් ගඩොල් (ටයිල්ස්) මැටි ටිකක් ගන්න. ඒකත් අර කිරි මැටි තියෙන තැන්වලින් හොයාගන්න පුළුවන් අළු පාටට හුරු මැටි වර්ගයක්. ඇඟිලි දෙකට අල්ලනකොට වැලි කැටයක්වත් නෑ නිකම්ම පොඩි වෙනවා. පිඟන් මැටි හොයාගන්න අපහසු නම්, පිඟන් නිෂ්පාදනාගාරයකින් රසායන යොදල පදම් කරන්න පෙර පිඟන් මැටි ටිකක් ඉල්ලගන්න. දැන් ඒ පිඟන් මැටි අනල ඒක මොකක් හරි තැටියක් වගේ දෙයක තියල මේ යන්ත්‍රය ඒ තුලට බස්සවන්න. දැන් යන්ත්‍රය වටා පිඟන් මැටි ස්ථරයක් වගේ හිටින නිසා ඒක ඇදල අරගෙන හොඳින් අව්වෙ වේළගන්නවා. අවශ්‍ය නම් දහයිය ටිකක් ගිනි තියල ඒකට දාල පැය 24 ක් විතර තියල පුච්ච ගන්නත් පුළුවන්. එතකොට කැඩෙන්නෙ නෑ ශක්තිමත් වෙනවා.

සාමාන්‍යයෙන් කුඹල් මැටි ග්‍රෑම් 100 කින් ඔය වගේ යන්ත්‍ර 12 ක් විතර හදන්න පුළුවන්. හැබැයි පැපොල් බටය ලොකු වුනොත් වැඩිපුර ප්‍රමාණයක් යනවා. වැඩිපුර තියේ නම් කොහොම හැදුවත් ගැටළුවක් නෑ. පැන්සලක මහත, පෑන් බටයක මහත, කුඩා පැපොල් බටයක මහත... ඔය ආදී වශයෙන් ඕන ප්‍රමාණයන්ගෙන් ගන්න පුළුවන්. දැන් මේ යන්ත්‍රයේ තියෙන කුහරය මැදින් තමයි රිදී දම්වැලක් හෝ නූල් පොටක් හෝ යවල යන්ත්‍රය රඳවන්නෙ. නූලක් යොදා ගන්නව නම් පිරිත් නූල් බෝලයකින් පොටවල් 9 ක් එකට තියල ගත්තම ඒක ප්‍රමාණවත්.

හැබැයි මුදල් වියදම් කරන්න පුළුවන් අය ඉන්නව නම් මේ යන්ත්‍රයේ ආවරණය පිඟන් මැටිවලින් නැතිව රිදී හෝ රත්තරන්වලින් හදාගන්නත් පුළුවන්. නමුත් යන්ත්‍රය හරහට නූලක් යවන්න පුළුවන් විදිහට කුහරය වෙනම තියල සකස් කරගන්න ඕන. එතකොට යන්ත්‍රය ඇතුලට අර කුඹල් මැටි මිශ්‍ර ද්‍රාවණය දාල ඒ තුලින් කුහරයක්

සකස් කරගත්තම යන්ත්‍රය සම්පූර්ණයි. ඒ හරහා තමයි නූලක් හෝ රිදී දම්වැලක් හෝ දාල යන්ත්‍රය පළඳින්න ගන්නෙ. එහෙම නැත්නම් මහත යන්ත්‍ර කොපුවක් ඇතුලට තවත් කුඩා යන්ත්‍ර කොපුවක්, අතර ඉඩ ඉතිරිවෙන්න බස්සවන්න පුළුවන් විදිහට රිදී හෝ රත්රන්වලින් හදල ඒ දෙක අතරට ද්‍රාවණය දාල මැද තියෙන කුඩා යන්ත්‍ර කොපුව තුලින් එන කුහරයෙන් නූල යවන විදිහට හදාගන්නත් පුළුවන්.

දැන් මේ යන්ත්‍රය නිකං පළඳින්න පුළුවන් වුනත් රතන සූත්‍රයෙන් 108 වරක් ජීවම් කරල ගන්නව නම් තවත් ප්‍රබලයි. මොකද එතකොට තුන් බිය නැති කරන්න ගත්ත රතන සූත්‍රයෙන් නැගෙන ශක්තියත් ඒ යන්ත්‍රයට කාවදිනවා. ඉස්සෙල්ලම සබ්බ පාපස්ස අකරණං... ගාථාවෙන් තුන් වරක් කියල ඊට පස්සෙ තමයි රතන සූත්‍රයෙන් 108 වරක් ජීවම් කරගන්නෙ. අතරමග නවත්වන්න ඕන වුනොත් නැවතත් සබ්බ පාපස්ස අකරණං... ගාථාව තුන් වරක් කියල නැවතත් පටන් ගන්නකොට 3 වරක් කියල ඊට පස්සෙ ජීවම් ගාථාව පටන් ගන්න ඕන.

දැන් මේ විදිහට හදාගත්ත යන්ත්‍රය තමයි ඉනේ හෝ කරේ පළඳින්න ගන්නෙ. පළවෙනි වතාවට පළඳිනකොට රාහු කාලය පන්නල ගන්න පුළුවන් නම් වඩා හොඳයි. ඒකත් පළඳින්න පුළුවන් ආකාර කිහිපයක් තියෙනවා. ඇඟේ ගැවෙන විදිහට නූලකට සම්බන්ධ කරල සුර 4 ක් අල්ලල ඉනේ පළඳින්න පුළුවන්. සාමාන්‍යයෙන් ඉන වටා 4 පැත්තට හිටින විදිහට ටිකක් දුරින් දුරින් සුර 4 පළඳින්න පුළුවන් නම් වඩා හොඳයි. ඒ විදිහට හදාගත්ත අවස්ථාවක ඡායාරූපයක් මේ ලිපියේ පළ කරල තියෙනවා. එහෙම නැත්නම් එක සුරයක් කරේ සහ අනෙක් තුන ඉනේ පළඳින්නත් පුළුවන්.

එතකොට යන්ත්‍රය පළඳිනකොට ඉනට පළඳිනව නම් මූලාධාර චක්‍රය, නාභි චක්‍රය කියන දෙකටම අහුවෙන්න යන්ත්‍රය හරස් අතට හිටින්නයි පළඳින්න ඕන. කරට පළඳිනව නම් හෘදය චක්‍රය අහුවෙන්න සිරස් අතටයි පළඳින්න ඕන. නමුත් ඉනට 3 ක් සහ කරට 1 ක් පැළඳීමෙන් චක්‍ර 7 ම ආවරණය වෙන නිසා ඒ විදිහට පළඳින්න පුළුවන්නම් වඩා හොඳයි. එතකොට ශරීරයේ ඉහල සිට පහලට කිරණ කදම්බයක් ගමන් කරල නාභියෙන් උඩ චක්‍රත්, පහල චක්‍රත් අවදි කරනවා. හැබැයි නානකොට ඉවත් කරල නෑමෙන් පසු නැවතත් පැළඳගන්න ඕන. මොකද ඇතුලට වතුර ගියොත් දිය වෙලා පෙඟිල කැඩෙන්න පුළුවන් නිසා.

**මේ විදිහට මාස 6 ක් පැළඳීමෙන් අවුරුදු 5 ක් යනකල් බල පිහිටනවා. ඒ වගේම දින 7 ක් පැළඳීමෙන් සියලු විත හිර බන්ධන කැපිල යනවා. 700 වසරකට බැඳල තියෙන අමනුස්ස බන්ධනත් කැපිල යනවා. ඒ වගේම මේ යන්ත්‍රය පළඳිනකොට ඇස්ට්‍රල් බොඩි කියල හඳුන්වන සූක්ෂම කය, එහෙම නැත්නම් කිරණ කය වටේ තියෙන කිරණ වළල්ල (ඕරා වළල්ල) අති දීප්තිමත් වෙනවා. පෙර දුර්වලතා හේතුවෙන් හට ගත්ත කායික මානසික ආබාධ සුව වෙලා එන දීප්තිමත් මානසිකත්වය නිසා සමවත් සුවයටත් උපනිශ්‍රයක් ලැබෙනවා. ඒ නිසා බණ භාවනා කරන පින්වතුන්ටත් පහසුවක් ලැබෙනවා.**

**මේ යන්ත්‍රය භාවිතා කිරීම නිසා ඇස්වහ කටවහ දෝස වදින්නෙත් නෑ. විශ්වයේ තියෙන සුදු කිරණ ශක්තිය ඇදල අරගෙන සුදුසු පරිසරය සකස් කරල දෙනවා. තුන් දොස් සමනය වෙනවා. ශරීරය සමබර වෙනවා. කර්ම ශක්තියට යටත්ව, ශාරීරික ඌනතා වගේ බාහිර හේතු නිසා දරු එල අහිමි වෙච්ච අයට මේ යන්ත්‍රය පැළඳීමෙන් චක්‍ර හොඳින් ක්‍රියාත්මක වීම නිසා දරු එල ලැබෙන්නත් හේතු යෙදෙනවා. යම් කිසි අපද්‍රව්‍ය බැඳිල හෝ ඉනාවක් හෝ දීල බඩට යමක් බැඳුන නම් මේකෙන් ඒ සියල්ලත් සුද්ධ කරනවා. කෙටියෙන් කියනව නම් මනුස්සයගෙ ඕරා වළල්ල තමයි මූලික වශයෙන් මේකෙන් සුද්ධ කරන්නෙ. එතකොට අමනුස්සයින්ට ඉන්නත් බෑ. ඒ වගේ ලොකු බලයක් මේ යන්ත්‍රයට තියෙනවා.**

යන්ත්‍ර 4 ක් අර කියපු විදිහට දැම්මම ශරීරයේ තියෙන චක්‍ර 7 ටම සම්බන්ධ වෙනවා. කිරණ ශක්තිය ඇදල අරගෙන මුළු ශරීරයටම රැකවරණයක් දෙන්න ඒක ප්‍රමාණවත්. නමුත් කෙනෙකුට අවශ්‍ය නම් යන්ත්‍ර 4 ට අමතරව 6 ක් 8 ක් වගේ ඉරට්ටෙ සංඛ්‍යාවක් එන විදිහට වැඩි ගණනක් පළඳින්නත් පුළුවන්. ඔත්තෙ සංඛ්‍යාවක් නොගත යුතුයි. උපරිම මාස 6 ක් පැළඳුවම ඒ ශක්තිය අවුරුදු 5 කට බල පැවැත්වෙනවා.

ඒ වගේම මේ යන්ත්‍ර සාමාන්‍ය යන්ත්‍ර වගේ එක පුද්ගලයෙක් එල්ල කරල ජීවම් කරන යන්ත්‍ර නොවන නිසා, එකම යන්ත්‍රය අවශ්‍ය නම් කිහිප දෙනෙකුට වුනත් පළන්දවන්න පුළුවන්. කිසිම අතුරු ආබාධයක් ඇතිවෙන්නෙත් නෑ.

මේ ක්‍රමවේදය අනුව සකස් කරපු යන්ත්‍රයක්, දායක මහත්වරුන්ගෙත් ආධාර උපකාර ඇතිව වහරක අභයරතනාලංකාර මහ තෙරුන් වහන්සේ විසින් මීට අවුරුදු 10 කට විතර ඉස්සර එක්තරා රෝගී උපාසක මහත්තයෙකුට පළන්දවල තියෙනවා. ඒ කාලයේ උන්වහන්සේට බොහොම ළඟින් ඇප උපස්ථාන කරපු උපාසක මහත්තයෙක් හදිසියේ තදබල කොන්දෙ අමාරුවක් හැදිල එකතැන් වුනා. ඒකට පෙර කර්ම විපාකයක් හේතු වෙලා තියෙන බවත් උන්වහන්සේ සමාධි ක්‍රමයෙන් දැනගත්තා. කොහොම හරි මේ රන් කුඹල් මැට්ටෙන් හදපු ඖෂධ යන්ත්‍රයක් පැළඳවීමෙන් උන්වහන්සේ විසින් එක්තරා අධ්‍යාත්මික ශක්තියකින් තමයි එදා පැත්ත වැටිල හිටපු ඒ උපාසක මහත්තයව නැගිට්ටෙව්වෙ.

**සටහන**
**නීතිඥ චන්දන සිරිවර්ධන**

---

# සියවස් ගණනාවකට පෙර සැඟව ගිය නිමල බොදු මග යළි පුබුදුවමින්,

**හෙළ බොදු පියුම දහම් කරුණු ඔබ වෙත රැගෙන එන්නේ, බුදු පියාණන් වහන්සේ අනුදැන වදාළ, අග්ගඤ්ඤ සූත්‍රය, නිරුක්තිපථ සූත්‍රය සහ අරණවිභංග සූත්‍රය යන සූත්‍රාන්තයන්ට අනුව, දහම් පදවල සැඟවුණු දහම් අරුත් මතු කරන පද නිරුක්ති සහ අතීතය, වර්තමානය, අනාගතය හඟවන තුන්කල් නිරුක්ති සහිත ව්‍යවහාර ශබ්ද නිරුක්ති ක්‍රමවේදය අනුව මිස, උන්වහන්සේ අනුමත නොකළ ලිඛිත භාෂා රීති සහිත බමුණන්ගේ ත්‍රිවේද නිරුක්ති මත නොවන බව සලකන්න.**

# නොපළ වූ ගුණ කඳ XIII



වහරක අභයරතනාලංකාර මහ තෙරුන් වහන්සේ

**අභයරතනාලංකාරය - 84**

## ලෝකයාට හෙළි නොවූ තවත් විස්මිත ප්‍රතිකර්ම

වහරක අභයරතනාලංකාර මහ තෙරුන් වහන්සේව ගිහි කාලයේ පටන් ළඟින් ඇසුරු කළ ආරණ්‍යවාසී භික්ෂූන් වහන්සේ නමකගේ අත්දැකීම් තුළින් ගෙනෙන විස්මිත ප්‍රතිකර්මවල තවත් කොටසක් තමයි මේ.

අපි දන්න හඳුනන එක්තරා මහත්තයෙකුට ලැබුන තවත් විශේෂ අත්දැකීමක් ඒ මහත්තය අපිත් එක්ක මතක් කළා. මේ පිළිබඳව මම ඒ කාලෙම වහරක හාමුදුරුවන්ගෙන් ඇහුවම උන්වහන්සේත් ඒ සිදුවීම අනුමත කළා. ඒ පිළිබඳ වැඩිපුර යමක් අහගන්න අවස්ථාව නොලැබුනත්, මේ සිදුවීම තුළින් පින්වතුන්ට යමක් හිතන්න අවස්ථාවක් ලැබෙන නිසා ඒ ගැන කරුණු ඉදිරිපත් කරන්න බලාපොරොත්තු වෙනවා.

අපේ හිතවත් මහත්තයෙක් මාව මුණගැහිල, ස්වාමීන් වහන්ස මේ ළඟදි දවසක වැඩිහිටි මාමා කෙනෙක් මාව හමුවෙලා මෙහෙම කතාවක් කිව්ව කියල ඒ විස්තර මාත් එක්ක මේ විදිහට කිව්වා. මගේ අසනීප මිණිබිරියක් ඉන්නවා. ඇය කුඩා දරුවන් දෙන්නෙක් ඉන්න අම්ම කෙනෙක්. ඇයට මියගිය කිරිඅම්ම කෙනෙක් ඇඟට ආවේස වෙලා හරියට කරදර බාධා කරනවා. මේ සිදුවීම නිසා අපි සියලු දෙනාටම මහා කරදරයක්. අපි ඉතින් දේවාල ගානෙ ගිහින් හරියට සෙත් ශාන්ති කටයුතු, විවිධ භාරහාර පුද පූජා ආදියත් කළා. අණවින, බන්ධන, හූනියම්... ආදියත් කැපුවා. ඉඩකඩම් ආදියත් ඒ අයට කියල ආරක්ෂාවල් යොදල ආරක්ෂා කළා. ඒ සඳහා හරියට මිල මුදල් ආදියත් විය පැහැදම් කළා. නමුත් ඉතින් තවම ගුණයක් නම් නෑ. තවමත් මියගිය කිරිඅම්ම මිණිබිරියගෙ ඇඟට ආවේස වෙලා හරියට කරදර බාධා කරනවා. දැනට වසර ගණනාවක්ම වෙනවා.

මිණිබිරියට මුලින්ම අසනීප වෙන්න පටන් ගත්ත කාලෙ රෑ නින්ද ගියාට පස්සෙ මියගිය කිරිඅම්ම කෙනෙක් නිතර නිතර ඇවිත්, තමන් උදව් කරන්න ආ බවත්, අනෙක් අයට සාස්තර කියන්න වරමක් ලබා දෙන බවත්, ඉදිරියේදි මහා වස්තු සම්පත්තියක් ලබා දෙන බවත් කිව්වා. මෙහෙම නිතර නිතර හීනෙන් ඇවිත් මහා ධන සම්පත්තියක් දෙනව කිව්ව නිසා අපිත් හරි සතුටින් හිටියා. කොහොම වුනත් ටික කාලයක් ගියාට පස්සෙ දවසක් රෑ හීනෙන් මියගිය කිරිඅම්ම ඇවිත් මිණිබිරියට කියනවා, උඹලට උදව් කරන්න නම් මම කියන විදිහට වැඩ කරන්න ඕන, අන්න අහවල් දේවාල භූමියේ බෝධීන් වහන්සේ නමක් තියෙනවා, උඹල ගිහින් ඒ බෝධීන් වහන්සේ අරගෙන ඇවිත් අන්න අතන රෝපණය කරල පුද සත්කාර කරන්න කියල. අපි ඇහුවා කොහෙවත් තියෙන බෝධීන් වහන්සේලා අපිට දෙයිද කියල. ඒ නිසා අපි බෝධිය ගේන්න ගියේ නෑ.

ඊට පස්සෙ කිරිඅම්ම කියනවා, නෑ යන්න, ගියාම බෝධීන් වහන්සේ දෙයි ඒක අරගෙන ඇවිත් රෝපණය කරන්න කියල. පස්සෙ අපි ඒ බෝධිය තියෙන දේවාල භූමිය හොයාගෙන ගියා. එතන කුඩා බෝධීන් වහන්සේ නමක් තිබුනා. අපි ඉල්ලුවෙත් නෑ, මහා පුදුමයක්. ඒ ස්ථානයේ අයිතිකරු කියනවා, ඔය අයට අවශ්‍ය නම් මේ බෝධීන් වහන්සේ ගෙනිහින් රෝපණය කරල පුදසත්කාර කරන්න කියල. ඒ කතාවෙන් අපිත් බොහොම සතුටට පත් වෙලා කිරිඅම්ම කියපු එක හරි කියල බෝධීන් වහන්සේ ගෙනත් ඒ කියපු ස්ථානයේම රෝපණය කළා. ඊළඟට කිරිඅම්ම කියනවා, ඒ බෝධීන් වහන්සේ ළඟ කුඩා බුදු ගෙයක් හදන්න කියල. අපි ඉතින් කුඩා බුදු ගෙයකුත් හැදුවා. ඊට පස්සෙ කියනවා, ඒ බුදු කුටිය ඇතුලෙ පොල්තෙල් පහනක් දල්වල කියන්න, කිරිඅම්ම කියපු දේවල් සියල්ල ඇත්ත නම් අදම කිරිඅම්ම ඇවිත් ඒ බව ඔප්පු කරල පෙන්වන්න කියල. ඒ අයත් ඉතින් ඉදිරියේදි ලැබෙන්න තියෙන විසාල ධන සම්පත්තිය ලබා ගැනීමේ බලාපොරොත්තුවෙන් කියන ඕනම දෙයක් කරන්න සූදානම්.

කොහොම හරි බුදු ගෙයක් හදල කියපු විදිහට පහන් දල්වන්න පටන් ගත්ත විතරයි. එදා රෑම ඒ මිණිබිරියගේ ඇඟට මියගිය කිරිඅම්ම ඇවිත් මහ පුදුම විදිහට කරදර බාධා කරන්න පටන් ගත්තා. කැති පොලු අරගෙන ගහන්න බනින්න... මේ ආදී වශයෙන් විවිධාකාරයෙන් කරදර කරන්න පටන් ගත්තා. උඹල මම කියපු දේවල් ඔක්කොම කළා, දැන් මට හොඳයි, මම බලාගෙන හිටියෙ ඔය ටික කරගන්න තමයි, දැන් ඉතින් මම කොහෙවත්ම යන්නෙ නෑ උඹල එක්කම තමයි ඉන්නෙ.... ආදී වශයෙන් මෙහෙම කිය කියා විවිධාකාරයෙන් කරදර බාධා කරන්න පටන් ගත්තා. සමහර දවස්වල රෑ 1 - 2 ට විතර කිරිඅම්ම මිණිබිරියගෙ ඇඟට ආවේස වෙලා කියනවා, මට හරියට බඩගිනියි මේ මේ ජාති කන්න ඕන කියල. මහ පුදුම වැඩේ කියන්නෙ, කෑමට ඉල්ලන්නෙත් රෑ හොයාගන්න බැරි දේවල්මයි. සමහර අවස්ථාවල ඉල්ලන්නෙ ඒ අවස්ථාවෙ ගෙදර නැති දෙයක්මයි. ළඟ ගෙදරකින් හරි අරගෙන ඇවිත් උයල සකස් කරල දුන්නොත් බොහොම සුළු කොටසක් තමයි කන්නෙ. ඊළඟට සුළු වෙලාවකින් වෙනත් දෙයක් තමයි

කන්න ඉල්ලන්නෙ. කිරිඅම්ම ඉල්ලන ජාති කන්න හදල දුන්නෙ නැත්නම් ගෙදර තියෙන දේවල් කඩල බිඳල දානවා. ඇය ඉල්ලන්නෙත් කන්න බොන්න අවශ්‍යතාවයකටම නෙවෙයි, ඔවුන්ගෙන් පළිගන්න.

ඔය අතර ගෙදර ඉන්න වැඩිහිටි අයත් දේවාල ගානෙ ගිහින් කියන කියන දේවල් කරනවා. භාරහාර වෙනවා, බෝධි පූජා තියනවා, ගෙවල් ආරක්ෂා කරනවා... මේ මොනව කළත් කරපු කිසිම දෙයකින් ගුණයක් නම් තවම නෑ. ඒ නිසා අනේ අපිට මේ කරදරවලින් නිදහස් වෙන්න මොනව හරි උදව්වක් කරන්න කියල මේ විදිහට ඔවුන්ගෙ දුක් ගැනවිල්ල කියාගෙන ගියා.

මේ රෝගී මිණිබිරියගේ සීය කෙනෙක් ඇවිත් මේ විදිහට ඔවුන්ගෙ දුක් ගැනවිල්ල කියල උදව්වක් උපකාරයක් ඉල්ලුවා. ඒකට හේතු කිහිපයක් තිබුනා. එතුමත් වහරක අභයරතනාලංකාර හාමුදුරුවො ගිහි වතේ ඉඳෙද්දිත් පැවිදි වුනාට පසුවත් ළඟින්ම ඉඳගෙන දීර්ඝ කාලයක් ඇප උපස්ථාන කටයුතු සිද්ධ කළ අය අතර එක් කෙනෙක්. ඒ වගේම විවිධ රෝගීන් සුවපත් කළ ආකාරය පිළිබඳවත් බොහොම දැනුවත්ව හිටියා. ඒ වගේම ඒ කාලෙ විවිධ දුක් කරදරවලට ලක් වෙච්ච අය යොමු කරල විසාල ජනතාවකට නිරෝගි සුව අත්විඳින්න උපකාර කරපු කෙනෙක්. ඒ අනුව තමන්ටත් යම් කිසි උදව්වක් උපකාරයක් ලැබේවි කියන අදහසින් තමයි තමන්ගෙ සියලු දුක් කරදර ගැන කියාගෙන ගියේ.

ඉතින් ස්වාමීන් වහන්ස, මම ඔවුන්ට මෙහෙම කිව්වා. වහරක හාමුදුරුවො ගිහි වතේ ඉන්න කාලෙ නම් විවිධ සෙත් ශාන්ති කටයුතු කරන ගමන් ඔය වගේ ලෙඩ රෝග බොහොමයක් ඒ වෙලාවෙම සුව කළා තමයි. නමුත් **උන්වහන්සේ උපාසක මහත්තය කාලයේම කිව්වා, මම ඉදිරියේදි පැවිදි වුනාට පස්සෙ නම් මගෙන් ඔය වගේ උදව් උපකාර බලාපොරොත්තුවෙන් මාව හමුවෙන්න එපා, වෙද හෙදකම් කරන්න, සෙත් ශාන්ති කටයුතු කරන්න භික්ෂූන් වහන්සේලාට ගැලපෙන්නෙත් නෑ, ඒ නිසා මම ඒවා කරන්නෙත් නෑ කියල.** ඒ නිසා මට ඒ සම්බන්ධයෙන් මොකුත්ම කියන්න බෑ, නමුත් ඉතින් සාසනික වශයෙන් කරන ප්‍රතිකර්මයක් තියෙනව නම් ඒ සඳහා නම් මට උදව් උපකාර කරන්න පුළුවන් කියලත් මම කිව්වා. වහරක හාමුදුරුවො ගිහි වතේ ඉන්න කාලෙ කරපු සෙත් ශාන්ති කටයුතු දැන් නොකළට ඒ විහාරස්ථානයේ විශේෂ ආශිර්වාද සෙත් බුද්ධ පූජා පවත්වනවා. විශේෂ ඥාති දාන දෙනවා. විශේෂ පිං අනුමෝදනාවන් ආදිය සිද්ධ කරනවා. ඒ නිසා මමත් ස්වාමීන් වහන්සේට මතක් කරන්නම්, අටපිරිකර (පසුව දොළොස් පිරිකර) පූජාවක් එක්ක සඟ සතු දානයක් දීල විශේෂ පිං අනුමෝදනාවක් කරන්න දිනයක් ලබා දෙන්නම්. එහෙම සාසනික වශයෙන් කාටවත් කරදරයක් නොවෙන ආකාරයෙන් සියල්ලන්ටම යහපතක් වෙන විදිහට යම් කටයුත්තක් කරමු කියල මම ඔවුන්ට සඟ සතු දානයක් දෙන ආකාරයත්, කෘතෝපකාර සළකන ගුණයෙන් යුතුව ඥාති හිත මිත්‍රාදීන්ට පිං පෙත් අනුමෝදන් කළ යුතු ආකාරය ගැනත් කරුණු කාරණා පැහැදිලි කරල දුන්නම ඒ සඳහා ඔවුන් කැමැත්ත පළ කළා.

ඊට පස්සෙ දිනයක් වෙන් කරගෙන දානයක් හදාගෙන දොළොස් පිරිකර පූජාවක් සමග මමත් ඔවුන් එක්ක වහරක විහාරස්ථානයට ගියා. වහරක හාමුදුරුවො ඒ අවස්ථාවෙ දාන ශාලාවට වැඩම කරල හිටියෙ. අපි සියලු දෙනාම එකතු වෙලා දොළොස් පිරිකර පූජාව සහිත සඟ සතු දානය එදා වැඩ හිටපු මහා සංඝ රත්නය මුල් කරගෙන පිරිනැමුවා. වහරක හාමුදුරුවො තමයි එදා විශේෂ පිං අනුමෝදනාව සිද්ධ කළේ. ඒ අවස්ථාවෙ මියගිය කිරිඅම්ම ආවේස වෙන කාන්තාව තරමක් කලබලකාරීව කටයුතු කළත්, ඒ තරම්ම ලොකු කලබලයක් නම් කළේ නෑ. අපි ඉතින් ඒ පිංකම කරල අවසන් වෙලා විහාරස්ථානයෙන් පිටත් වෙන්න සූදානම් වෙලා, මම ගිහින් වහරක හාමුදුරුවන්ගෙන් ඇහුවා, ස්වාමීන් වහන්ස ඒ කිරිඅම්ම ආවේස වෙන කාන්තාව තමයි අර විදිහට කලබලකාරීව කටයුතු කළේ, දැන් නම් නිහඬවම ඉන්නවා, මොකද පිං අනුමෝදන් වුනාද, මොකක්ද ඒ අසනීපයට හේතුව කියල. එතකොට වහරක හාමුදුරුවො මෙහෙම කියනවා. හරි වැඩේ තමයි ඒ වෙලාවෙ වුනේ. මම පිං අනුමෝදන් කරනකොට සමාධියෙන් මේ සිද්ධිය දැක්කා. ඒ අවස්ථාවෙ ඔය කියන මියගිය කිරිඅම්ම ඇවිත් මහා සංවේගයෙන් බිම හැපි හැපි අඬ අඬා තමන්ගෙ වළලු දෙකක් මිණිබිරිය සොරා ගත්ත බවත්, තමන්ට ඒ වළලු දෙක නැවත අවශ්‍ය බවත් කිව්වා. ඒ වෙලාවෙ මම ඇයට සිතු පැතු ආකාරයෙන් වළලු ලැබේවා කියල අධිෂ්ඨාන කළාම, වළලු මහා පොදියක් මැවිල ඇගේ අත් දෙකේම පිහිටියා. ඇයට සිතු පැතු තරමටත් වඩා වැඩිපුර වළලු ලැබුන නිසා ඇය බොහොම සතුටින් ඒ අවස්ථාවෙම එතැනින් යන්න ගියා. දැන් ඉතින් ඒ කාන්තාව නැවත අසනීප වෙන්නෙ, ආවේස වෙන්නෙ නෑ. ඇගේ බලාපොරොත්තුව ඉෂ්ට වුනානෙ. දැන් ලෙඩේ හොඳයි බයවෙන්න එපා කියන්න. මහත්තයට ඕන නම් අහල බලන්නකො ඒ අසනීප වුන කාන්තාව මොකටද කිරිඅම්මගෙ වළලු දෙකක් හොරකම් කළේ කියල.

වහරක හාමුදුරුවො මෙහෙම කිව්වම, නැවත ගමට එන ගමන් අපි ආපු වාහනයේම ආපසු ටික දුරක් ඇවිත් මම ඇහුවා, මොකටද දුවේ කිරිඅම්මගෙ වළලු හොරකම් කළේ කියල. නෑ මාමෙ ඒ වළලු දෙකම කැඩිල පුපුරල තිබුනෙ, ඒව එච්චරම වටින්නෙත් නෑ, පරණ වළලු දෙකක්, අනික ඉතින් වයසට ගියාට පස්සෙ වළලු මොකටද... මේ ආදී වශයෙන් ඇය විවිධ දේවල් කියන්න පටන් ගත්තා. මම කිව්වා, මට ඒව වැඩක් නෑ, මම අහන්නෙ දුවගෙන් කිරිඅම්මගෙ වළලු හොරකම් කළාද කියල විතරයි කියල. ඒ අවස්ථාවෙ ඇය කියනවා, ඔව් මම පරණ වළලු දෙකක් නම් හොරකම් කරල ගත්ත තමයි කියල. මම ඒ වෙලාවෙ ඇයට මෙහෙම කිව්වා. වටිනා ඒවා හෝ නොවටිනා ඒවා හෝ පරණ ඒවා හෝ අළුත් ඒවා හෝ කිරිඅම්ම තියාගෙන හිටියෙ කිරිඅම්මට වටින නිසානෙ, හොඳ නිසානෙ, ඇයි ඉතින් හොරකම් කළේ, ඒ දේවල් හොරකම් කරපු එකට තරහෙන් තමයි කිරිඅම්ම කාලයක් ඉඳල තියෙන්නෙ. ඒකට දීපු දඬුවම තමයි මෙච්චර කාලයක් දුක් විඳින්න සිද්ධ වුන එක. වහරක හාමුදුරුවො කිරිඅම්මට වළලු මවල දුන්නා, ඒවත් අරගෙන ඇය බොහොම සතුටින් යන්න ගියා. දැන් ඉතින් කරදර බාධක නැතිවෙයි බයවෙන්න එපා කියලත් කියන්න කිව්වා. ඒ කාන්තාව බොහොම සතුටින් පින්කම කරල අවසානයේ තමන්ගෙ ගමට ගියා කියල ඒ මහත්තය මාත් එක්ක මේ කතාව කිව්වා.

මමත් ඉතින් වහරක හාමුදුරුවො මුණගැහුන වෙලාවක මේ කතාව කිව්වම උන්වහන්සේ මෙහෙම කියනවා. ඔව් ඔව් මේ ළඟදි දවසක තමයි ඔය සිදුවීම වුනේ. ඒ මිණිබිරිය වළලු දෙකක් හොරකම් කරල ඒකට තරහෙන් තමයි කිරිඅම්ම අවුරුදු ගණනාවක්ම කරදර බාධා කරල තියෙන්නෙ. හොරකම් කරපු වළලු දෙකේ වටිනාකම කොච්චරද? ඒ සඳහා තමන් දුක්

වින්ද කාලය කොච්චරද? ඒ සඳහා විය පැහැදම් කරපු මිල මුදල්වල වටිනාකම කොච්චරද? වළලු කීයක් ගන්න පුළුවන් මුදල්ද නැති නාස්ති වුනේ? ඒ නිසා අපි ඒ අවස්ථාව දැකල දැනගෙන අවශ්‍යතාවයට අනුව ඇයට වළලු මවල දීල ඇය නිදහස් කළා. මම හැමදාම කළේ ඒ ඒ අයගෙ අවශ්‍යතාවයට අනුව හා ධර්මානුකූලව ඒ ඒ අයට උදව් උපකාර කිරීම තමයි. දැන් බලන්න අවුරුදු ගණනාවක්ම තොවිල් නටල පුද පූජා තියල භාරහාර වෙලා මොන විදිහට කටයුතු කළත් මිණිබිරියගේ රෝගය හොඳ වුනේ නෑනෙ. යන්ත්‍ර මන්ත්‍ර කරන අය, ගෙවල් දොරවල් ඉඩකඩම් ආරක්ෂා කරන අය ඕව දන්නෙ නෑ. **බඩගිනි මනුස්සයෙකුට ඇඳුම් පැළඳුම් දුන්නට හරියන්නෙ නෑ. ඔහුගෙ ප්‍රශ්න ඒකෙන් විසඳෙන්නෙ නෑ. බඩගිනි කෙනාට කන්න යමක් දෙන්න ඕන. ඒ වගේ තමයි මනුස්ස ලෝකෙ අයට වගේම අමනුස්ස ලෝකවල අයටත් අවශ්‍යතාවයට අනුව උදව් උපකාර කරන්න ඕන. එතකොට ඒ අයටත් අපි උදව් උපකාර කළා වෙනවා.** අනන්ත සංසාරයේ කරන ලද අවැඩ අසාධාරණයන්ට වන්දි ගෙව්ව වෙනවා. ඒ නිසා ඒ අයගෙන් එන කරදර බාධා දුරු කරගෙන තරමක් හරි සහනයෙන් සැනසිල්ලෙන් ආර්ය මාර්ගය පූර්ණ කරගෙන නිවන් අවබෝධ කර ගන්නත් ඒ තුලින් ආධාර උපකාර කරගන්න පුළුවන්.

නමුත් ඉතින් මේ ධර්ම මාර්ගයේ ගමන් කරන අපි අවශ්‍යතාවයට අනුව කටයුතු කරනවා කිව්වම අපි දකින්න ඕන, අවශ්‍යතාවය මොකක්ද, අවශ්‍යතාවය මොකක් සඳහාද, අවශ්‍යතාවය හා අත්‍යවශ්‍යතාවය මොකක්ද කියල. ඒ විදිහට අවස්ථානුකූලව හා ධර්මානුකූලව කටයුතු කරන්න දැනගන්න ඕන. එහෙම නැතිව තමන්ටත් අනුන්ටත් සසර ගමනටත් අවැඩ අසාධාරණ වෙන විදිහෙ අධාර්මික කටයුතු නොකළ යුතුයි. එදා මම සිතූ පැතූ ආකාරයෙන් වළලු මැව්වා කියල අධිෂ්ඨාන කළාම, ඒ කාන්තාවගේ අත් දෙකේම මහා වළලු පොදියක් මැවිල පිහිටියා. ඇය හරි සතුටින් අත්දෙක ඔසවල මහා සද්දෙන් වළලු ටික හොලව හොලවා මම ඉන්න දිසාවෙන් මට පේන්නම ඇතට ඇතට යන්න ගියා. නැවත මිණිබිරිය අසනීප වෙන්නෙ, ආවේස වෙන්නෙ නම් නෑ. මේ විදිහට වහරක හාමුදුරුවො එදා අපිත් එක්ක ඒ සිදුවීම කිව්වා.

ඉහත සිද්ධිය වෙලා දැනට බොහෝ කාලයක් ගත වෙලා තියෙන නිසා, ඒ කාලෙ මට තොරතුරු ලබා දුන්න මහත්තයට මම නැවත කතා කරල ඒ අය ගැන තොරතුරු විමසීමකුත් කළා. එතකොට ඔහු අපිත් එක්ක කියනවා, අනේ ස්වාමීන් වහන්ස ඒ අය නම් බොහොම සතුටින් ඉන්නවා, නමුත් ඉතින් ඒ අයට දහම් අවබෝධයක් නම් නෑ, දහම් අවබෝධයක් ලබන්න අවශ්‍යතාවයක් තියෙන බව පේන්නෙත් නෑ, කොහොම හරි ජීවිතය නම් පවත්වගෙන යනව කියල. මේ වගේ අත්දැකීමක් තුලින්වත් දහම් අවබෝධයක් ලබා ගන්න කටයුතු නොකිරීම නම් මහා අඩු පාඩුවක් බවත් ඒ මහත්තය අපිත් එක්ක කිව්වා.

ඒ වගේ තවත් අත්දැකීමක් තමයි මේ. අපි දන්න කියන එක්තරා ප්‍රධාන පෙළේ උපාසිකාවක් ඒ කාලෙ අපේ විහාරස්ථානයට සිල් සමාදන් වෙන්න ආවා. ඒ උපාසිකාව තමන්ගෙ දූ දරුවන් එක්ක නිතර නිතර ඇවිත් ආශිර්වාද ගන්න කියල බෝධි පූජා ආදිය පවත්වනවා, භාරහාර වෙලා පඬුරු ගැට ගහනවා, සෙත් කවි කියනවා, විවිධ පුද පූජා පවත්වනවා. ස්වාමීන් වහන්ස අපි බෝධි පූජාවක් තියන්න ආවා, අපිට බුද්ධ වන්දනාව කරවල දෙන්න බෝධීන් වහන්සේ ළඟට වඩින්න කියල දැහැත් වට්ටියක් දීල අපිටත් ආරාධනා කරනවා. අපේ විහාරස්ථානයට කවුරු හරි ඇවිත් මේ වගේ පූජා ආදිය තියනකොට මොනවහරි විශේෂ කාරණාවක් කියල තමයි ඒවා තියන්නෙ. මමත් ඉතින් ඒ අනුව ඒ අයගෙන් අහනවා, ඇයි බෝධි පූජාවක් තියන්න විශේෂ හේතුවක් එහෙම තියෙනවද කියල. නෑ නෑ විශේෂ හේතුවක් නම් නෑ අපි බෝධි පූජාවක් තියන්න ආවා කියනවා. ඔහොම අවුරුදු 3 - 4 ක්ම ගත වුනා. අපිට ඒ අය මොනවත්ම කිව්වෙ නැති වුනාට, ළඟ පාත ගෙවල්වල අය විහාරස්ථානයට ආවම ඒ අයගෙන් නම් විවිධාකාර තොරතුරු ආරංචි වුනා. අනේ ඒ අයට හරියට කරදර බාධක තියෙනවා, රෑ එළිවෙනකල්ම ගේ වටේට වැලි දානවා, වත්ත වටේට වැලි දානවා, සුවඳ දුම් අල්ලනවා, එක එක ජාතියේ බෝතල් කුප්පි, තඹ කොළ, ගල් කැට... ආදිය ගේ වටේ වත්ත වටේ වැටවල් අයිනෙ ගිහින් වළ දානවා, හරියට දේවාල ගානෙ යනවා, ඒ ස්ථානවලින් කියන දේවල් තමයි ඒ අය කරන්නෙ කියල... මේ ආදී වශයෙන් ළඟ පාත අය ආවම අපිත් එක්ක කියනවා.

සමහර අවස්ථාවල ඒ අය විහාරස්ථානයට ඇවිත් අපිටත් ආරාධනා කරල භික්ෂූන් වහන්සේලා ගෙදරට වැඩම කරවල සෙත් පිරිත් දේශනා ආදියත් කරව ගන්නවා. මම එක වතාවක් ඒ ගෙදරට පිරිත් කියන්න යනකොට ගෙදර ප්‍රධාන දොර ජනෙල් ගලවල වෙන පැත්තකින් තියල ගෙදර මිදුලත් ඒ දිසාවෙන් හදල මල් පෝච්චි ටිකත් ඒ පැත්තෙන් තියල ගෙදර ප්‍රධාන පැත්ත වෙනමම දිසාවකට හරවල තිබුනා. ඊළඟ වතාවෙ ඒ ගෙදරට මම පිරිත් කියන්න යනකොටත් අර විදිහටම වෙනස්කම් කරල තිබුනා. වාස්තු දෝස බලන්න එන අයගෙ උපදෙස් අනුව තමයි ඒ සියල්ල කරන්නෙ. අපිටත් ඒ වගේ දේවල් දැක්කම නම් හිතුනා, වටපිටාවෙ මිනිස්සු කියන ඒවා ඇත්ත, මොකද එහෙම නැත්නම් ඔය විදිහට දොරවල් ජනෙල් ගලව ගලව නිවස ඒ මේ පැත්තට හරව හරව ඉන්න ඕන නෑනෙ කියල.

කොහොම වුනත් ඒ අය කිසිම දෙයක් මාත් එක්ක කියන්නෙ නැතිව තමයි බෝධි පූජා, සෙත් පිරිත් ආදිය කරන්නෙ කියන්නෙ. මමත් ඉතින් ඒ අයගෙ ආරාධනා මත ඒ අය කියන දෙයක් විතරක් කරල දෙනවා. ඔහොම ගිහින් ඔය ගෙදර ප්‍රධාන උපාසිකාව විහාරස්ථානයට ඇවිත් ධර්ම සාකච්ඡා කර කර ඉන්නකොට කියනවා, මටත් ස්වාමීන් වහන්සේගෙන් දැන ගන්න ප්‍රශ්නයක් තියෙනව කියල. ප්‍රශ්නය අහන්න හදනවා. නමුත් අන්තිමට අහන්නෙ නෑ. මම ඉතින් කියනවා, මම දන්න දෙයක් මම තේරුම් ගත්ත දෙයක් නම් කියල දෙන්නම්, අපි වුනත් නොදන්න දේවල් හුගක් තියෙනව කියල. එතකොට ඒ උපාසිකාව කියනවා, නෑ මම වෙන වෙලාවක අහන්නම් කියල. විහාරස්ථානයට ආපු හැම දවසකම ඒ උපාසිකව තමන්ට තියෙන ප්‍රශ්නය අහන්න හදනවා. අන්තිමට කියනවා, නෑ මම වෙන දවසක අහන්නම්, මම නිතරම වගේ පන්සල් එනවනෙ කියල.

ඔය විදිහට ඉතා දීර්ඝ කාලයක් කිය කියා ඉඳල දවසක් තවත් උපාසිකාවො දෙන්නෙක් එක්ක විහාරස්ථානයට ඇවිත් ඒ උපාසිකාව අඬ අඬා මෙහෙම කියනවා. අනේ ස්වාමීන් වහන්ස මට ලොකු ප්‍රශ්නයක් තියෙනවා ස්වාමීන් වහන්සේට කියන්න විදිහක් නැතිව මෙච්චර කාලයක්ම හිටියා. ස්වාමීන් වහන්සේ දිහා බැලුවම මට හැමදාම හිතෙනවා, මගේ දරුවන්ගෙ

දරුවෙකුටත් වඩා ස්වාමීන් වහන්සේට වයස අඩුයි, මම ඉතින් කොහොමද මගේ ප්‍රශ්නයක් ස්වාමීන් වහන්සේට කියන්නෙ කියල. ඒ නිසා තමයි මෙච්චර කාලයක්ම පහු වුනේ. ඒ වුනත් මට වෙන කියන්න කෙනෙක් ඇත්තෙම නෑ, ඒකයි මම මේ කියන්නෙ... මේ විදිහට ඒ උපාසිකාව තමන්ගෙ ජීවිත කතාව දීර්ඝව කියාගෙන ගියා.

අනේ ස්වාමීන් වහන්ස මම පොඩි කාලෙ... අහවල් පළාතෙ තමයි හිටියෙ. පුංචි කාලෙ මගේ මව්පියන් මට අහිමි වුනා. මම ඊට පස්සෙ ඥාති ගෙවල්වල තමයි හැදුනෙ වැඩුනෙ. මම පාසල් යන කාලෙත් හරියට දුක් වින්දා. උදව් උපකාර කරපු අයත් හරි අඩුයි. මගේ මව්පියන් මට පොඩි කාලෙම අහිමි වුන නිසා පාසල් යන වයසෙදිම මට ....... පත්වෙන්න සිද්ධ වුනා. ඒ නිසාම මගේ පාසල් ගමනත් අතරමග නතර වුනා. මම නතර වෙලා හිටපු ගෙවල්වලත් හරියට කරදර බාධක. කොහොම නමුත් සියලු දුක් කරදර විඳ දරාගෙන ඉවසීමෙන් කටයුතු කළා. ඔහොම ටික කාලයක් ඉන්නකොට බොරු කියල රවට්ටල මාව ඉක්මනට වෙනත් කෙනෙකුට විවාහ කරල දුන්නා. ඒ නිසාම මම අප්‍රමාණ දුක් කරදර පීඩා නින්දා අපහාස වින්දා. නමුත් ටික කාලයක් ඔය විදිහට ඉන්නකොට මට දරුවෙක් ලැබුනා. ඒ දරුවා උපන් අළුතම මගේ සැමියත් අකාලෙ මිය පරලොව ගියා. මට ජීවත් වෙන්න විදිහක්වත් ඉන්න තැනක්වත් තිබුනෙ නෑ. විවිධ නින්දා මැද ළඟපාත ගෙවල්වල කුලී වැඩටත් ගියා. ඒ කාලෙ හැටියට පොල් අතු පැදුරු - වට්ටි වගේ දේවල් වියනවා. ගෙදර දොරේ වැඩපළ ආදියත් කරගෙන තමයි මගේ එකම දරුවා හදා ගත්තෙ. ඒ අතරම මුදල් ටික ටික බොහොම අමාරුවෙන් හොයාගෙන නොකා නොබී දුක් විඳල තමයි මුදල් එකතු කරල මම ............ පළාතට ඇවිත් දැනට පදිංචි වෙලා ඉන්න ඉඩම් කෑල්ල මුදල් ගෙවල අරගෙන ගෙයක් හදාගෙන ඉන්නෙ.

ඒ කාලෙ ඔය ළමයත් ටිකක් පොඩියි. පිට ගමකට දරුවෙක් එක්ක ඇවිත් තනියම පදිංචි වෙලා ඉන්නකොටත් විවිධ ප්‍රශ්න කරදර බාධක අප්‍රමාණයි. මොනව වුනත් ළමයා ගැන හිතල මම හිත හදාගෙන ජීවත් වුනා. අනේ ස්වාමීන් වහන්ස මගේ දුව, දුවගෙ ළමයි, බෑනා... ඔය කිසිම දෙයක් තවම දන්නෙත් නෑ. මම වින්ද දුක් කරදර ඒ අයට දැනගන්න ඕනකමක් නෑ. මම මේ වෙනකොටත් ඕව කියලත් නෑ, කියන්න බලාපොරොත්තුවකුත් නෑ. නමුත් ඉතින් අදටත් මම හරියට දුක් විඳිනවා. දැන් මගේ වයස 83 යි. ඒ වුනාට මම තමයි ගෙදර දොරේ සියලු වැඩ කටයුතු කරන්නෙ. ඒත් ඉතින් ඒ අය මට බනින කරදර කරන එකේ ඉවරයක් නෑ. මම තමයි අදටත් ගෙදර සියලු දෙනාටම කන්න බොන්න උයන්නෙ. මම කොහොමද ස්වාමීන් වහන්ස මේ අත් දෙකෙන් පොල් ගාන්නෙ. මම හිරමණෙන් පොල් ටිකක් ගෑවත් මගේ අත් දෙක හොල්ලන්න බැරි තරමට රිදෙනවා. අඩුම තරමෙ පොල් ගෙඩියක් ලෙලි ගහල දෙනව නම් ඒත් ඇති. ඒ වුනාට මට එහෙමවත් දෙයක් කරල දෙන්න කෙනෙක් නෑ. මම ඉන්නෙත් ගෙදර ගබඩා කාමරයේ. ඒකෙ ඉන්න ඉඩකඩත් නෑ. පොල් කඩල ගෙනත් දාන්නෙත්, ගම්මිරිස් කඩල ගෙනත් දාන්නෙත්, ගෙදර තියෙන පරණ බඩු බාහිරාදිය දාල තියන්නෙත් මම ඉන්න කාමරයේ. හැබැයි මේ සියල්ල මගේ ලැබීම, මගේ හිමිකම කියල තමයි මම හිතාගෙන ඉන්නෙ. මට සැප විඳින්න ඕන නෑ. මගේ ජීවිත කාලෙම මම සැප කියන ජාති දන්නෙත් නෑ. මට සැප කියන ජාති ඕනත් නෑ...

අනේ ස්වාමීන් වහන්ස, මම මගේ ජීවිත කතාව කිව්වෙ මට මේ ටික කියන්නවත්, කිව්වට අහන්නවත් කෙනෙක් හිටියෙ නැති නිසා. ඒ වුනත් මම මැරෙන්න ඉස්සෙල්ල මේ වගේ අයත් රටේ ලෝකෙ ඉන්නවා කියල දැනගන්නත් එක්කයි මම මේ කතාව කිව්වෙ. පැය ගණනාවක් මෙහෙම කියල නැවතත් කියනවා, ස්වාමීන් වහන්ස මේ එකක්වත් නෙවෙයි මට තියෙන ප්‍රශ්නෙ. මගේ මිණිබිරිය ගෙදරදි හරියට කරදර කරනවා. හරියට පිස්සු වැටිල වගෙයි ගෙදර තියෙන හැළි වළං පොළවෙ ගහල බිඳිනවා. ගෙදර තියෙන දේවල් කඩල බිඳල දානවා. අනික් අයට හරියට කරදර කරනවා... එක එක තැන්වල ගිහින් අවුරුදු කිහිපයක්ම දේවාලවලින් කියන කියන දේවල් තමයි කරන්නෙ. සමහර දවස්වල රෑ 1 - 2 ට විතරත් ගේ වටේට වැලි දානවා, වත්ත පිටිය ආරක්ෂා කරනවා, අබ මතුරල දානවා, බෝතල් කුප්පි වළ දානවා, පොල්තෙල් පහන් පත්තු කරනවා, පූජා වට්ටි තියනවා... මේ වගේ දේවල්මයි කරන්නෙ. මම කියල කියල තමයි ඔය බෝධි පූජා එහෙම තිව්වෙ. ඒත් ඉතින් ඒවට ඒ තරම් කැමතිත් නෑ. මොනව කරන්නද කියල මම දන්නෙත් නෑ.

මිණිබිරියට මේ වෙනකොට විවාහ යෝජනා 30 - 40 කට වඩා ආවා. ඒ සියල්ල අවසන් මොහොතේ වෙනස් වෙලා යනවා. ඒවට කැමති වෙලා දින පවා නියම කරගෙන ඉඳල අවසානයේ බෑ කියනවා. අපි සමහර අවස්ථාවල ඥාති හිත මිත්‍රාදීන්ටත් කියල ඒ අය අතරත් ලැජ්ජා වෙච්ච අවස්ථා පවා තියෙනවා. දැන් ස්වාමීන් වහන්ස ඔය සියල්ලටම හේතුව ගෙදර දෝස කියල හතර පස් වතාවක්ම ගේ කඩ කඩා වෙනස් කළා. තව ගෙවල් දෙක තුනක් හදන්න තිබුන මුදල් දැන් වියදම් කරල ඇති. මට ඉතින් මේ අය කරන කියන ඒව බලාගෙන ඉන්නත් බෑ. ඒ අයට කියල මේව තේරුම් කරල දෙන්නත් බෑ. මම වින්ද දුක් ගැන හිතනකොට නම් ඒ තරම් දුකක් මේ අය විඳල නෙවෙයි විඳින්න හිතලවත් නෑ. ඒ වුනත් මම මැරිල යන්න ඉස්සෙල්ල මේ ගෙදර තියෙන ප්‍රශ්න ටික තරමක් දුරට හරි විසඳල දුන්නොත් මට ඒ ඇති. මට පුළුවන් දෙයක් තියෙනව නම් ඒ දේත් මම කරල දෙන්න තමයි උත්සාහ කරන්නෙ. අනේ ස්වාමීන් වහන්ස මම මේව ඔබවහන්සේට කිව්වට සිය දහස් වාරයක් සමාවෙන්න. මට කියන්න වෙන කිසිම කෙනෙක් නෑ. මට මගේ දරුවටත් ගෙදරටත් තියෙන ප්‍රශ්න ටිකක් හරි අඩු කරගන්න අනුකම්පා කරල උදව්වක් කරන්න කියල ඇය බොහොම බැගෑපත්ව ඉල්ලා හිටියා.

ඉතින් මටත් ඇත්තටම දුක හිතුනා. ජීවිතේ අප්‍රමාණ දුක් විඳල තමන්ට මොනවද සසර ගමනට කරගෙන තියෙන්නෙ? මියගියදාට මොන තරම් අසරණද? කාගෙ පිහිටක්ද? සංසාරෙ ණය ගෙවනවා, ණය ගන්නවා හැර මේ ලෝකෙ වෙන මොනවද කරන්න තියෙන්නෙ?... මේ ආදී වශයෙන් මමත් හිත හිතා ගොඩක් කරුණු කාරණා පිළිබඳව ඒ උපාසිකාවටත් තෝරල දුන්නා. නමුත් ඉතින් මම බණ දහම් පැත්ත කතා කළාට ඇයගේ ප්‍රශ්නයට උත්තරයක් දුන්නෙ නෑ. ඒකට හේතුව තමයි, මම ඒ උපාසිකාව සමග තවත් ප්‍රධාන උපාසිකාවෝ කිහිප දෙනෙක්ම ඒ කාලෙ අබේරත්න උපාසක මහත්තය ළඟට එක්කරගෙන ගිහින් සෙත් බුද්ධ පූජාවලට සම්බන්ධ කළත්, ඒ අය වෙහෙර විහාරස්ථානවලට මොන තරම් උදව් උපකාර කළත්, ලෝක සම්මත බෞද්ධයො විතරයි. ඒ අය ඒ කාලෙ විහාරස්ථානවල ප්‍රධාන උපාසිකාවො වගේම බණ කතා, ජාතක කතා, පිරිත්, බෝධි පූජා කවි, ගාථා එහෙම ගොඩක් පාඩම් කරගෙන හිටපු

අය නිසා හරියට අහංකාරව තමයි ඒ කාලෙ හිටියෙ. මම ගිහි උපාසක මහත්තයෙක්ගෙන් බණ අහන්න යනව කියල ඒ අයට ඒ කාලෙ මම ගැන කිසිම ප්‍රසාදයක් තිබුනෙ නෑ. මට ඉතින් මුහුණට මොකුත් නොකිව්වට පිට අය එක්ක කියනවා, හාමුදුරුවො රැවටිලා හිටියට, අනික් අයත් රවට්ටල අබේරත්න උපාසක මහත්තය ළඟට, වහරක විහාරස්ථානයට යැව්වට අපි නම් හාමුදුරුවන්ට රවට්ටන්න බෑ, අපි ඒවට අහුවෙන්නෙත් නෑ... ආදී වශයෙන්.

ඒ නිසා මමත් ඉතින් ඒ අය වහරක හාමුදුරුවන්ට අකමැති නිසාත්, බොහොම අහංකාර ලීලාවෙන් හිටපු නිසාත්, එකපාරටම උත්තරයක් නොදී මෙහෙම කිව්වා. ඕව නම් ඒ තරම් ප්‍රශ්න නෙවෙයි, බොහොම සුළු දේකින් විසඳගන්න පුළුවන්, නමුත් ඉතින් අපි කියන ඒව පිළිගන්නෙත් නැනෙ, ඒ නිසා ඒවට අපි මොනව කරන්නද? මේ උපාසිකාව අඬ අඬා තමන්ගෙ ජීවිත කතාව කිව්වම මම ඒ සියල්ල බොහොම සැහැල්ලුවෙන් තමයි අහගෙන හිටියෙ. මම ඉතින් කල්පනා කළා, එදා බණ කිව්වට වහරක අබේරත්න උපාසක මහත්තය ළඟට එක්කරගෙන ගිහින් ආශිර්වාද සෙත් බුද්ධ පූජාවලට සම්බන්ධ කළාට වැඩක් වුනේ නැනෙ, නමුත් දැන් නම් ඉතින් දහම් මාර්ගය පහදල දෙන්න හොඳම වෙලාව ඇවිත් තියෙන්නෙ කියල. මොකද මට මෙච්චර උදව් උපකාර කරන අයට ඒ වෙනුවෙන් කරන්න තියෙන ලොකුම උදව්ව තමයි පැහැදිලි පිරිසිදු දහමට යම් පැහැදීමක් හරි ඇති කිරීම. මගේ මව්පියන් වගේම මට උදව් උපකාර කළ අයට මමත් පුළුවන් විදිහට කෘතෝපකාර කළ යුතුයි කියල තමයි මම හිතාගෙන හිටියෙ.

අන්තිමට මේ උපාසිකාවත් ඇතිවෙන කල්ම තමන්ට තියෙන ප්‍රශ්න කියාගෙන ගියා. ඇගේ හිතේ තිබුන බර සැහැල්ලු වෙන්න, හිත නිදහස් වෙන්න පැය ගණනක් ජීවිත කතාව කියනකල් මමත් අහගෙන හිටියා. අන්තිමට මගෙන් අහනවා, අනේ ස්වාමීන් වහන්ස මට මේ තියෙන ප්‍රශ්නවලට මොනවද කරන්න ඕන කියල. කොහොම හරි මම ඉතින් කතා කර කර ඉන්න ගමන් කිහිප වතාවක්ම මෙහෙම කිව්වා. ඕවට කරන්න දේවල් නම් තියෙනවා, අපි කිව්වට ඒව කරන්නෙත් නැති නිසා, කියන ඒවා පිළිගන්නෙත් නැති නිසා අපි මොනව කරන්නද? අනුන්ගෙ දුක් අපිට නැති කරන්න බෑ. අපිට පුළුවන්



විශේෂ ආශිර්වාද සෙත් බුද්ධ පූජාවකින් පසු, තිරිසන් සතුන්ගේ පෙර අත්බැව් ආදිය විස්තර කරමින් කෑමට යමක් දුන් අවස්ථාවක්

යම් තරමකට උදව්වක් වශයෙන් යමක් පැහැදිලි කරල තේරුම් කරල දෙන්න විතරයි. නමුත් ඉතින් අනුගමනය කිරීම හෝ නොකිරීම ඒ ඒ අය කළ යුතු කාරියක්. ඒකට අපිට කරන්න දෙයක් නෑ. මේ විදිහට මම කියනකොට ඒ උපාසිකාවත් ඒවට හූමිටි දීගෙන අහගෙන හිටියා.

ඒ අවස්ථාවෙ මම අබේරත්න උපාසක මහත්තය නිසා විවිධ රෝගීන් සුවපත් වෙච්ච ආකාරයත්, ඒ සඳහා කරපු ප්‍රතිකාර පිළිබඳවත් දීර්ඝ විස්තරයක් කිව්වා. එහෙම කියන්න කියන්න ඒ උපාසිකාවට ඒවාට විසඳුම් ලබා ගැනීමේ අවශ්‍යතාවය තවත් වැඩි වුනා. මමත් ඉතින් නොතේරෙන විදිහට තවත් රෝගීන් සුවපත් වෙච්ච ආකාරයත් කිව්වා. එතකොට ඇය මෙහෙම කියනවා. අනේ ස්වාමීන් වහන්ස මට තවත් දෙයක් කියන්න තියෙනවා, මම මේවා ඔබවහන්සේට කොහොමද කියන්නෙ කියලත් හිතෙනවා, ඒ වුනත් මම මේවා කියන්නෙ නැතිව මගේ ප්‍රශ්නවලට විසඳුමක් ලබා ගන්නත් බැරි නිසයි මම මේ කියන්නෙ, වැරැද්දක් තියෙනව නම් මට සමාවෙන්න කියල තවත් මහා දිග කතාවක් කියාගෙන ගියා.

මගේ මිණිබිරිය එක්ක විවාහ වෙන්න විසාල පිරිසක් කතා කළා. නමුත් ඉතින් හිතාගන්නත් බැරි විදිහට ඒ යෝජනා වෙනස් වෙලා යනවා. දැනටමත් මගේ මිණිබිරියට වයස ගිහින්. ඒකත් මට මහා ප්‍රශ්නයක්. තව ටික දවසකින් ගෙදරට නාකි වෙයි කියලත් මට බයයි. ඒ වගේම මේ මෑතකත් තරුණ පිරිමි දරුවෙක් දැන හඳුනගෙන විවාහ වෙන්න දින නියම කරගෙන හිටියෙ. මේ ළඟදි දවසක මිණිබිරිය එක්ක රෑ පැය දෙකක් විතර ඒ තරුණ දරුවා දුරකතනයෙන් කතා කර කර හිටියා. අපිත් ඉතින් දෙපැත්තෙන්ම වැඩිහිටි අය කැමති නිසා ඒ තරම් ඒව ගණන් ගත්තෙ නෑ. රෑ එහෙම කතා කරල නතර වුනාට පස්සෙ ඒ දුරකතනයට තවත් තරුණ පිරිමි දරුවෙක්ගෙන් ඇමතුමක් ඇවිත් තියෙනවා. මම ඉන්නෙත් උඹ යාළු වෙලා ඉන්න කොල්ලගෙ මගුල් ගෙදර, එයාගෙ මංගල උත්සවය අදයි හෙටයි, උඹ බොරුවලට රැවටෙන්න එපා, මම කතා කරපු දුරකතන අංකය දෙන්නත් එපා කියල ඔහු මිණිබිරියට කතා කරල කියල තියෙනවා.

ඊට පස්සෙ මගේ මිණිබිරිය නැවතත් තමන් එක්ක විවාහ වෙන්න ඉන්න තරුණයට කතා කරල ඒක ඇත්තද කියල ඇහුවම ඔහු කියනවා, පිස්සුද මගේ මංගල උත්සවයක් කොහෙද තියෙන්නෙ, මම ඉන්නෙ නම් මගුල් ගෙදරක තමයි ඒ මගේ යාළුවෙක්ගෙ මගුල් ගෙදරක කියල. නැවතත් ඒ කතාව අවසන් වුනාට පස්සෙ පෙර කතා කරපු නන්නාඳුනන තරුණයා කතා කරල මෙහෙම කියල තියෙනවා. දෙවෙනි වතාවටත් උඹ එක්ක කතා කරනවා මමත් අහගෙන හිටියෙ. ඔහු මගේ හොඳම යාළුවා තමයි. ඒ වුනත් මටත් නංගිලා දෙන්නෙක් ඉන්නවා. මම කැමති නෑ අසාධාරණ වැඩවලට. උඹ මාව විස්වාස කළත් නොකළත් මට කමක් නෑ. මම නැවත කියන්නෙත් නෑ, කියන්න ඕනත් නෑ. උඹ යාළු වෙලා ඉන්න කොල්ලගෙ මගුල් ගෙදර තමයි මම ඉන්නෙ. උඹව රවටන එක තමයි ඔය කරන්නෙ. මම කියන ඒව බොරු නම් අහවල් ගමට කවුරු හරි යවල හොයල බලන්න එතකොට ඇත්ත නැත්ත දැනගන්න ලැබෙයි. මම නැවත කතා කරන්නෙත් නෑ උඹ ඕන දෙයක් කර ගනින්... මෙහෙම කියල දුරකතන ඇමතුම අවසන් කරල තියෙනවා.

මේ සිදුවීම මිණිබිරියට මහා ප්‍රශ්නයක්. තමන් විවාහ වෙන්න ඉන්න තරුණයා කියන ඒවා ඇත්තද, නැත්නම් හඳුනන්නෙ නැති තමන් විවාහ වෙන්න ඉන්න කෙනාගෙ යාළුවා කියන ඒව ඇත්තද? මේක කොහොම හරි රෑ එළිවෙනකල්ම කල්පනා කර කර අඬ අඬා ඉඳල උදේ පාන්දරම තාත්තට කතා කරල, ඊයෙ රෑ මේ වගේ දෙයක් සිද්ධ වුනා, ඒ නිසා තාත්ත දැන්ම අහවල් ගමට ගිහින් මේ ගැන හොයල බලන්න කියල කිව්වම, තාත්ත දුවගෙ ප්‍රශ්න ගැනත් ගෙදර තියෙන ප්‍රශ්න ගැනත් හිතල ඒ වෙලාවෙම කියපු තොරතුරු ඔස්සේ හොයාගෙන ඒ ගමට ගියා. ගිහින් බලනකොට ඒ තරුණයගෙ විවාහ වීමේ උත්සවය තමයි කලින් දවසෙ තිබිල තියෙන්නෙ. ඉතින් මේ විදිහට තමයි මගේ මිණිබිරියගේ විවාහ යෝජනා කඩාකප්පල් වෙලා යන්නෙ. අනේ ස්වාමීන් වහන්ස මම මේ කපුකමක් කතා කරන්න කියනව නෙවෙයි, මෙහෙම තව ටික කාලයක් ගියොත් ඒ අය ඔක්කොටම පිස්සු හැදෙයි කියල මට හරි බයයි. ඒ නිසා මට මගේ ගෙදර ප්‍රශ්නවලට මොනව හරි උදව්වක් කරන්න කියල ඒ උපාසිකාව පොඩි ළමයෙක් වගේ අඬ අඬා කිව්වා.

මම දැන ගත්තා, දැන් නම් හොඳම වෙලාව තමයි මේ අයට දහම දෙන්න කියල. මම කිව්වා, මම ඔය මැණියන්ට යමක් කියන්නම් කරනවද කියල. එතකොට එක පාරටම කියනවා ඔව් ඔව් ස්වාමීන් වහන්ස, ගෙදර තියෙන ප්‍රශ්න විසඳගන්න මම ඕනම දෙයක් කරනවා, ගෙදර අය ගැන නම් මට මොකුත්ම කියන්න බෑ, මට තනියම කරන්න පුළුවන් ඕනම දෙයක් මම කරනවා කියල. එතකොට මම මෙහෙම කිව්වා. එහෙනම් වහරක අරිය චින්තාශ්‍රම බෞද්ධ විහාරස්ථානයට ගිහින් මේ මේ දේවල් පූජ කරල විශේෂ ආශිර්වාද සෙත් බුද්ධ පූජාවට සම්බන්ධ වෙලා ඒ ස්ථානයේ තියල තියෙන ධර්ම චක්‍ර සංකේතයේ මෙන්න මේ විදිහට පඬුරක් ගැට ගහන්න. හැබැයි ඉතින් මේ විදිහට දින 7 කරන්න ඕන. දින 7 අවසන් වෙනකොට මෙච්චර කාලයක් තිබුන සියලු ප්‍රශ්න විසඳෙයි. ඒක මට ඒකාන්තයෙන්ම විස්වාසයි. නමුත් ඉතින් ඔය මැණියන්ට ගෙදර තියෙන ප්‍රශ්නත් එක්ක සමහර විට දින 7 ක් පූජාවට යන්න බැරිවෙයි. කොහොම වුනත් කමක් නෑ අඩුම තරමෙ දින 3 ක් වත් යන්න. ගිහින් මම කියල දුන්න ආකාරයට සම්බන්ධ වෙලා පඬුරු ගැට ගහන්න. දින 3 කින් තියෙන ප්‍රශ්න විසඳුනේ නැත්නම් තවත් දින 4 ක් ගිහින් සම්බන්ධ වෙන්න. තමන්ගෙ ප්‍රශ්න කරදර බාධක නිකම්ම නැති කරගන්න බෑ. තමනුත් ඒ සඳහා කැප වෙලා අවංකවම කටයුතු කරන්න ඕන. ඔය කියපු ප්‍රශ්න දිහා බැලුවම දින 7 ක් ආශිර්වාද සෙත් බුද්ධ පූජාවට සම්බන්ධ වෙන්න බැරිද කියල මම ටිකක් වැඩිපුර කරුණු කාරණා ඒ අයට කියල දුන්නා.

මම එහෙම කියන්නත් හේතුවක් තිබුනා. ඒ උපාසිකාව අවුරුදු 30 - 35 ක් විතර දීර්ඝ කාලයක් පෝය දවස්වල සිල් සමාදන් වෙලා හිටපු කෙනෙක්. ඒ කාලය තුල බුද්ධ පූජා ගාථා, බෝධි පූජා කවි, සෙත් පිරිත්, ජාතක කතා, බෝධි සත්ත්ව කතාවල නම් ගම්... මේ ආදී වශයෙන් මොනව හරි අනික් අයට වඩා වැඩිපුර යමක් කටපාඩම් කරගෙන හරිම මාන්නයෙන් අහංකාරකමින් තමයි කටයුතු කළේ. **සමහර අය, තමන් දන්න කියන දේ හරි, අනික් අය හිතන කියන කරන සියල්ල වැරදියි කියන දෘෂ්ටිවල තමයි ඉන්නෙ.** එබඳු අය නිහතමානීව ධර්ම සාකච්ඡා කරන්න ඕන, බණ අහන්න ඕන. ඒ නිසයි මම එහෙම කිව්වෙ.

හැබැයි ඉතින් ඊට පස්සෙ සිල් සමාදන් වෙන කණ්ඩායමේ ප්‍රධාන උපාසිකාවන් අතර තිබුන තවත් රහසක් හෙළි වුනා. ඒ උපාසිකාව මට කියනවා, අනේ ස්වාමීන් වහන්ස අපිත් එක්ක සිල් සමාදන් වෙන අය අතර ඉන්න... කියන අපි හතර පස් දෙනාම මේ විදිහට කතා වෙලා හිටියෙ. අපි ගිහි මිනිස්සු ළඟට බණ අහන්න යන්නෙ නැතිව ඉදිමු. ඒ මිනිස්සු කොහොමද බණ දන්නෙ? අළුත මහණ වුන අයට පුළුවන්ද ඔහොම බණ කියන්න? අපි වහරක පන්සලේ කිසිම දේකට සම්බන්ධ නොවී ඉදිමු කියල අපි කතා වෙලා පොරොන්දු වෙලා තමයි හිටියෙ. ඒ වුනත් කමක් නෑ, ස්වාමීන් වහන්සේ ඔච්චරටම කියන නිසාම මම ඒ අයට හොරෙන් වහරක පන්සලට යන්නම්. ගෙදර අය දැන ගත්තොත් මට ගුටි කන්න තමයි වෙන්නෙ. මම ගෙදර අයට බොරුවක් කියල හරි වහරක පන්සලට යනවා. හැබැයි මගේ ගෙදර ප්‍රශ්න ටික විසඳුනොත් මගේ පණ යනකල්ම මම වහරක පන්සලවත් වහරක ස්වාමීන් වහන්සේවත් කවදාවත්ම අමතක කරන්නෙ නෑ. ඒ ස්වාමීන් වහන්සේ කියන බණ අහනවා. භාවනා කරනවා. ඒ බණ පොත්පත් එහෙම බලනවා. ඒ දහම මම පිළිගන්නවා. ලබන සතියෙම ආශිර්වාද සෙත් බුද්ධ පූජාවට සම්බන්ධ වෙන්න යනව කියල ඒ වෙලාවෙ මට පොරොන්දු වුනා. මම කිව්වා, ඔව් ඔව් එහෙම හොඳයි, මම වැඩිපුරත් එක්ක තමයි දින 7 ක්ම ආශිර්වාද සෙත් බුද්ධ පූජාවට යන්න කිව්වෙ, දින 3 ක් ගියත් ඇති, මට ඒකාන්තයෙන්ම විස්වාසයි ඔය මැණියන්ගෙ සියලු ප්‍රශ්න විසඳෙනවා කියල.

ඉතින් ඒ උපාසිකාවත් ගෙදර අයට බොරු කියල වෙනත් ගමනක් යන විදිහට ගෙදරින් පිටත් වෙලා ආශිර්වාද සෙත් බුද්ධ පූජාවට ඉඳල අපි කියපු විදිහටම පඬුරුත් ගැට ගහල ආවා. ඇවිත් මට මෙහෙම කියනවා. මම හොරෙන්ම ඒ පන්සලට ගියා. කියපු විදිහටම භාරහාර වුනා. පඬුරු ආදියත් ගැට ගැහුවා. ආශිර්වාද සෙත් බුද්ධ පූජාවටත් සම්බන්ධ වුනා. අනේ ස්වාමීන් වහන්ස, මේ බවක් අපේ ගෙදරට ආරංචි වෙන්න තියන්න එපා. ඇය මෙහෙම කිව්වම, මමත් ඉතින් හා හොඳයි කියල හිටියා. මහා පුදුම සිදුවීමක් තමයි වුනේ. ආශිර්වාද සෙත් බුද්ධ පූජාවට ඉඳල පඬුරු ගැට ගහල භාරහාර වෙලා ආපු මුල් සතියෙම ඒ උපාසිකාවගෙ මිණිබිරියට වෙනත් ගමක දන්න හඳුනන කෙනෙක්ගෙන් විවාහ යෝජනාවක් ආවා. දෙපාර්ශවයේම කුලමල ජාතිත් ගැලපෙනවා. සියලු සුදුසුකම් ඇතිව බොහොම ගැලපෙන යෝජනාවක්. මව්පියන් වගේම දෙපාර්ශවයේම ඥාති පිරිස, උස මහත, වයස, රැකියා, දේපළ... ආදී සියලු සුදුසුකම් සම්පූර්ණ කරපු කෙනෙක් තමයි හමු වුනේ. දෙවෙනි ආශිර්වාද සෙත් බුද්ධ පූජාවට පෙර සියලු කාරණා ගැන සතියක් ඇතුලත තීන්දු තීරණවලට ඇවිත් තිබුනා. කොහොම නමුත් පූජා තුනකට සම්බන්ධ වෙන්න පෙර, ඒ කියන්නෙ සති 3 කට පෙර මිණිබිරියගේ විවාහ මංගල උත්සවයත් අවසන් වුනා. ඒ ගෙදර සියලු සම්පත් ටිකත් මිණිබිරියට හම්බ වුනා. ඒ ගෙදර හිටපු එකම දරුවා. හිතාගන්න බැරි විදිහට සියලු ප්‍රශ්න විසඳුනා. පසු කාලයෙදි කොළඹ ප්‍රදේශයේ පදිංචි වෙලා ඉඳල ඉතා කෙටි කාලයක් තුල ඒ දෙපළම විදේශගත වුනා. එතනදි විසාල ආදායමක් එන රැකියාවක් ලැබිල ලංකාවට වරින් වර ඇවිත් මව්පියන් බලල යනවා. දැන් මිණිබිරියගේ ළමයි දෙන්නෙක් විදේශ රටවල තමයි අධ්‍යාපනය ලබන්නෙ. ඒ පවුල වැඩිපුර ඉන්නෙ විදේශගත වෙලා.

මිණිබිරියගේ උත්සව කටයුතු අවසන් වෙලා අවුරුදු ගණනාවක් ගිහින් මිණිබිරියට දරුවන් දෙන්නෙකුත් ලැබුනට පස්සෙ අර ප්‍රධාන උපාසිකාවත්, මිණිබිරියගේ පියාත් මියගියා. දැන් ඒ ගෙදර ඉන්නෙ ප්‍රධාන උපාසිකාවගේ දියණියත් සේවිකාවත් විතරයි. ඔය කියන මියගිය ප්‍රධාන උපාසිකාව මියගිය අවස්ථාවෙ අවසන් කටයුතු සිද්ධ කරන්න කලින් දවසෙ ඒ මළගෙදරට මමත් වැඩම කරල ටික වෙලාවක් කතාබහ කර කර හිටියා. එතනදි තමයි මම ඒ මිණිබිරියව භාරහාර වෙලා සුව වුනාට පස්සෙ පළවෙනි වතාවට දැක්කෙ. ඒ අවස්ථාවෙ ඇය තමන්ගෙ කුඩා දරුවො දෙන්න එක්ක ඇවිත් අඬ අඬා තමන්ගෙ කිරිඅම්මගෙ ගුණ කිය කිය හිටියා. කුඩාම දරුව මගේ ළඟට දුවගෙන ඇවිත් කියනවා, සාධු, කිරිඅම්ම තවම බුදියනවා, තවම බත් කැවෙත් නෑ කියල. ඉතින් ඒ වෙලාවෙ මට මතක් වුනා මේ සංසාරෙ හැටි. කිරිඅම්ම ගත කළ ජීවිතයත් දරු මුණුබුරන් වෙනුවෙන් දෙමව්පියන් කරන කැප කිරීමත් සමහර අය දන්නෙ නෑ. නමුත් ඉතින් එතන හිටිය සෙසු අයට නම් තවත් බොහෝ කාලයක් යනකල් නිවන් මාර්ගයක් හමුවෙයි කියල හිතන්නවත් අමාරුයි.

කොහොම නමුත් ඒ උපාසිකාවට පළවෙනි ආශිර්වාද සෙත් බුද්ධ පූජාවට සම්බන්ධ වුනාම සියලු ප්‍රශ්න විසඳුනා. ඊට පස්සෙ ඇය විහාරස්ථානයට ආපු හැම අවස්ථාවෙම දෙතුන් වතාවක්ම මට පිං දෙනවා. ස්වාමීන් වහන්සේ නිසා අපේ ගෙදර තිබුන ප්‍රශ්න සියල්ල විසඳුනා. නැත්නම් අපි සියලු දෙනාටම පිස්සන් කොටුවෙ තමයි ඉන්න වෙන්නෙ. හොඳ වෙලාවට කල් ගිහින් හරි මම මගේ ප්‍රශ්න ටික කියල කළ යුතු දේවල් අහගත්තෙ. නමුත් අපේ ගෙදර අයට නම් මේ කිසිම දෙයක් තවම තේරෙන්නෙ නෑ. මොකද ඒ අය වහරක පන්සලේ නම ඇහුවත් බනිනවා. මම ඉතින් මොනව කරන්නද? වහරක විහාරස්ථානයේ පඬුරු ගැට ගහල ආශිර්වාද සෙත් බුද්ධ පූජාවට ඉඳල මේ සියල්ල විසඳුනා කියන්න ඒ අය දන්නෙත් නෑ. ඒ අයට ඒවා කියන්නත් බෑ. ඒ අය නැවත බැන්නොත් මමත් ඒකෙ කොටස්කරුවෙක් වෙයි කියල මට බයයි. ඒ නිසා මම මොකුත්ම කියන්න යන්නෙ නෑ. ස්වාමීන් වහන්ස මම මැරෙනකල්ම වහරක පන්සලත් ඒ හාමුදුරුවො කියා දෙන දහමත් අත්හරින්නෙ නෑ. මොකද මට ඒ තරම්ම ඒවා විස්වාසයි. මට දැන් තමයි තේරෙන්නෙ වහරක පන්සලට යන අය මොන ප්‍රශ්න තිබුනත් වැල නොකැඩී යන්නෙ ඇයි කියල. ඒ දවස්වල දන්නෙ නැතිව මමත් බැන බැන ඉඳල තියෙනවා. අනේ ස්වාමීන් වහන්ස, මමත් එක්ක වහරක පන්සලට නොයන්න තීරණය කළ අය ගැන මට හරි දුකයි, මම කොහොමද මේව ඒ අයට කියන්නෙ? ඒ අයත් දන්නෙ නෑ ඒවායේ තියෙන වටිනාකම...

ඒ උපාසිකාවගෙ බලාපොරොත්තුව තමන් එක්ක එකට හිටපු අය මේ දහම් පැත්තට හරව ගන්නෙ කොහොමද කියල. මම කිව්වා, ඔය මෑණියන්ට මොන තරම් අමාරුවෙන්ද දහම් පැත්ත කියල දුන්නෙ, අවුරුදු ගණනාවකට පසුවයි දහම් පැත්ත පිළිබඳව ඔය තරම්වත් පැහැදුනේ. අනික් අයත් ඒ වගේ තමයි. කවදහරි දවසක ඒ අයටත් තේරුනාම ඒ අයත් ඔය වගේ සම්බන්ධ වෙයි, එතකල් ඉවසල ඉන්න, වෙන කරන්න දෙයක් නෑ කියල මම කිව්වා. ඔව් ස්වාමීන් වහන්ස, හොඳ දේ වුනත් හැමෝටම දෙන්නත් බෑ කියල තේරෙන්නෙ දැන් තමයි කියල ඒ උපාසිකාව කිව්වා.

ඒ වගේම වහරක අභයරතනාලංකාර මහ තෙරුන් වහන්සේව උපාසක මහත්තයෙක් විදිහට කටයුතු කරපු කාලයේ පටන් ළඟින් ඇසුරු කරපු තවත් උපාසක මහත්තයෙක් තමන්ට ඇතිවෙච්ච තදබල රෝග පීඩාවක්, අබේරත්න උපාසක මහත්තයගෙ ප්‍රතිකර්මයක් නිසා සුව වෙච්ච ආකාරය විස්තර කළේ මේ විදිහට.

මට හිටි ගමන් අර්ශස් වගේ විසප්පු ගෙඩි වර්ගයක් හැදුනා. ඒකෙන් ආපු වේදනාව නම් දරාගන්න තියා හිතා ගන්නත් බෑ. හැබැයි කොච්චර වේදනා ආවත් මම ඒ කාලෙ අබේරත්න උපාසක මහත්තය පවත්වපු පූජාවලටත් ගියා, බණත් ඇහුවා. ඒවායින් තමයි ටිකක් හරි සමනය කරගත්තෙ. වෛද්‍යවරු ළඟට ගියාම කිව්වෙ මූල අර්ශස් කියන රෝගී තත්ත්වය තියෙන්නෙ සැත්කමකින් ඉවත් කරන්න ඕන කියල. නමුත් සැත්කමක් කරන්න මම කැමති වුනේ නෑ. පස්සෙ බැරිම තැනම මම අබේරත්න උපාසක මහත්තයගෙන් මේකට හේතුව ඇහුවා. මහත්තය සමාධියට යොමු කරල බලල ඒකට මූල හේතුව වෙච්ච කර්ම විපාකයත් ඒ සඳහා ප්‍රතිකර්මයත් කිව්වා.

මම පෙර අත්භවයක, මනුස්සයෙක් පොල් හිටවන්න වත්තෙ වළවල් කපල තියෙනකොට ඒ වළකට පහරල තියෙනවා. ඔහුත් එක්ක ඇතිවෙච්ච අමනාපයක් මත තමයි එහෙම එරෙහිකමක් කරල තියෙන්නෙ. ඉතින් ඒ මනුස්සය පොල් හිටවන්න යනකොට තමයි ඒක දැකල තියෙන්නෙ. එතකොට ඔහුට හට ගත්ත ද්වේශය නිසා තමයි මට මේ විදිහෙ විපාකයක් ගොඩ නැගුනෙ. මිනිස්සු අදත් ඔය වගේ වැඩ කරනවා. අදත් ඔය වගේ වැඩක් කළාම කතාවට කියන්නෙ ඕකගෙ .................... ගෙඩි දාන්න ඕන කියල. එදත් ඒ මනුස්සය අන්න එහෙම කතාවක් කියල තියෙනවා. ඒ තුලින් තමයි ද්වේශය නැගිල ඒකෙ හේතු ඵලය විදිහට ක්‍රියාත්මක වුනේ. ඉතින් අබේරත්න උපාසක මහත්තය, මෙන්න මෙහෙම දෙයක් වෙලා තියෙන්නෙ කියල හිනාවෙලා ඒ අතීත සිද්ධිය කියල ඒකට ප්‍රතිකර්මයත් මේ විදිහට කිව්වා.

මේකට බේත් කරල වැඩක් නෑ, ප්‍රතිකර්මය නම් මෙන්න මේක, ඒක කළොත් සුව වෙනව කිව්වා. ඒ ප්‍රතිකර්මය තමයි, **ඉඩම් අයිති පිටස්තර හත් දෙනෙක්ගෙ ඉඩම් හතක තමන්ම වළවල් කපල පොල් පැළය බැගින් හිටවල දෙන්න ඕන. ඒ වගේම ඒ පිටස්තර අය එකම පවුලෙ වෙන්නත් බෑ කිව්වා. ඒක තමයි මහත්තය කියපු ප්‍රතිකර්මය. ඊට පස්සෙ ඒ ගෙඩියට බේත් කළාම සුව වෙයි කිව්වා.**

ඒ වගේම තවත් වැඩක් කරන්න දුන්නා. **දුෂ්කරම ජීවිතයක් ගෙවන මෙහෙණි ආරාමයක ප්‍රතිපත්තිගරුක මෙහෙණියකට වියළි ආහාර ද්‍රව්‍ය පූජාවක් කරන්න කිව්වා. එහෙම කරල ඒ මෙහෙණින් වහන්සේගෙන් ආශිර්වාදය ගත්තම ඒ සියලු ණයෙන් නිදහස් වෙනව කිව්වා.**

ඉතින් මම ඔය ප්‍රතිකර්ම දෙකම කළා. ඊට පස්සෙ අබේරත්න උපාසක මහත්තය ඒ කාලෙ හදපු රක්තවාත තෙල් වර්ගයක් තිබිල ඒක ගෑවා එච්චරයි. ගෙඩිය පැසවල යන්න ඉඩ ඇරියා. ඒක ස්වභාවිකවම පිටවෙන්න ඇරියා. වෙන දෙයක් කළේ නෑ. ඒකෙන් පස්සෙ නැවතත් ඒ රෝගී තත්ත්වය ආවෙ නෑ. හරියට ප්‍රතිකර්ම කර ගත්තෙ නැත්නම් ඒ ගෙඩිය දිගින් දිගටම එයි කියලයි කිව්වෙ. මොකද ඊට කලිනුත් දෙවතාවක් ආවා. මේ ප්‍රතිකර්මයෙන් පස්සෙ තමයි නිට්ටාවට සුව වුනේ. ඒ නිසා මේ වගේ අවස්ථාවකදි ප්‍රතිකර්මය අනිවාර්යයි. මොකද සැත්කමක් කරල ගෙඩිය ඉවත් කළාට අර කර්ම වේගය ගෙවෙන්නෙ නෑ. ඒ සම්බන්ධය තියෙනවා. ඒ ස්ථානයේ නැත්නම්



# සාසනය උදෙසා නොයෙක් දේ පූජා කිරීමේ ආනිසංස

02 කොටස

## පාත්‍ර දානයේ අනුසස්

තථාගතයන් වහන්සේ ඇතුළු සංඝ රත්නයට පාත්‍ර පූජා කිරීමෙන් විවිධ ආනිසංස ලැබෙනවා. රන් තලි, මැණික් තලි, රිදී තලි, රන් මැණික් තලි හැම කාලයේම පරිභෝගයට ලැබීම, උපද්‍රව අනතුරු නැතිවීම, අන්‍යයන්ගේ ගරු බුහුමන් ලැබීම, ආහාර පාන, වස්ත්‍ර, සේනාසන ලැබීම, භෝග සම්පත් විනාශ නොවීම, ස්ථිර නොසැලෙන සිත් ඇති කෙනෙක් වීම, හැම කල්හි ධර්මයට කැමති වීම කියන ආනිසංස ඒ අතර වෙනවා. ඡායාව වෘක්ෂය අත්හරින්නෙ නැතිව වගේ, දෙව් මිනිස් කොතැනක ඉපදුනත් මේ සම්පත් ලැබෙනවා. ඒ වගේම සියලු කෙළෙස් නසා අරිහත්වයට පත්වෙන්නත් මේ වගේ පිංකම් උපනිශ්‍රය වෙනවා.

පාත්‍ර ආධාරක පිදීමේ අනුසස් වශයෙන් කිසිවකට කම්පා නොවීම, සිහි නුවණ ඇති කරන යම් ධර්මයක් ඇහුවම ඒක මනා ලෙස ධාරණය වීම කියන ආනිසංස ලැබෙනවා.

අපදාන පාළියේ එන ආධාරදායක තෙරුන් වහන්සේ සිඛී බුදු රජාණන් වහන්සේට පාත්‍ර ආධාරකයක් පූජා කිරීම හේතු කොටගෙන, ධන සම්පත් සහිතව පොළවට අධිපතිව පාලනය කළ බවත්, එයින් 27 වන කල්පයේ "සමන්ත චරණ" නමින් හතර වතාවක් සක්විති රජ වුන බවත්, සසර ගමනෙදි මුලින් සඳහන් කළ ආනිසංස ලබල ගෞතම බුදුන් වහන්සේගෙ කාලයේ පැවිදි වෙලා අරිහත්වය සාක්ෂාත් කර ගත්ත බවත් සඳහන් වෙනවා.

වෙනත් තැනක ඒක හට ගන්නවා. මොකද ඕවට අමනුස්සයොත් සම්බන්ධයි. එතකොට කපල කොටල ඉවත් කරන්නෙ අමනුස්සය හදා ගත්ත ගුහාව. නමුත් අමනුස්සය කොහේ හරි නැවතත් තැනක් හදා ගන්නවා. ඒක වෛද්‍ය විද්‍යාවට අහුවෙන්නෙ නෑ. ඒ නිසා තමයි බෙත් කරල විතරක් බෑ, ප්‍රතිකර්මය මූලිකයි කිව්වෙ. සමහරවිට හරියට කරගත්තොත් බෙත් නැතිව ප්‍රතිකර්මයෙන්ම සුව වෙන අවස්ථාත් තියෙනවා.

ඒ වගේම පසුගිය කලාපයේ පළ වෙච්ච "සසර ණය ගෙවෙන සේ පොල් පැළයක් හිටවමු" කියන ලිපියෙන් පස්සෙ තවත් වැදගත් සිදුවීමක් දැනගන්න ලැබුනා. පින්වතුන්ට බොහොම වැදගත් නිසා ඒ කාරණයත් මේ විදිහට සටහන් කරනවා. ගොඩගම පදිංචි ආර්. එච්. එම්. දිසානායක මහත්තය ඒ සිදුවීම දැනුම් දුන්නෙ මේ විදිහට.

"වහරක අභයරතනාලංකාර හාමුදුරුවො වැඩ වාසය කරපු අනුරාධපුර පූණ්‍ය භූමිය පසුගිය ජූලි 28 වෙනිදා අංග සම්පූර්ණ විහාරස්ථානයක් විදිහට සකස් කරල සඟ සතු කොට පූජා කළා. ඒ පින්කමට මොණරාගල ප්‍රදේශයෙන් බස් රථයකින් ඇවිත් පිංවත් පිරිසකුත් සහභාගි වුනා. ඒ අය පිංකමෙන් පසුව නැවත ගම රට බලා යනකොට අනතුරකට භාජනය වෙලා තියෙනවා. ඒ බස් රථය ඇතුලෙ හිටපු අවුරුදු 13 ක විතර ළමයෙක් තුවාල වුනා. ඒ ළමයට උප්පත්තියෙන්ම සනීප කරන්න බැරි අසනීපයක් තිබිල තියෙනවා. ඒ තමයි යම් කිසි තුවාලයක් වුනාම ලේ වහනය නතර කරන්න බැරි වීම. ඒක ලොකු ප්‍රශ්නයක්. කොහොම හරි මේ අනතුරින් පස්සෙ ඒ පිරිස මට මේ ගැන දැනුම් දුන්නා. එතකොට මම කිව්වා, බස් එකේ ගියපු අනික් අය ගැන නම් ගැටළුවක් නෑ, ඒත් මේ ළමයගෙ තත්ත්වය අවදානම්, ඉක්මනට ළමය වෙනුවෙන් පොල් පැළයක් රෝපණය කරල අනුමෝදනාවක් කරන්න කියල.

ඒ වෙලාවෙම අනුරාධපුර පූණ්‍ය භූමියේ හිටපු පිරිස ඒ භූමියේම වළවල් 2 ක් කපල මේ ළමය වෙනුවෙන් අධිෂ්ඨානයක් කරල සඟරාවෙ කියල තිබ්බිච්ච විදිහටම පොල් පැළ හිටවල ඒ ස්ථානයේම වැඩ ඉන්න භික්ෂූන් වහන්සේ නමක් ලවා අනුමෝදනාවකුත් කළා. ඊට පහුවදා මේ තුවාල වෙච්ච ළමය බලන්න රෝහලට ගිය අය කියනවා, ඒ ළමයට ප්‍රතිකාර කරන වෛද්‍යවරු කියනවලු, දැන් මේ ළමයගෙ අර කලින් තිබ්බිච්ච ලේ වහනය නතර නොවීමේ රෝගයත් සනීපයි කියල. කොහොම හරි මුලින්ම වෛද්‍ය වාර්තා බලල ඒ අය බය වෙලා බදුල්ල මහ රෝහලටත් මාරු කරල තිබුනා. ඒ තුවාල වෙලා තිබුන හැටියට අර අසනීපය තිබුන නම් එහෙම ගොඩගන්න බෑ."

ඒ වගේම මේ පොල් පැළ සිටුවීම සම්බන්ධයෙන් පළ වෙච්ච ලිපිය කියවල බලල තේරුම් අරගෙන, සමහර විහාරස්ථාන එක්ක මෙච්චර කල් අමනාප වෙලා හිටපු පිරිස් පවා ඒ පැරණි අමනාපකම් අත්හැරල දාල ඒ භික්ෂූන් වහන්සේලා සමග සුහදව කතාබහ කරල මේ විදිහට පොල් පැළ හිටවීමේ ක්‍රියාවලියට බොහොම පැහැදීමෙන් දායක වෙලා තියෙන බවත් වාර්තා වෙනවා. සමහර විහාරස්ථානවලට දැනටමත් විසාල වශයෙන් පිංවත් පිරිස් ඇවිත් පොල් පැළ හිටවන්න අවසර ඉල්ලා ඇති බවත් දැනගන්න ලැබිල තියෙනවා. ඉතින් මේ වගේ සාසනික ප්‍රතිකර්මවල වැදගත්කම මේ සිදුවීම්වලින් තේරුම් ගන්න ඕන.

සටහන

**නීතිඥ චන්දන සිරිවර්ධන**

පත්තදායක තෙරුන් වහන්සේ සිද්ධාර්ථ බුදු රජුන්ට පාත්‍ර දානයක් පිදීම හේතු කොටගෙන, එතැන් පටන් දුගතියක ඉපදෙන්නෙ නැතිව සිව්පිළිසිඹියා, අෂ්ට විමෝක්ෂ, ෂඩ් අභිඥා සහිතව ගෞතම බුදු සසුනේ නිවන් දකින්නත් හේතු වාසනා ලැබුවා.

## දැලි පිහියා දන් දීමේ අනුසස්

විචිත්‍ර මිටවල් ඇතිව මනාකොට කරන ලද දැළි පිහියා බුදු රජුන් ප්‍රධාන මහා සංඝ රත්නයට පූජා කිරීමෙන් පහත ආනිසංස ලැබෙන බව සඳහන් වෙනවා. හැම කල්හිම සූර භාවයට පත්වීම, නොවිසිරෙන සිත් ඇති කෙනෙක් වීම, විසාරද භාවයෙහි පරතෙරට පැමිණීම, ධෛර්ය ඇති කෙනෙක් වීම, වීර්ය ඇති කෙනෙක් වීම, ඔසවා ගන්නා ලද සිත් ඇති කෙනෙක් වීම, කෙළෙස් සිඳින්නා වූ සියුම් වූ අසම සම වූ සුද්ධ වූ ඥාණයක් ලැබීම.

වාසිදායක කියන තෙරුන් වහන්සේ අතීතයේ තීවරා නුවර කම්හල්කරුවෙක් වෙලා ඉන්නකොට, බුදු රජාණන් වහන්සේ නමකට දැළි පිහියක් සකස් කරල පූජා කළා. ඒ පූජාවේ විපාක වශයෙන් දුගතියෙන් වැළකිලා සුගති සම්පත්ම ලැබුවා. ගෞතම බුදුන් වහන්සේගෙ කාලයේ සිව්පිළිසිඹියා, අෂ්ට විමෝක්ෂ, ෂඩ් අභිඥා සහිතව සියලු භව බන්ධනවලින් මිදිල නිවන් පුරයට වැඩියා.

## පිහියා පිදීමේ අනුසස්

අකක්කසේ අපරුසේ
සුධෝතේ සත්ථකේ බහු
පසන්න චිත්තෝ දත්වාන
බුද්ධේ සංඝේච තථේවච

කර්කස නොවූ පරුෂ නොවූ මනා කොට පණ පොවන ලද පිහියා බුදු රජාණන් වහන්සේට, සංඝයාට ප්‍රසන්න සිතින් පූජා කිරීම නිසා ආනිසංස විදිහට යහපත් වූ සිත, වීර්ය, ඉවසීම, මෛත්‍රිය, තෘෂ්ණාව නමැති උල නසන ප්‍රඥාව නමැති කඩුවත්, වජ්‍රායුධය හා සමාන ඥාණයත් ලැබෙනවා.

## ඉඳිකටු පූජා කිරීමේ අනුසස්

තථාගතයන් වහන්සේට, මහා සංඝ රත්නයට ඉඳිකටු පිදීම මහත් ආනිසංසදායකයි. අනුන්ට සැක නැති කෙනෙක් වීම, සැක සිඳින කෙනෙක් වීම, යහපත් රූප ස්වභාවයෙන් යුක්ත වීම, භෝග සම්පත් ඇති වීම, භවයේ හැසිරෙනකොට තියුණු නුවණ ඇති කෙනෙක් වීම, ගම්භීර වූ සියුම් වූ, ස්ථානයට ගැලපෙන අර්ථවත් ඥාණයෙන් යුක්ත වීම, මෝහ අන්ධකාරය දුරු කරන වජ්‍රායුධ වගේ ඥාණය ලැබීම මේ පූජාවේ ආනිසංස විදිහට දැක්වෙනවා.

මෙයින් තිස් දහස් වෙනි කල්පයේ සුමේධ කියන සර්වඥයන් වහන්සේ ලෝකයේ පහළ වුනා. ගෞතම බුදු සසුනේ වැඩ හිටපු සුචිදායක තෙරුන් වහන්සේ ඒ කාලයේ සුමේධ බුදු රජුන්ට සිවුරු මහන්න ඉඳිකටු 5 ක් පූජා කළා. ඒකෙන් ඉතා තියුණු නුවණක් පහළ වුනා. මහත් බල ඇති "ද්විපදාධිපති" කියන සක්විති රජ කෙනෙක් වුනා. සසර බොහෝ ලෞකික සම්පත් ලබල ගෞතම බුදු රජුන් දවස පැවිදි වෙලා සියලු කෙළෙස් නසල අරිහත්වයට පත් වුනා. සිව්පිළිසිඹියා, අෂ්ට විමෝක්ෂ, ෂඩ් අභිඥා ලබල සම්බුදු සසුන සම්පූර්ණ කරගත්තා.

ඒ වගේම ඉඳිකටු දමාගන්න භාජන පූජා කිරීමෙන් චිත්ත සුඛයත්, කාය සුඛයත්, ඉරියව් පැවැත්වීමේ සුඛයත් ලැබෙන බව සඳහන් වෙනවා.

## නිය කපන අවි (නිය කටර්) පිදීමේ අනුසස්

බුදු රජාණන් වහන්සේ ඇතුළු මහා සඟ රුවනට නිය කපන ආයුධ පුදල ආනිසංස ලබපු තෙරුන් වහන්සේ නමක් ගැන සඳහන් වෙනවා. එතැන් පටන් බොහෝ වූ දාස දාසීන්, ගවයන් සහ අශ්වයන්, ආරක්ෂක මෙහෙකරුවන්, කරණවෑමියන් (කෙස් රැවුල් කපන්නන්), බත් පිසින්නන් සසර ගමනෙදි ලබල ගෞතම බුදු සසුනේ අරිහත්වයෙන් නිවී සැනසුනා.

## පවන් අතු, සේසත් පිදීමේ අනුසස්

තථාගතයන් වහන්සේ නමකට පවන් අතු, තල් වැට සේසත් පූජා කරල ආනිසංස ලබපු තෙරුන් වහන්සේ නමක් ගැන සඳහන් වෙනවා. සීත උෂ්ණයෙන් පීඩා නොවිඳීම, ශරීර දාහය ඇති නොවීම, සිත තැවෙන දාහයන් ඇති නොවීම කියන ආනිසංස ලබල රාග ගින්න, ද්වේශ ගින්න, මෝහ ගින්න, මාන ගින්න, දෘෂ්ටි ගින්න ආදී සියලු කෙළෙස් ගිනි නිවා ගන්න ඒ කුසලය හේතු වුනා.

ගෞතම බුදුන්ගේ අග්‍ර උපස්ථායක වූ ආනන්ද හිමියන් ගැන මේ විදිහට සඳහන් වෙනවා. පදුමුත්තර සර්වඥයන් වහන්සේ, ෂඩ් අභිඥාලාභී ලක්ෂයක් මහ රහතන් වහන්සේලා පිරිවරාගෙන ලෝකයාට අමා ධර්මය දේශනා කරමින් වැඩම කළා. මම සේසත දරාගෙන ඇතු පිටින් බැහැල තථාගතයන් වහන්සේට සේසත ඇල්ලුවම මගේ අදහස දැනගත්ත උන්වහන්සේ මේ විදිහට වදාළා.

සේසත ඇල්ලූ මොහු මෙයින් චුත වෙලා තුසිත දෙව්ලොව ඉපදිලා මහත් වූ දිව්‍ය සම්පත් විඳිනවා. 36 වාරයක් සක්‍ර දෙව් පදවියත්, 108 වරක් පොළොවේ රජකමත්, 58 වරක් සක්විති රජ පදවියත්, අප්‍රමාණ ප්‍රදේශවල රාජ්‍ය පදවියත් ලබනවා. ශාක්‍ය කුලයට ධජයක් වගේ ගෞතම බුදු රජුන්ගේ ඥාති වූ ආනන්ද නමින් අග්‍ර උපස්ථායක වෙනවා. වීර්යෙන්, බහුශ්‍රැත භාවයෙන්, ප්‍රඥාවෙන්, නිහතමානිකමෙන් යුක්ත වෙනවා. උතුම් අරිහත්වයට පත් වෙලා පිරිනිවන් පානවා.

ගෞතම බුදු සසුනේ වැඩ හිටපු විධූපනදායක තෙරුන් වහන්සේ පදුමුත්තර තථාගතයන් වහන්සේට වටාපතක් පූජා කරල වන්දනා කරල උතුරු දිසාව බලා ගියා. අසහාය නායක බුදු රජුන් ඒ වටාපත අරගෙන භික්ෂූන් වහන්සේලා මැද මේ විදිහට වදාළා. තථාගතයන් වහන්සේ කෙරෙහි සිත පහදවාගෙන මේ විජිනිපත පූජා කළ පිනෙන් කල්ප ලක්ෂයක් දුගතියකට යන්නෙ නෑ. "විජමාන" නමින් සක්විති රජ පදවිය 16 වතාවක් ලබනවා. පටන් ගන්නා ලද වීර්ය ඇතිව නිවන කෙරෙහි ඇළුනු සිතින්, සමාධි ගුණයෙන් යුක්තව අවුරුදු හතේදි සිව්පිළිසිඹියා, අෂ්ට විමෝක්ෂ, ෂඩ් අභිඥා සහිතව අරිහත්වයට පත්වෙනවා.

නලවාලිය තෙරුන් වහන්සේ පදුමුත්තර බුදු රජුන් කාලයේ බට අරගෙන ඒක විජිනිපතක (වටාපතක) බැඳල තථාගතයන් වහන්සේට පූජා කළා. බුදු රජුන් වටාපත පිළිඅරගෙන මේ විදිහට දේශනා කළා. පවන් සැලීමෙන් මගේ ගත නිවෙන්නා වගේ ඔබේ සිතත් රාගාදී කෙළෙසුන්ගෙන් මිදී සිසිල් වේවා. වනයේ වාසය කරන දෙවිවරු, බුදු රජුන්ගේ මේ අනුමෝදනාව අහන්න රැස් වුනා. දිව්‍ය සමූහයාත් සතුටු කරමින් බුදු හිමි මේ විදිහට වදාළා.

මේ පුණ්‍ය විපාකයෙන් කල්ප ලක්ෂයක් දුගතියෙන් වැළකිලා සුගති සම්පත් ලබමින් එක් කල්පයක "සුබ්බක" නමින් 38 වතාවකුත්, තවත් කල්පයක "මාලුක" නමින්

## සාසනය උදෙසා නොයෙක් දේ පූජා කිරීමේ ආනිසංස

8 වතාවකුත් සක්විති රජ වෙනවා. මේ විදිහට සසර සැප සම්පත් ලබල ගෞතම බුදු රජුන් දවස නලවාලිය තෙරුන් නමින් සිව්පිළිසිඹියා, අෂ්ට විමෝක්ෂ, ෂඩ් අභිඥා සහිතව අරිහත්වයට පත් වෙලා සසර දුකෙන් එතෙර වෙනවා.

ග්‍රීෂ්මය සංසිඳුවා ගැනීම සඳහා තිස්ස බුදු රජාණන් වහන්සේට විජිනි පතක් පූජා කළ තෙරුන් වහන්සේ නමක් ගැන මේ විදිහට සඳහන් වෙනවා. එයින් 62 වෙනි කල්පයේ "මහානාම" නමින් සක්විති රජ පදවි ලැබුවා. විජිනි පත් දානයේ විපාක වශයෙන් එතැන් පටන් සසර දුගතියක ඉපදුනේ නෑ. සිව්පිළිසිඹියා, අෂ්ට විමෝක්ෂ, ෂඩ් අභිඥා ලබල බුද්ධානුසාසනය පූර්ණ කරගත්තා. මේ මගේ අන්තිම ශරීරයයි දරන්නේ.

සුමන කාලවණ්ටිය තෙරුන් වහන්සේ සිද්ධාර්ථ බුදු රජුන් කාලයේදී සමන් මල්වලින් සරසපු විජිනි පතක් උන්වහන්සේට පූජා කළා. එතැන් පටන් දුගතියකට නොගිහින් සුගති සම්පත් ලැබුවා. ගෞතම බුදු රජුන් ළඟට ඇවිත් පැවිදි වෙලා ත්‍රිවිධ්‍යා ලාභීව අරිහත්වයට පත් වෙලා තුන් භවයෙන්ම එතෙර වුනා.

### පෙරහන්කඩ පූජාවේ අනුසස්

තථාගතයන් වහන්සේට, මහ සඟ රුවනට පෙරහන්කඩ පූජා කිරීමත් ආනිසංස ලබන්න හේතු වෙනවා. සියලු දෙනා ඉක්මවා දීර්ඝායුස ලැබීම, සොර සතුරන්ගෙන් කරදර බාධක, බඩු පැහැර ගැනීම්... ආදිය සිදු නොවීම, ආයුධ, වසවිසවලින් හිංසාවක් නොවීම.

### තෙල් බඳුන් පිදීමේ අනුසස්

සාසනය උදෙසා තෙල් බඳුන් පූජා කරල පහත අනුසස් ලබා ගන්න පුළුවන්. මනා රූප සම්පත්තියෙන් යුක්ත වීම, යහපත් වචන ඇති කෙනෙක් වීම, උසස් සිතිවිලි ඇති වීම, සිත වික්ෂිප්ත නොවීම, හැම අතින්ම ආරක්ෂාව සැලසීම.

අබ්භඤ්ජනදායක තෙරුන් වහන්සේ කොණ්ඩඤ්ඤ කියන බුදු රජාණන් වහන්සේට ආලේපන තෙල් පූජාවක් කිරීම නිසා එතැන් පටන් දුගතියකට නොගිහින් සුගති සම්පත් ලබමින් එයින් 15 වන කල්පයේ "විරජ්ජ" නමින් සක්විති රජ පදවිය ලැබුවා. මේ විදිහට සසර සැරිසරාගෙන ඇවිත් ගෞතම බුදු රජුන්ගේ සාසනයේ පැවිදි වෙලා සිව්පිළිසිඹියා, අෂ්ට විමෝක්ෂ, ෂඩ් අභිඥා සහිතව අරිහත්වයට පත් වෙලා සසරින් එතෙර වුනා.



### අංසකඩ පිදීමේ අනුසස්

චේතෝ ඤාණංච වින්දාමි
සරාමි දුතියං භවං
සබ්බත්ථ සුචිජවී හෝමි
තස්ස නිස්සන්දතෝ මම

තථාගතයන් වහන්සේට, මහා සංඝ රත්නයට අංසකඩ පූජා කිරීමෙන් පර සිත් දක්නා නුවණ ලැබීම, පෙර අත්බැව් සිහි කිරීමේ ඤාණය ලැබීම, උපනූපන් අත්බැව්වල ශරීරයේ සම මනා ලෙස ලැබීම කියන ආනිසංස ලබන්න හේතු වෙනවා.

### භාජන පිදීමේ අනුසස්

සර්වඥයන් වහන්සේට, මහා සංඝ රත්නයට, පරිභෝගයට ගන්නා භාජන පූජා කිරීමත් ආනිසංස දායක පිංකමක්. සසර සැරිසරන කොට රනින් කරන ලද, මැණික්වලින් කරන ලද, පළිඟුවෙන් කරන ලද, පියුම් රාමිණියෙන් (පද්මරාග මැණික්) කරන ලද භාජන ලබන්න හේතු වෙනවා. කීකරු භාර්යාවන්, දාස දාසීන්, ඇත්, අස්, රිය, පාබල කියන චතුරංගනී සේනා පරිභෝගය පිණිස ලැබෙනවා. විද්‍යා, මන්ත්‍ර හා ආගමික දර්ශන ඇතුළු සියලු සිල්ප සාස්ත්‍ර ඉගෙනීමේ දක්ෂතාවයන් ලබනවා.

ගෞතම බුදු සසුනේ වැඩ හිටපු භාජන දායක තෙරුන් වහන්සේ අතීතයේ බන්ධුමතී නුවර කුඹල්කරුවෙක් වෙලා කටයුතු කරමින් ඉන්නකොට භික්ෂූන්ට අවශ්‍ය කරන භාජන සම්පාදනය කරල දුන්නා. මෙයින් 91 වන කල්පයේ යම් භාජන පූජාවක් කළේද, එතැන් පටන් දුගතියක ඉපදුනේ නෑ. මෙයින් 53 වන කල්පයේ "අනන්තජාලි" කියන සක්විති රජ පදවිය ලැබුවා. ගෞතම බුදු රජුන් ජීවමාන කාලයේ සාසනයේ පැවිදි වෙලා භාජන දායක නමින් සිව්පිළිසිඹියා, අෂ්ට විමෝක්ෂ, ෂඩ් අභිඥා සහිතව සියලු කෙළෙසුන් නසල නිවන් පූර්ණ කරගත්තා.

"ථාලක" කියන්නෙ තැටිවලට හා පිඟන් වගේ ගැඹුරු නැති භාජනවලට කියන නමක්. මේවා පූජා කිරීමෙන් පහත ආනිසංස ලැබෙන බව සඳහන් වෙනවා. රන්මුවා, මිණිමුවා, පළිඟුමුවා, පද්මරාග ආදියෙන් සකස් කරපු භාජන, බෝපත් සටහන් තලි, මීපැණි පානය කරන භාජන, තවත් නොයෙක් තලි ලබන්න හේතු වෙනවා. වතේ (වැඩ පිළිවෙලේ), ගුණයේ, ප්‍රතිපත්තියේ, ආචාර ක්‍රියාවන්වල මැනවින් පිහිටීමේ ගුණ ලැබෙනවා.

### බෙහෙත් පූජා කිරීමේ අනුසස්

ඖෂධ පූජා කිරීම සැහෙන ආනිසංස ලැබෙන පිංකමක්. ආයුස, බලය, වීර්ය, ශරීර වර්ණය, පටිභාන නුවණ, යසස, සැපය, උපද්‍රව අනතුරු නැතිවීම, හැම කල්හි අනුන්ගේ ගරු බුහුමනට ලක්වීම, ප්‍රිය විප්‍රයෝග දුකක් ඇති නොවීම කියන කාරණා ලබන්න හේතු වෙනවා.

හැබැයි මේ ප්‍රිය විප්‍රයෝග දුකක් ඇති නොවීම කියල කිව්වෙ, තමන් ප්‍රිය කරන ඥාති හිතෛෂීන්ගෙන් වෙන් වෙන්න සිද්ධ නොවෙනවා කියන එක නෙවෙයි. මේ සසර ගමන් කරන හැමෝටම ඒ වගේ අවස්ථාවන්ට මුහුණ දෙන්න අනිවාර්යෙන් සිද්ධ වෙනවා. මේ කියන්නෙ, ඒ වගේ අවස්ථාවකදි වුනත් හිතට දුකක් සෝකයක් ඇති නොවී දරාගන්න පුළුවන් හැකියාව ලැබෙනවා කියන කාරණය. උදාහරණ විදිහට බන්ධුල මල්ලිකා බිසවගෙ දරු දෙන්නයි, ස්වාමි පුරුෂයයි (රජතුමයි) යුද්ධයෙන් මියගියා. ඒ පණිවිඩය ලැබිච්ච වෙලාවෙත් ඇය කිසිම දුකක් කම්පනයක් ඇති කර නොගෙන මහා සංඝයාට දන් බෙදුවා. ඒ වෙලාවෙ සේවිකාවක් අතින් ගිතෙල් කලයකුත් බිඳුනා. ඒකටත් හිත නරක් කරගත්තෙ නෑ. අන්න ඒ වගේ අවස්ථාවන්ට මුහුණ දෙන්න ශක්තිය ධෛර්ය ලැබෙනවා කියන එකයි මේ කියන්නෙ.

ගෞතම බුදු සසුනේ නිරෝගී භික්ෂූන් වහන්සේලා අතර බක්කුල මහ රහතන් වහන්සේ සුවිශේෂීය උතුමෙක්. සසර ගමනේදි බුදු රජාණන් වහන්සේලාට, ශ්‍රාවකයන් වහන්සේලාට රෝග හැදුන අවස්ථාවල ඖෂධ හොයල ප්‍රතිකාර කරපු පුණ්‍ය විපාක හේතුවෙන් බක්කුල හාමුදුරුවො නිරෝගී වෙන්නත්, අවුරුදු 160 ක් තරම් පරමායුස කාලයත් ඉක්මවල දීර්ඝායුස ලබන්නත් හේතු වෙලා තියෙනවා.

විපස්සී බුදු රජාණන් වහන්සේ හැට දාහක් පමණ භික්ෂූන් පිරිවරාගෙන ධර්ම චාරිකාවේ හැසිරෙමින් ඛේෂ්ම කියන මුව වනයට වැඩම කරල වාසය කළා. ඒ කාලෙ ඔහු ඍෂි පැවිද්දෙක්. මේ කාලයේ හිමාලයේ විස මල් වර්ගයක් පිපිල ඒ විස සුළඟ හරහා ඇවිත් විපස්සී බුදු හිමිත්, අගසව් දෙනමත් හැර සෙසු සියලු දෙනා වහන්සේම රෝගී වුනා. ඒ රෝගය "විස පුෂ්පක" රෝගය විදිහට හැඳින්වුනා. මේක දැනගත්ත තවුසා ඖෂධ වර්ග රැස් කරල ඒ සියලු දෙනා වහන්සේලාටම ප්‍රතිකාර කරල සුවපත් බාවය ලබා දුන්නා. ඒ තවුසා නොපිරිහුන ධ්‍යාන ඇතිව වාසය කරල බඹ ලොව ඉපදුනා.

මේ විදිහට සසර සැරිසරාගෙන එනකොට අනෝමදස්සී බුදු රජාණන් වහන්සේගෙ කාලයේ හිමාලයේ සෝභිත කියන පර්වතයේ අසපුවක් හදාගෙන ශිෂ්‍ය පිරිසක් සමග වාසය කළා. අනෝමදස්සී බුදු රජුන් දවසක් විවේකය සඳහා ඒ අසපුවට වැඩියා. ඒ වෙලාවෙ උන්වහන්සේට මහත් වූ වාතාබාධයක් හට ගත්තා. තමන්ගෙ ශිෂ්‍යයන් සමග එකතු වෙලා ඖෂධ හොයල බෙහෙත් සකස් කරල බුදු රජුන්ට පිළිගැන්නුවා. ඒ බෙහෙත වැළඳීමෙන් තථාගතයන් වහන්සේගේ වාතාබාධය එවෙලෙම සුව වුනා.

ලොව්තුරා බුදුවරයෙකුගේ රෝගය සුවපත් කළ පිනෙන් කල්ප ලක්ෂයක් දෙව් ලොව ඉපදිලා දෙව් සැප විඳල නැවත මිනිස් ලොව උපන් අවස්ථාවල දහස් වාරයක් සක්විති රජ පදවි ලැබුවා. ඒ වගේම සතර මහා දිවයිනට අධිපති "අනෝම" නම් සක්විති රජෙක් වෙලා තව්තිසා දෙව්ලොවත් කැළඹීමට පත් කළා. දෙව් මිනිස් කවර අත්බැවක් ලැබුවත් රෝගයන්ගෙන් මිදිල නිරෝගී බව ලැබුවා.

මේ විදිහට සසර ගමන් කරන කොට කාශ්‍යප බුදු රජුන්ගේ කාලයේ බරණැස් නුවර කුල ගෙදරක ඉපදිලා තරුණ වියට පැමිණුනාම තමන්ගෙ දිරාගිය නිවස සකස් කර ගන්න ලී දඬු සෙවීම සඳහා වඩුවන් සමග පිටිසර ජනපදයක් බලා ගියා. ඒ යන අතරමග දිරාගිය එක්තරා පන්සලක් දැකල තමන්ගෙ නිවස හැදීම පැත්තකට දමල, ඒ වඩුවන් යොදවල පන්සල ගොඩනැගුවා.

පොහොය ගෙයක්, දාන සාලාවක්, සක්මන් මළුවක්, වැසිකිළියක්... ආදී වශයෙන් අංග සම්පූර්ණ පන්සලක් හදල භික්ෂූන් වහන්සේලාට අවශ්‍ය බෙහෙත් වර්ගත් ගෙනත් ගබඩා කළා. මේ විදිහට නොයෙක් පින් දහම් කරල ගෞතම බුදු සසුනේ පැවිදි වෙලා අරිහත්වයට පත්වෙලා නිරෝගී භික්ෂූන් වහන්සේලා අතරින් අග තනතුරත් ලබා ගත්තා. (ඒතදග්ගං භික්ඛවේ මම සාවකානං භික්ඛූනං අප්පාබාධානං යදිදං බක්කුලෝ) පසු කාලයක තමන් ළඟට පැමිණි යහළුවෙක් වන අචේල කාශ්‍යපට බක්කුල සූත්‍රය දේශනා කරල ඔහු පැවිදි බිමට ඇතුලත් කරල තමන් පිරිනිවන් පාන බව පවසල භික්ෂූන් වහන්සේලා මධ්‍යයේම පිරිනිවන් පා වදාළා.

ගෞතම බුදු සසුනේ වැඩ හිටපු තිකිච්ඡක කියන තෙරුන් වහන්සේ විපස්සී බුදු රජාණන් වහන්සේගෙ කාලයේ බන්ධුමතී නුවර රෝගීන් සුවපත් කරන දක්ෂ වෛද්‍යවරයෙක් වෙලා හිටියා. බුදු රජාණන් වහන්සේගේ උපස්ථායක අසෝක කියන හාමුදුරුවො රෝගී වෙලා ඉන්නකොට, උන්වහන්සේට ප්‍රතිකාර කරල රෝගය සුවපත් කළා. එතැන් පටන් සසර ගමනේදි අපායක ඉපදුනේ නැතිව සුගති සම්පත් ලබමින් එනකොට එයින් අට වන කල්පයේ "සම්බෝසධ" නමින් සක්විති රජ පදවිය ලැබුවා. මේ විදිහට සසර සැරිසරල ගෞතම බුදු සසුනේ පැවිදි වෙලා සිව්පිළිසිඹියා, අෂ්ට විමෝක්ෂ, ෂඩ් අභිඥා සහිතව අරිහත්වයට පත් වුනා.

තවත් භික්ෂූන් වහන්සේ නමක් ගැන මෙහෙම සඳහන් වෙනවා. මම විපස්සී බුදු රජාණන් වහන්සේට ගිනිහල් ගෙයකුත්, රෝගීන්ට නිවාසයක් සහ උණු වතුර දමන භාජනත් පූජා කළා. ඒ පිනෙන් මගේ අත්බැව යහපත් වුනා. එතැන් පටන් රෝගයක් කිසි විටෙක හැදුනෙ නෑ. දුගතියෙන් වැළකිලා සුගති සම්පත් ලබමින් සසර එනකොට හත්වන කල්පයේ "අපරාජිත" නම් සක්විති රජෙක් වුනා. ගෞතම බුදු සසුනේ පැවිදි වෙලා අව්‍යාධික (රෝගයක් නැති) තෙරුන් නමින් සියලු කෙලෙස් නසල භව දුකෙන් එතෙර වුනා.

බෙහෙත් අඳුන් (ඇස් බෙහෙත්) පිදීමෙන් පහත ආනිසංස ලබන්න පුළුවන්. ඉතා විසාල නොවූ කුඩාත් නොවූ දැකුම් කළු ඇස් ලැබීම, ඇසේ සුදු, කහ, රතු පැහැයන් මනාකොට ඇතිවීම, බණ්ඩනය වූ පහන් වූ ඇස් ඇතිවීම, සියලු ඇස් රෝගවලින් මිදීම, දිවැස ලැබීම, ප්‍රඥා ඇස ලැබීම.

රෝගී වෙච්ච අයට උපස්ථාන කිරීමත් වටිනා පිංකමක්. තථාගතයන් වහන්සේ පූතිගත්තතිස්ස තෙරුන්ට සියතින්ම උපස්ථාන කරල ඒක ආදර්ශයෙන් සනාථ කරල පෙන්නුවා. "යෝ ගිලානං උපට්ඨාති සෝ උපට්ඨාති මං ඉති" යමෙක් ගිලනුන්ට උපස්ථාන කරනවද ඔහු මට උපස්ථාන කරන කෙනෙක් කියල දේශනා කළා. මේ පාඨය ඇතැමුන් වරදවාගෙන, ගිලනුන්ට උපස්ථාන කිරීම බුදුන් වහන්සේට කරන උපස්ථානය හා සමාන වෙන බව කියනවා. ඒ අදහස සම්පූර්ණයෙන්ම වැරදියි. බුදුවරයන් වහන්සේ නමකට කරන ඇප උපස්ථාන රහතන් වහන්සේ නමකට කරන උපස්ථානයකටවත් සම කරන්න පුළුවන්කමක් නෑ.

සසර සැරිසරන සත්ත්වයා කියන්නෙත් ගිලනෙක්, රෝගියෙක්. ගිලනෙකුට සැළකීම මට උපස්ථාන කිරීමක් කියල කිව්වෙ, මගේ වචනය යමෙක් පිළිගන්නව නම් ඒක මට කරන ගරු කිරීමක් කියන අර්ථය. බුදුන් වහන්සේ වදාළ නිවන් දකින ප්‍රතිපදාව යමෙක් අනුගමනය කරනව නම් ඒක මට කරන ගරු කිරීමක්, සත්කාර කිරීමක්, පිදීමක් වෙන බව වදාරල තියෙනව වගේ තමයි, ගිලන් උපස්ථානය මම අනුමත කළ එකක් නිසා ඒක යමෙක් කරනව නම් ඔහු මගේ වචනයට ගරු කරන සත්කාර කරන පුදන කෙනෙක් වෙනවා. (සක්කතෝවා, ගරුකතෝවා, මානිතෝවා, පූජිතෝවා, අපචිතෝවා) ගිලනුන්ට උපස්ථාන කිරීම මට උපස්ථාන කිරීමක් කියන එකේ අර්ථය ඒකයි.

**පූජ්‍ය කිවුල්දෙණියේ විජිතනන්ද හිමි**
**නිග්‍රෝධාරාම සේනාසනය,**
**පොල්පිටිය, මැටිකුඹුර, පොල්ගහවෙල.**
**0716839346**



තියඹරා



කොට්ට පතෝල



දිඹුල්



කුකුලෙ පළා

# වස විස ආහාරවලට එරෙහි විකල්ප 11

මේ ලිපි පෙළ යටතේ මෙතෙක් ඉදිරිපත් කළ සහ ඉදිරියටත් ඉදිරිපත් කිරීමට බලාපොරොත්තු වෙන ස්වභාවික කොළ, ගෙඩි, අල... ආදී ආහාර වර්ගවල අඩංගු ඖෂධීය ගුණයන් සහ සමහර අවස්ථාවල ඒවා ඖෂධ විදිහට යොදා ගන්නා ආකාරයත්, බොහෝ කොටම වහරක අභයරතනාලංකාර මහ තෙරුන් වහන්සේ විසින් ද්‍රව්‍ය පදාර්ථ ඥානයෙන් සහ බෙහෙත් සමාධියෙන් මතු කර දුන් කරුණු ඇසුරෙන් සකස් කරන්නට යෙදුන බව පින්වතුන්ගේ දැන ගැනීම පිණිස සටහන් කරනවා.

**තියඹරා** - කැකිරි වැලකට සමාන, ගෙඩියේ මදය කොටස් 5 කින් යුක්ත තද තැඹිලි පාටට හුරු දුඹුරු පැහැති ගෙඩි හට ගන්නා ස්වභාවිකව වැවෙන වැල් විශේෂයක්. කැකිරි ගෙඩියට වඩා ටිකක් විසාලයි. වියලි කලාපයේ බහුලයි. සමහර අවස්ථාවල වෙළඳපොලෙත් දකින්න පුළුවන්. ගෙඩියේ පිට පොත්ත ඉබි කටුවක් වගේ සුදු පාට පැලලිවලින් යුක්තයි. ළපටි අවස්ථාවෙදි සම්බෝලයක් විදිහට හෝ පිපිඤ්ඤා වගේ නිකං වුනත් ආහාරයට ගන්න පුළුවන්. පිට පෙනුම ලස්සන නැති නිසා හුගක් අය අකමැති වුනත් ඖෂධීය ශක්තිය නම් ඉතා ඉහලයි.

**අම්ල පිත්ත ප්‍රදාහයට ප්‍රත්‍යක්ෂ ඖෂධයක්.** රක්ත උෂ්ණය නිසා ඇතිවෙන සංකූලතා තියඹරා ආහාරයට ගැනීමෙන් වහා සමනය වෙනවා. ලේ නහරවල මේදය තැන්පත් වෙලා තියේ නම් තියඹරාවලින් ඒවා දිය කර හරිනවා. ආහාර මාර්ග පද්ධතිය ආශ්‍රිතව ඇති සියලු සංකූලතා දුරු කරනවා. ආහාර හොඳින් ජීර්ණය වෙලා මලබද්ධය දුරු කරනවා. තුන් දොස් සමනය කිරීමේ ගුණයෙන් යුක්තයි. **තෙල් මිරිස් සහිත ආහාර අනුභව කරනකොට ඒ ආහාරයට තියඹරා මාළුවක් එකතු කර ගැනීමෙන් අම්ල පිත්ත ප්‍රදාහය තියෙන අයට ආහාර ගැනීමෙන් පසුව එන හුස්ම ගැනීමේ අපහසුතා, බඩ පුරවා දැමීම, බඩ පිපුම, බඩ දැවිල්ල... ආදී ලක්ෂණ වහා සමනය වෙනවා. වකුගඩු සුද්ධ වෙනවා.**

තියඹරා ගෙඩි තද ඇඹුලයි. ඉදුනට පස්සෙ ලෙල්ල පුපුරනවා. එතකොට මදය අරගෙන සීනි, ලුණු දාල මිශ්‍ර කරල බීමක් විදිහට ගන්නත් පුළුවන්. ඒ මගින් අම්ල පිත්ත ප්‍රදාහය නිසා බඩේ රැඳිල බැඳිල තියෙන සියලු කාරම් ඇතුළු අපද්‍රව්‍ය ඉතා හොඳින් ගැලවිලා යනවා. ආමාශයේ ආම්ලිකතාවය වැඩි වෙලා තුවාල වෙලා තියේ නම් දවස් කීපයක් යනකොට ඒවත් සුව වෙනවා.

ඇස් පෙනීම ඉතා තීව්‍ර කරනවා. ඇහේ සුද කපා හරිනවා. කලාඳුරු පිරිල කන් අගුල් වැටිල තියේ නම් තියඹරා සහමුලින්ම කොටල තල තෙලින් මලවල කන වටා තැවීමෙන් කලාඳුරු දිය වෙලා දවස් 6 - 7 ක් තුල ඒ තත්ත්වය සුව කරගන්න පුළුවන්. තියඹරා ගෙඩි සාමාන්‍යයෙන් කැකිරි, පිපිඤ්ඤා ව්‍යංජනයක් උයන විදිහට සකස් කරල ආහාරයට ගන්න පුළුවන්. හැබැයි ලෙල්ලෙ කිරි ඇරල ගන්න ඕන. නැත්නම් තිත්ත රස එනවා.

**කොට්ට පතෝල** - ගමේ ගොඩේ ස්වභාවිකව වැවෙන පතෝල වර්ගයක්. වාණිජමය වටිනාකමක් නැති නිසාත්, ලොකු අස්වැන්නක් නොලැබෙන නිසාත්, අවලස්සන නිසාත්, වගා කරල වෙළඳපොළට රැගෙන ගියත් පාරිභෝගිකයන් මේවා මිලදී ගන්නවා අඩුයි. මේවායේ තියෙන ගුණ ගැන නොදැනුවත්ව හිටියත් ඖෂධීය ගුණ නම් ඉතා ඉහලයි. පතෝල කරලෙ හැඩයට සමානව මඳක් විසාලව වැඩෙනවා. පතෝල කරලට සාපේක්ෂව කෙඳි ගතිය ඉතා වැඩියි. ඒ නිසා අධික ලෙස මේරුවට පස්සෙ ආහාරයට ගන්න බෑ.

හෙළ වෙදකමේදී ආහාර ජීර්ණ පද්ධතිය ආශ්‍රිත රෝග නිවාරණය සඳහා ප්‍රත්‍යක්ෂ ඖෂධයක්. තුන් දොස් සමනය කිරීමේ ගුණයෙන් යුක්තයි. **අම්ල පිත්ත ප්‍රදාහය නිසා ආමාශයේ හටගෙන තියෙන කල් ගිය තුවාල සුව කිරීම, කුඩා බඩවැල හා මහ බඩවැල ආශ්‍රිතව ඇති සංකූලතා මග හැරවීම, ආමාශයේ හා මහ බඩවැලේ ඇති කාරම් ස්වභාවය ඉවත් කිරීම, අර්ශස්, භගන්දරා වගේ රෝගී තත්ත්වයන් නිසා ඇතිවන මලබද්ධය දුරු කිරීම, ආහාර හොඳින් ශරීරයට අවශෝෂණය කර ගැනීම** කියන ගුණාංග කොට්ට පතෝලවල තියෙනවා.

ඉනා බන්ධන ආදිය කැවීම නිසා හට ගත් බැඳීම් යම් කිසි ආකාරයකින් ඉවත් කළාට පස්සෙ, භෞතික ශරීරයේ හට ගත් (බන්ධන ආශ්‍රයෙන්) පිලිලය ශරීරයෙන් ඉවතට රැගෙන යාමේ ශක්තිය මේ පතෝලවල තියෙන කොහු සහ කොට්ටවල අඩංගුයි. කොට්ටය කියල කියන්නෙ පතෝල කරල කැපුවට පස්සෙ ඒකෙ ඇටය වටේට සිනිඳු පුළුන් ආකාරයට තියෙන මද කොටස.

අර්ශස් ගෙඩි පුපුරල යනකොට ඇතිවෙන ආසාදනවලට මළපහ එකතු වීමෙන් තුවාල ඇතිවෙලා ඒවා ඝන බවට පත්වෙනවා. ඒකෙන් තමයි භගන්දරා කියන රෝගී තත්ත්වය ඇති වෙන්නෙ. ඒ තුවාලවල තියෙන කොහු ස්වභාවය වහා දිය කරල පහ කරල **භගන්දරා රෝගය සුව කිරීමේ ශක්තියත්** මේ කොට්ට පතෝල්වල තියෙනවා. උෂ්ණාධික ශරීර සිසිල් කිරීමේ ගුණයෙනුත් යුක්තයි.

**කොට්ට පතෝල ඇට එළඟිතෙලින් අඹරල කකාරවල ගෑමෙන් සම මතු පිට හට ගත් විසප්පු ගෙඩි, විස කටු ඇනීම්... ආදිය එළියට ඇවිත් සුව වෙනවා. ඒ වගේම කොට්ට පතෝල කරලක ඉහලයි පහලයි කපල කිරි අරගෙන ගැල්වීමෙනුත් ඒ විසප්පු මෝදු වෙලා එළියට ඇවිත් පුපුරල ඉවත් වෙනවා. කුරුලෑවලට පවා මේ ප්‍රතිකාරය ඉතා යෝග්‍යයි.**

හොඳට කොස්ස තියෙන තරමක් මෝරපු කොට්ට පතෝල යහමින් ආහාරයට ගන්නකොට ආහාර මාර්ගයේ මළ අපද්‍රව්‍ය තැන්පත් වෙලා හිටින්නෙ නෑ. ආහාර මාර්ගයේ හටගෙන තියෙන තුවාල සියල්ල සුද්ධ වෙලා ඉවත් වෙනවා. අභ්‍යන්තරය සම්පූර්ණයෙන්ම සුද්ද කරල ඉවත් කරනවා. නමුත් මේවා ගැන දැන් ඉන්න උදවිය දන්නෙත් නෑ. ඒ නිසා ආහාරයට ගන්නෙත් නෑ.

සාමාන්‍යයෙන් පතෝල ව්‍යංජනයක් හදාගන්න ආකාරයටම පිළියෙල කරගන්න පුළුවන්. සම්බෝලයක් විදිහටත් ළපටි කොට්ට පතෝල ගුණදායකයි. අර්ශස්, භගන්දරා රෝගීන්ට ගෙඩි හැර වැල සහමුලින්ම අරගෙන කැඳක් විදිහට පිළියෙල කරල දෙන්නත් පුළුවන්.

**<u>දිවුල්</u>** – පළතුරක් විදිහට විතරක් ජනතාව අතර ප්‍රසිද්ධ වුනත් හෙළ වෙදකමේදී සහමුලින්ම යොදා ගන්න ඖෂධ ගබඩාවක්. බාහිරින් ශරීරයට ඇතුල් වෙච්ච විස දිය කරල ශරීරයෙන් බැහැර කිරීමේ විශේෂ ශක්තියක් දිවුල් කොළවල තියෙනවා. ශරීරයේ තියෙන විස කළු කිරණ ඇද ගැනීමේ විශේෂ ශක්තියෙන් යුක්තයි. හිසතෙල් ගෑමේ චාරිත්‍රයේදී හිසට හෝ පයට දිවුල් පත් තියන්නෙත්, නානු හදනකොට දිවුල් කොළ මිශ්‍ර කරගන්නෙත් මේ නිසා. ඒ මගින් මෙච්චර කාලයකට ශරීරයට බැඳිල තිබ්බච්ච ඇස්වහ, කටවහ, හෝවහ... ආදී වශයෙන් බාහිර පරිසරයෙන් වැදිච්ච විස කළු කිරණ කපල ඉවත් කරනවා.

ශරීරය සිසිල් කිරීමේ සහ ශරීරයේ විස ඉවත් කිරීමේ ගුණයෙන් යුක්තයි. දිවුල් පානයක් විදිහට සකස් කරනකොට පොල් කිරි යොදා ගන්නවා. ඒකත් අති ප්‍රබල ඖෂධයක්. දිවුල් කොළවලින් හදන කැඳත් ඉතා ගුණයි. විශේෂයෙන් සර්ප විසට ඉතා යෝග්‍යයි. සර්පයෙක් දෂ්ට කළාම දිවුල් දළු කොටල එන යුෂවලට අමු පොල් කිරි දමා පානය කිරීමෙනුත් සර්ප විස මුත්‍රා හරහා ඉවත් වෙනවා. ඒ වගේම දිවුල් දළු කැඳ හදල දීමෙනුත් සර්ප විස ඇගේ තියෙනව නම් වහාම ඉවත් කරනවා. ළපටි දිවුල් දළු කැඳක් හෝ සම්බෝලයක් විදිහට හෝ හදල ආහාරයට ගත්තම මුත්‍රා හරහා ඒ විස ඉවත් වෙනවා. වකුගඩු පිරිසිදු කරනවා. මුත්‍රාවල කැල්සියම් තැන්පත් වීම පාලනය කරනවා. ලේ නහර හොඳින් පිරිසිදු කරල සුද්ධ කරනවා.

**<u>ඉකිරිය</u>** – නීරමුල්ලිය ගහට සමාන පෙනුමක් තියෙනවා. නමුත් නීරමුල්ලිය දණ්ඩ කොළ පාටයි, වැඩිල මේරුවට පස්සෙ නිල් පාට මල් සහ කටු හට ගන්නවා. ඉකිරිය දණ්ඩ රතු පාටට හුරු දුඹුරු පාටයි. ගහ පැළවෙන අවස්ථාවෙ පටන්ම පුරුක් අතර කුඩා කටු සහ සුදු පාට මල් හට ගන්නවා. ගලා නොයන දිය පාරවල් අසළ, වැව් තාවුලුවල, ඇල ඉවුරුවල, පිටාර ගැලුවට පස්සෙ රැඳෙන දිය කඩිතිවල විශේෂයෙන් වියළි කලාපයේ බහුලව වැවෙනවා. හෙළ වෙදකමේදී වකුගඩු සහ මුත්‍රා ආශ්‍රිත රෝගී තත්ත්වයන්ට නැතිවම බැරි ඖෂධයක්. කාන්තාවන්ට විශේෂයෙන් ඇතිවෙන රෝග සඳහාත් මහඟු ඖෂධයක්. ඉකිරිය හොයාගන්න බැරි අවස්ථාවල ඒ සඳහා ආදේශකයක් විදිහට නීරමුල්ලිය යොදා ගන්නවා.

වියළි කලාපයේ ජලයේ ඇති අධික ලවණ ගතිය නිසා මුත්‍රාශයේ සහ වකුගඩුවල කැල්සියම් තැන්පත් වීමක් සිද්ධ වෙනවා. ඒ වගේම කෘමිනාශක ආදී වසවිස තැන්පත් වීම නිසා වෘක්කානු අක්‍රිය වෙනවා. අක්‍රිය වෙච්ච වෘක්කානු නැවත සක්‍රිය කිරීමේ මහා ගුණයක් ඉකිරියවල අන්තර්ගතයි. ඒ වගේම මුත්‍රාශයේ සහ වකුගඩුවල කැල්සියම් තැන්පත් වීම වළක්වනවා. ඒ නිසා මුත්‍රා පද්ධතිය ආශ්‍රිත සංකූලතා හට ගැනීම වළකිනවා. මුත්‍රා දැවිල්ල, බඩ කොරවීම, වකුගඩු සංකූලතා නිසා හට ගන්නා කකුල් හා ශරීරයේ ඉදිමුම, මුත්‍රා අවහිරතා නිසා හට ගන්නා කොන්දෙ වේදනා ආදියත් ඉකිරිය ආහාරයට එකතු කර ගැනීමෙන් වළකාගන්න පුළුවන්. ඒ වගේම රුධිර නාල පිරිසිදු කරන නිසා කොලෙස්ටරෝල් තැන්පත් වීමත් අවම කරනවා.

ඉකිරිය කොළ සාමාන්‍ය ව්‍යංජනයක් විදිහටත්, සාමාන්‍ය පළා සම්බෝලයක් ආකාරයටත් සකස් කරල ආහාරයට ගන්න පුළුවන්. ඒ වගේම තම්බල පානය කිරීමෙනුත් ඒ ගුණ ශරීරයට ලබා ගන්න පුළුවන්.

**<u>කුකුලෙ පලා</u>** – පෙති ආකාර කුඩා කොළ 2 බැගින් දෙපැත්තට බෙදුනු අඟල් 6 - 7 ක් විතර උස යන පැළෑටියක්. නිකං ස්වභාවිකවම කැලේ සුලභව හැදෙනවා. මිදුල්වල, දියකඩිති අසළ, තේ වතුවල කණ්ඩිවල බහුලයි. **පෙණහළු රෝග, හුස්ම ගැනීමේ අපහසුතා, හෘදය ආශ්‍රිත රෝගවලට ඉතා ප්‍රබල ඖෂධයක්. ලේ පිරිසිදු කිරීම උපරිමයෙන්ම සිද්ධ කරනවා. රතු රුධිරාණු වර්ධනය කරනවා. හන්දිපත් රුදා, ආතරයිටීස්, ඇට මිදුළු ආශ්‍රිත රෝග, ලියුකේමියාව... ආදී රෝගී තත්ත්වයන්ට ඉතා ගුණදායකයි.** ඒ වගේම අම්ල පිත්ත ප්‍රදාහයටත්, මළබද්ධයටත් ප්‍රත්‍යක්ෂ ඖෂධයක්. විනරාජ වගේ විරේකයක් කළාම ශ්ලේෂ්මල පටල ගලවල ගිහින් බඩ සුද්ධ වෙලා ශරීරයට දරා ගන්න අමාරු තත්ත්වයක් ආවම, කුකුලෙ පලා ආහාරයට ගැනීමෙන් ආහාර මාර්ග පද්ධතියේ ශ්ලේෂ්මල තට්ටුව ඇතුළු මාංශ පේශි හොඳින් වර්ධනය කරල දෙනවා. කොළ මැල්ලුමක්, සම්බෝලයක් හෝ කැඳක් විදිහට සකස් කරල ආහාරයට ගන්න පුළුවන්.

**සටහන**

**නීතිඥ චන්දන සිරිවර්ධන**

**පින්වත් ඔබ වෙනුවෙන් එලි දැක්වූ දහම් ගබඩාවන්...**

www.waharaka.com webmaster@helabodhupiyuma.net 071 3046895 / 036 2267111 / 072 7076688

**සැඟවුණු බොදු මග යළි විවර කරමින් වහරක අරිය චින්තාශ්‍රම බෞද්ධ විහාරස්ථානයේ සදහම් වැඩසටහන් පැවැත්වෙන කාල හෝරාවන්:**

සෑම පුන් පොහෝ දිනකම සහ සෑම අමාවක පොහොය දිනකම උදෑසන 8.00 සිට සවස 5.00 දක්වා - පෙහෙවත් සමාදානය, දහම් සාකච්ඡා සහ විශේෂ පුණ්‍යානුමෝදනාව. සෑම මසකම 1 වන සහ 3 වන සෙනසුරාදා ආශිර්වාද පූජාව සහ ධර්ම සාකච්ඡාව. 2 වන සහ 4 වන සෙනසුරාදා භාවනා වැඩසටහන්

**ගමන් මාර්ගය: නිට්ටඹුව - රුවන්වැල්ල ප්‍රධාන මාර්ගයේ ගෝණගල්දෙනිය හන්දියේ සිට වහරක අතුරු මාර්ගයේ මීටර 350 ක් පමණ දුරින් දකුණු පස.**






# සමාධිමය අත් බෙහෙත්...

වහරක අභයරතනාලංකාර මහ තෙරුන් වහන්සේ විසින් ලෝක සත්ත්වයා කෙරෙහි දයානුකම්පාවෙන්, ගිලාන ප්‍රත්‍ය කටයුත්තක් වශයෙන් සළකා බේත් සමාධියෙන් මතු කර දුන් තවත් ප්‍රත්‍යක්ෂ අත් බෙහෙත් කිහිපයක් පිංවතුන්ගේ යහපත පිණිස මෙවරත් සටහන් කරනවා. මීට පෙරත් සඳහන් කළා වගේ ඒ ඒ පුද්ගලයන්ගේ කර්ම ශක්තීන්ට යටත්ව මේ බේත් ප්‍රත්‍ය වෙන නිසා, මේ සඟරාවෙ වරින්වර සඳහන් කළ සාසනික ප්‍රතිකර්මත් සමග මේ බේත් පරිහරණය කරන්න පුළුවන් නම් වඩාත් හොඳ ප්‍රතිඵල ලබා ගන්න පුළුවන්.

**1. දද, කුෂ්ට ඇතුළු හම මතුපිට හට ගන්නා සියලු රෝග සඳහා (තුන් දෙස් සමනයට)**

අවශ්‍ය අමුද්‍රව්‍ය : තල් සූකිරි ග්‍රෑම් 100 යි, ඇඹුල් දොඩම් ඉස්ම පත 1/2 යි, මී පැණි පත 1 1/2 යි, රත්තරන් මංචාඩි 1/4 යි, සහිඳ ලුණු කලං 2 යි, විස ඉවත් කරගත් පෙරුංකායම් කලං 2 යි. (පෙරුංකායම්වල විස ඉවත් කර ගැනීමට ඊයම් කොළයක් වැනි යම් කිසි ආවරණයක ඔතා උණු අළු යට විනාඩි 10 ක් පමණ තියන්න. නැත්නම් වෙළඳසැලකින් මිලදී ගන්න.)

රත්තරන් මංචාඩි 1/4 මී පැණියෙන් ගලගාගෙන, ඒකට ඉතිරි මී පැණි ටිකයි, සියලු අමුද්‍රව්‍යයි එකතු කරල පැණි පදමට උණු කරල බාගන්න. උදේ 7.00 ට ගල්වල පැය 2 ක් ගියාට පසු උණු දියෙන් සෝදන්න. හවස 7.00 ට ගල්වල පැයක් ගියාට පසු උණු දියෙන් සෝදන්න. මේ විදිහට දින 3 ක් කරන්න. දින 3 න් පසු ඇත්තෝර කොළ කොටාගෙන දින 3 ක් උදේ 7.00 ට, සවස 7.00 ට විනාඩියක් විතර හොඳින් අතුල්ලල මඳ රස්නෙ උණු වතුරෙන් සෝදා හරින්න. අළුහම්, දද, කුෂ්ට, විස පළු, ගඩු ඇතුළු සියලු චර්ම රෝග නිට්ටාවට සුව වෙනවා.

**2. කිරි පණු ගාය සහ ආහාර මාර්ග පද්ධතිය ඇසුරේ ඇති සියලු වා පිත් සෙම් අමාරු සඳහා**

අවශ්‍ය අමුද්‍රව්‍ය : තිප්පිලි, රත් හඳුන් කුඩු ග්‍රෑම් 100 බැගින්, විස ඉවත් කර ගත් බේත් ගෙන්දගම් ග්‍රෑම් 50 යි.

මේ සියල්ලම එකට අරගෙන කිතුල් පැණියෙන් ගුලි කරගන්න පුළුවන් මට්ටමට අඹරගෙන තිබ්බටු ගෙඩි තරමට ගුලි කරල අව්වෙ වේළගන්න. උදේ, රාත්‍රී කෑමට පෙර ගුලි 1 බැගින් උණු වතුර සමග දින 14 ක් ගන්න. අවුරුදු 12 කට අඩු ළමයෙකුට නම් ගුලි 1/3 යි.

**3. ඉනා බන්ධන ආදිය කැවීම නිසා ආමාශයේ සහ බඩවැල් තුල අජීර්ණ කර ඇති සියලු රෝග සඳහා**

අවශ්‍ය අමුද්‍රව්‍ය : අරළු, සෙනෙහෙ කොළ, ඉරිවේරිය, කොතල හිඹුටු මුල් කලං 6 බැගින්, ඇත්දෙමට මුල් කලං 3 යි, ග්‍රෑම් 250 ක් පමණ බර අමු ගස්ලබු ගෙඩියක පිට ලෙල්ලෙ කිරි (ගස්ලබු ගෙඩියේ ඉහළින් සහ පහළින් කැපීමෙන් පසුව එන කිරි ටික හැන්දක් වැනි දේකින් එකතු කරගත්තම ප්‍රමාණවත්.), රතු සීනි කිලෝ 1 යි, අරළු අරිෂ්ට බෝතල් 1/4 යි. (වේළිච්ච අරළු ග්‍රෑම් 500 කට වතුර බෝතල් එකහමාරක් දමා බෝතල් 1 කට හිඳ ගැනීමෙන් අරළු අරිෂ්ටය හදාගන්න පුළුවන්.)

අරළු, සෙනෙහෙ කොළ, ඉරිවේරිය, කොතල හිඹුටු, ඇත්දෙමට මුල් කියන මේ සියල්ලම වතුර බෝතල් 3 ක් දමා බෝතල් 1 කට හිඳගන්න. ඒ මිශ්‍රණයට අමු ගස්ලබු ගෙඩියේ කිරි සහ සීනි දමා පැණි පදමට එනකොට බාගන්න. නිවුනට පසු අරළු අරිෂ්ටයෙන් බෝතල් කාලක් (1/4) කලවම් කරන්න. ඉන්පසු ජල නන්දන පිරිතෙන් 108 වරක් ජීවම් කරල පළමු දින උදේ හිස්බඩ පත 1/2 යි, දෙවන දින උදේ හිස්බඩ පත 1/4 යි ගන්න. එතැන් පටන් දිගටම දින 21 ක් දක්වා පත 1/4 යි. (මේ බේත අඟහරුවාදා, සිකුරාදා දිනවල නොසෑදිය යුතුයි, පළමු දින පාවිච්චි කරනකොටත් ඒ දින දෙක නොගත යුතුයි.)

**4. හිසේ, පපුවේ සෙම් තදවීම ඇතුළු සියලු සෙම් අමාරු සඳහා**

අවශ්‍ය අමුද්‍රව්‍ය : තිප්පිලි, අසමෝදගම්, සාදික්කා, කරමුල්, විස ඉවත් කර ගත් රත්නිටොල් මුල්, විස ඉවත් කළ ගෙන්දගම් (නෙල්ලික්කා ගෙන්දගම් හෙවත් බේත් ගෙන්දගම්) කියන මේවා කලං 6 බැගින්. රත්නිටොල් මුල්වල විස ඉවත් කිරීම සඳහා පොල් ගෙඩියක කිරෙන් පැයක් පමණ ලිපේ තියල තම්බල වේළ ගත යුතුයි. ගෙන්දගම්වල විස ඉවත් කරගන්න පෙර සේම ඊයම් වගේ ආවරණයක ඔතල උණු අළු යට විනාඩි 10 ක් පමණ තැබීමෙන් හෝ කෝවක දමා රත් කිරීමෙන් පුළුවන්. නැත්නම් වෙළඳපොලෙන් මිලදී ගන්න පුළුවන්.

මේ සියල්ලම උණු දියෙන් අඹරගෙන තිබ්බටු ගෙඩි තරමට ගුලි කරල අව්වෙ වේළගන්න. උදේ, රාත්‍රී කෑමට පෙර ගුලිය බැගින් උණු දියෙන් බොන්න. ළමයෙකුට ගුලි 1/2 ක් දෙන්න. දින 7 ක් හෝ සුව වන තෙක් ගන්න.

සටහන
**නීතිඥ චන්දන සිරිවර්ධන**

# හෙළ බොදු පියුම දහම් සඟරාවේ 84 වන කලාපය සඳහා ශ්‍රමය හා මූල්‍යමය දායකත්වය සැපයූ පිංවතුන්

**ශ්‍රම දයකත්වය**

■ ධම්මික සේනාධීර මහතා - හසරු ප්‍රින්ටර්ස් - මාලබේ ■ චන්දන සිරිවර්ධන මහතා - අලපලාදෙනිය ■ චතුර හිඳුරංගලගේ මහතා - නුගේගොඩ ■ අමිත් සමරනායක මහතා - බෙල්ලන්තර ■ සඳරුවන් පෙරේරා මහතා සහ මාරියස් පෙරේරා මහතා - මොරටුව ■ තුසිත මංගල මහතා - පාදුක්ක ■ එස්. ඒ. එස්. පෙරේරා මහතා - පානදුර ■ දිනේෂ් සම්පත් මහතා - පිළියන්දල ■ ෆික්රි ඉස්මයිල් මහතා - ගොතටුව ■ සුජීවනී ජයවර්ධන මෙනවිය - පාදුක්ක ■ කාංචනා ලක්මාලි මද්දුමගේ මෙනවිය - පිළියන්දල ■ ඩී. සී. ආර්. ඇක්සස් මුද්‍රණාලයේ අධිපතිතුමා ඇතුළු කාර්ය මණ්ඩලය - පිටකෝට්ටේ ■ ඉමාෂි මුද්‍රණාලයේ අධිපතිතුමා ඇතුළු කාර්ය මණ්ඩලය ■ නන් අයුරින් දයක වූ පින්වතුන්

**මූල්‍යමය දයකත්වය**

■ කෝසල ජයතිලක මහතා සහ වින්දයා රත්නායක මහත්මිය - ඇමරිකාව - රු. 47,740/- ■ ශානක ද සිල්වා මහතා, චරනි ද සිල්වා මහත්මිය, රහල් ද සිල්වා පුතා, ගනිඳු ද සිල්වා පුතා, දෙව්රූ ද සිල්වා දුව - දෝහාකටාර් - රු. 26,050/- ■ ආසිරි වනිගරත්න මහතා සහ දීපිකා සන්දනායක මහත්මිය ඇතුළු පවුලේ සැම - මහරගම - රු. 25,000/- ■ තුසිත නාකන්දල මහතා, සරූපා නාකන්දල මහත්මිය, දෙවින්යා දුව - ගල්කිස්ස - රු. 20,000/- ■ තිළිණ විජේරත්න මහතා සහ පවිත්‍රා දදිගම මහත්මිය - ඇමරිකාව - රු. 15,870/- ■ ඔස්වල්ඩ් මහතා සහ සුලානි මහත්මිය ඇතුළු දරු දෙදෙනා - කැන්බරා, ඕස්ට්‍රේලියාව - රු. 15,000/- ■ චතුර හිඳුරංගලගේ මහතා, නදීරා අරම්පොල මහත්මිය, තනුරි හිඳුරංගලගේ සහ සනුරි හිඳුරංගලගේ යන දියණියන් - නුගේගොඩ - රු. 10,000/- ■ සමන් සිල්වා මහතා - කළුතර - රු. 10,000/- ■ තිලක්ෂි වීරකෝන් මහත්මිය - මාලබේ - රු. 10,000/- ■ අයේෂ් ගුණවර්ධන මහතා සහ නිරාෂා පෙරේරා මහත්මිය - ඇමරිකාව - රු. 7,940/- ■ චමිල ඉලංගකෝන් මහතා සහ මහත්මිය, රුවන් සමරසිංහ මහතා සහ මහත්මිය - හෝකන්දර, අශෝක ජයසේකර මහතා - මාතලේ, සංජීව පද්මනාත් මහතා සහ මහත්මිය - කහතුඩුව - රු. 6,000/- ■ සුජීවනී ජයවර්ධන මෙනවිය - පාදුක්ක - රු. 5,200/- ■ අමිත් හඳුගොඩ මහතා ඇතුළු පවුලේ සැම - අත්තිඩිය - රු. 5,000/- ■ ගයාන් පුෂ්පික ඉන්ද්‍රජිත් ලොකුමාන්න මහතා, හිරෝෂානි ලොකුමාන්න මහත්මිය, සෙනුත් ලොකුමාන්න පුතා, කෙනුලි ලොකුමාන්න දුව - ගල්කිස්ස - රු. 5,000/- ■ සොනාලි සමරදිවාකර මෙනවිය - මහරගම - රු. 5,000/- ■ අමිල සල්ගාදු මහතා සහ කාන්ති ඒකනායක මහත්මිය - බෝමිරිය - රු. 5,000/- ■ මෙරිල් ඩයස් මහතා, ඩිලානි ඩයස් මහත්මිය, ශවින්ද්‍රි ඩයස් සහ ප්‍රශානි ඩයස් යන දියණියන් - නාවින්න - රු. 5,000/- ■ හේමමාලි අබේසේකර මහත්මිය - ලෝරිස් පාර, කොළඹ 4 - රු. 5,000/- ■ චූල කමල බණ්ඩාර මහතා සහ චම්පිකා සුමිත්‍රාරච්චි මහත්මිය - ඇමරිකාව - රු. 5,000/- ■ නිමේෂ නානානයක්කාර මහතා - බොරැල්ල - රු. 5,000/- ■ කරුණා ධර්මසේන මහත්මිය ඇතුළු පවුලේ සැම - හෝමාගම - රු. 5,000/- ■ අසේල බෙන්තර මහතා සහ චතුරිකා කහඳුගොඩ මහත්මිය - ඇමරිකාව - රු. 4,770/- ■ බුද්ධික බණ්ඩාර මහතා සහ දිස්නා බණ්ඩාරනායක මහත්මිය ඇතුළු පවුලේ සැම - ඇමරිකාව - රු. 4,770/- ■ නම සඳහන් නොකළ පින්වතෙක් - රු. 4,100/- ■ ලක්ෂ්මන් සෙනෙවිරත්න මහතා ඇතුළු පවුලේ සැම - මහියංගනය - රු. 4,000/- ■ වීරසිංහ මහතා - රු. 4,000/- ■ නිශාන්ත ජයවර්ධන මහතා සහ කවින්දයා සේනානායක මහත්මිය - ඇමරිකාව - රු. 3,180/- ■ කරගම්පිටිය ශාස්ත්‍රානන්ද පිරිවෙන් විහාරස්ථානයේ සදහම් වැඩසටහනට සහභාගි වන පින්වතුන් - රු. 3,000/- ■ අසෝක රාජපක්ෂ මහතා ඇතුළු පිරිස - තිහාරිය - රු. 3,000/- ■ ජනක හපුආරච්චි මහතා ඇතුළු පවුලේ සැම - ගිනිගත්හේන - රු. 3,000/- ■ කේ. එම්. සමන්ත ප්‍රදීප් මහතා - කඹුරුගමුව, මාතර - රු. 3,000/- ■ නිශාන්ති ද සිල්වා මහත්මිය - මොරටුව - රු. 3,000/- ■ සුජාන් කරස්නාගොඩ මහතා සහ නිලූෂි දිසානායක මහත්මිය - ඕස්ට්‍රේලියාව - රු. 3,000/- ■ රෝෂණ උමගිලිය මහතා, දුලානි මණ්ඩාවල මහත්මිය, රන්දිල් රාහුල් උමගිලිය පුතා සහ ටරිනි උමගිලිය, යෙනුලි උමගිලිය දියණියන් - පොළොන්නරුව - රු. 3,000/- ■ ටී. ටී. පී. සිල්වා මහත්මිය - නාගොඩ, කළුතර - රු. 2,500/- ■ ඩී. ඩී. විතාරණගේ මහතා ඇතුළු පවුලේ සැම - නුගේගොඩ - රු. 2,500/- ■ ජේ. කේ. සිසිර කුමාර සමරදිවාකර මහතා ඇතුළු පිරිස - එල්ලක්කල - රු. 2,400/- ■ දේශිකා වික්‍රමසිංහ මෙනවිය ඇතුළු පවුලේ සැම - කොළඹ - රු. 2,000/- ■ වෛද්‍ය තාරක රත්නායක මහතා සහ ලසන්ති රත්නායක මහත්මිය - නුගේගොඩ රු. 2,000/- ■ ගුණපාල ඉද්දගොඩ මහතා - විජේරාම - රු. 2,000/- ■ නැදිමාල ශ්‍රී සෝමානන්ද විහාරයේ සදහම් වැඩසටහනට සහභාගී වන පින්වතුන් - රු. 2,000/- ■ ඔස්ටින් ප්‍රනාන්දු මහතා සහ සිසිර සිරිවර්ධන මහතා ඇතුළු පවුලේ සැම - පොල්ගහවෙල - රු. 2,000/- ■ ඉසුරු ගාල්ලගේ මහතා සහ මේනකා ශාන්තිනි මහත්මිය - කඩවත - රු. 2,000/- ■ ඩිලාරෝ වුඩ් කාවින් පුද්ගලික සමාගම - ගාල්ල - රු. 2,000/- ■ රජිත් යාපා අමරසේකර මහතා - රදවාන - රු. 2,000/- ■ උදේශා සංජීවනී මහත්මිය - යක්කල - රු. 2,000/- ■ ප්‍රේමා ගීකියනගේ මහත්මිය ඇතුළු පිරිස - කුඩාඋඩුව - රු. 2,000/- ■ ඩී. ටී. ඒ. ගුණතිලක මහතා - වෙලගෙදර - රු. 2,000/- ■ තුසිත මංගල මහතා සහ නන්දසීලි කරුණාදස මහත්මිය - පාදුක්ක - රු. 2,000/- ■ පී. ප්‍රියානි පතිරණ මහත්මිය - කුරුණෑගල - රු. 2,000/- ■ නම සඳහන් නොකළ පින්වතෙක් - පිටකෝට්ටේ - රු. 2,000/- ■ ඩබ්. චන්ද්‍රරත්න මහතා ඇතුළු පවුලේ සැම - පාදුක්ක - රු. 1,800/- ■ නිර්මාණ ලියනගේ මහතා - රුක්මල්ගම - රු. 1,600/- ■ පූජ්‍ය කොච්චිකඩේ ප්‍රඥාමූර්ති හිමි - රු. 1,500/- ■ අයිරාංගනී තිලකරත්න මහත්මිය - නාවල - රු. 1,500/- ■ කේ. එම්. කේ. උදිත ලක්ෂාන් පෙරේරා මහතා, කේ. එම්. කේ. චන්ද්‍රිකා ප්‍රියානි පෙරේරා මහත්මිය - මිනුවන්ගොඩ - රු. 1,500/- ■ ජී. එච්. ඒ. පසිඳු දේශාන් පුතා ඇතුළු පවුලේ සැම - පිටකෝට්ටේ - රු. 1,500/- ■ ඒ. ඒ. එන්. අමරසිංහ මහතා ඇතුළු පවුලේ සැම - අවුලේගම - රු. 1,500/- ■ සිනෙත් ලක්ෂාන් මහතා ඇතුළු පිරිස - කිරිබත්ගොඩ - රු. 1,475/- ■ එස්. ප්‍රසන්න ප්‍රියදර්ශන සිල්වා මහතා සහ මධුෂිකා ලක්මුතු පියදිගම මහත්මිය - ගල්කිස්ස - රු. 1,200/- ■ චන්ද්‍රා සෝමලතා මහත්මිය - කඹුරාදෙණිය - රු. 1,170/- ■ තිලකසිරි ජයරත්න, රොෂාන් මාලක, චතුරානි ඉන්දිකා යන මහත්ම මහත්මීන්, තිනෙත් හිමංෂ පුතා, හිමාෂා සේමිනි දුව - පස්යාල - රු. 1,100/- ■ ශ්‍යාමල් බණ්ඩාර මහතා - කුරුණෑගල - රු. 1,000/- ■ සී. එම්. පී. සී. ලක්රුවන් මහතා - කළුතර - රු. 1,000/- ■ මෝක්ෂර තිලකසිරි පුතා - බැලුම්මහර - රු. 1,000/- ■ සමෘද්ධි තිලකසිරි පුතා - බැලුම්මහර- රු. 1,000/- ■ එල්. ඒ. කේ. ද සිල්වා මහතා - කිරුලපන - රු. 1,000/- ■ නිලූකා වෙල්ගම මහත්මිය ඇතුළු පවුලේ සැම - කඳන - රු. 1,000/- ■ පද්මිණී සේනානායක මහත්මිය - කළගෙඩිහේන - රු. 1,000/- ■ රාහුල ඉන්ද්‍රකුමාර මහතා - මිනුවන්ගොඩ - රු. 1,000/- ■ වෛද්‍ය යෙනිකා කුමාරි මහත්මිය - එක්සත් රාජධානිය - රු. 1,000/- ■ ජයනාත් සුබසිංහ මහතා - හෝමාගම - රු. 1,000/- ■ කේ. ඒ. උපාලි ජිනදස මහතා - දිවුරුම්පිටිය - 1,000/- ■ එච්. එන්. ජී. වයි. නාඳුගල මහතා - රු. 1,000/- ■ සෝමා වික්‍රමසිංහ මහත්මිය - යක්කල - රු. 1,000/- ■ කේ. වසන්තා කුමාරි ආරියසිංහ මහත්මිය ඇතුළු පවුලේ

සැම - නාගහහේන - රු. 1,000/- ■ මාලිනී බස්නායක මහත්මිය - අකුරැස්ස - රු. 1,000/- ■ ඒ. ඒ. කෞෂානි සකුණිකා ප්‍රේමතිලක දුව - රදවාන - රු. 1,000/- ■ කුසුමා තෙන්නකෝන් මහත්මිය - සේදවත්ත - රු. 1,000/- ■ ධම්මිකා හේරත් මහත්මිය - කොච්චිකඩේ - රු. 1,000/- ■ ඩබ්. ඒ. එස්. සෙනෙහෙලතා මහත්මිය ඇතුළු පවුලේ සැම - වේවැල්දෙණිය - රු. 1,000/- ■ කේ. එස්. පී. කහටපිටිය මහතා - වේවැල්දෙණිය - රු. 1,000/- ■ ආර්. කේ. ගුණතිලක මහතා - පන්නල (ප්‍රියන්ත ජයලාල් මහතාට පිං පිණිස) - රු. 1,000/- ■ භාසිත කේමින් පුතා - කඩුවෙල - රු. 1,000/- ■ කමල් විජේසිංහ මහතා - රණාල - රු. 1,000/- ■ ඉන්ද්‍රානි හෙට්ටිආරච්චි මහත්මිය - වෙලගෙදර - රු. 1,000/- ■ කේ. ජී. චන්ද්‍රකාන්ති මහත්මිය - කිරිවත්තුඩුව - රු. 1,000/- ■ එම්. පී. චන්ද්‍රසේන මහතා - සමනබැද්ද - රු. 1,000/- ■ මිලින්ද උබේසිංහ මහතා ඇතුළු පවුලේ සැම - රු. 1,000/- ■ අයි. පී. නන්දන සුජීව නිශාන්ත මහතා - හෙට්ටිගෙදර - රු. 1,000/- ■ නවීන්ද්‍ර බුද්ධදාස මහතා සහ සහන්‍යා බුද්ධදාස මෙනවිය - මිරිහාන - රු. 1,000/- ■ සමන් මහතා, සුජාතා මහත්මිය, අස්විනි දසනායක මෙනවිය - පිළියන්දල - රු. 1,000/- ■ ශ්‍රියානි විජේසේකර මහත්මිය - ගාල්ල - රු. 1,000/- ■ ඩී. එම්. විජේසිරි බණ්ඩාර මහතා - බදුල්ල - රු. 1,000/-, රංජිත් වික්‍රමසිංහ මහතා, පද්මාවතී වික්‍රමසිංහ මහත්මිය, සුභාෂිනී දිසානායක මහත්මිය - කඩිගමුව, උපුල් විජේනායක මහතා - මාවනැල්ල, මනෝජ් ජයසූරිය මහතා - මහරගම, එම්. ඩී. තිලකරත්න මහතා ඇතුළු පවුලේ සැම - වැලිපැන්න, තිස්ස බී. අතාවුද මහතා ඇතුළු පවුලේ සැම - ජාඇල, ඩී. කේ. විජේසූරිය මහතා - අළුබෝමුල්ල, සෙනෙහලතා ජයවික්‍රම මහත්මිය - ගම්පහ, අයි. ජී. ආර්. අත්තනායක මහතා - බොරලැස්ගමුව, ප්‍රියන්ති රණසිංහ මිය, චතුනි ඉමල්ෂා දුව, හේෂාන් ප්‍රමුදිත් පුතා - මීගොඩ, පී. ඩී. නයනි නිරෝෂිකා මිය - මීගොඩ, ගාමිණී සිරිමාන්න මහතා ඇතුළු පවුලේ සැම - රදවාන - එකතුව - රු. 6,200/- ■ විවිධ පින්වතුන් විසින් ලබා දුන් පරිත්‍යාග - රු. 4,130/- ■ එකතු වූ සියලු මුදල් පරිත්‍යාග - රු. 383,195/- ■ පළමු පිටපත් 15,000 සඳහා මුද්‍රණ වියදම රු. 395,250/- ■ අනෙකුත් වියදම් - 14,350/- ■ සම්පූර්ණ වියදම - රු. 409,600/- ■ එක් පිටපතක නිෂ්පාදන වියදම - රු. 27.30/- ■ මුද්‍රණ කටයුතු සඳහා ගිය හිඟ මුදල සඟරා අලෙවියෙන් පියවා ගන්නා ලදී. සඟරා අලෙවියෙන් ලැබෙන ඉතිරි සියලු මුදල් නැවත මුද්‍රණ කටයුතු ඇතුළු දහම් කටයුතු සඳහාම යොදවනු ලැබේ.

**ඉහත නම් සඳහන් පිංවත් පිරිස ඇතුළු ආධාර උපකාර කළ සියලු දෙනා සිදු කරගත් මේ පුණ්‍ය කුසල ආශිර්වාද හේතු කොටගෙන, අනන්ත සසරේ පටන් මේ දක්වා තම තමන් අතින් අවැඩ, අසාධාරණ, වැරදි, ප්‍රමාද දෝසවලට ලක් වූ සියලු දෙනාට මෙන්ම උදව් උපකාර කළ සැමටත්, මියගිය සතර වරිගයක ඥාති මිත්‍රාදීන්ටත් මේ පුණ්‍ය කුසල ආශිර්වාද විහිදී පැතිරී පිහිටා සුගතිගාමීව තම තමන්ගේ පැතුම් පරිදි නිර්වාණාවබෝධයටද හේතු වාසනා වේවා! එම ආධාර උපකාර කළ පිංවත් පිරිස් ඇතුළු සිය පවුල්වල සැමටත්, නිදුක් නිරෝගී සුවය ලැබී, කරන කියන යහපත් රැකී රක්ෂා ව්‍යාපාර ආදියෙන් සියලු ජයග්‍රහණයන් අත් වේවා. දූ දරුවන්ගේ අධ්‍යාපන ආදී කටයුතුවලින් විශිෂ්ඨ ජයග්‍රහණ අත් වී සුචරිත පිරිසක් වී සියලු අභිවෘද්ධිය උදා වේවා!**

---

## හෙළ බොදු පියුම දහම් සඟරාවේ පසුගිය කලාප ඇතුලු සියලු කලාප දැනට ලබාගත හැකි ස්ථාන:

■ චන්ද්‍රල වෙළඳ විමන, අංක 104, හයිලෙවල් පාර, මහරගම 077 7258851 ■ හසරු ප්‍රින්ටර්ස් - මාලබේ. (071 4220558 / 011 2744308) ■ පිනැකල් නෙට් - හයිලෙවල් පාර, ගොඩගම - 011 2895132 ■ තුෂාරා ෆැෂන් - හයිලෙවල් පාර, හෝමාගම - 011 2857572 ■ තුෂාරි සාරි සෙන්ටර් - කොළඹ පාර, පාදුක්ක - 076 6114237 ■ නිව් පියුමි කොමිනිකේෂන් - පීරිස් මාවත, කළුබෝවිල - 077 3742023 ■ නැදිමාල ශ්‍රී සෝමානන්ද විහාරයේ සදහම් වැඩසටහනින් (බදාදා පෙ. ව. 9.00 සිට 3.00 දක්වා පමණි.) 077 2292677 / 071 3228571 ■ දෙහිවල කරගම්පිටිය ශාස්ත්‍රානන්ද පිරිවෙන් විහාරයේ සදහම් වැඩසටහනින් (සෙනසුරාදා උදේ 8.30 සිට සවස 2.00 දක්වා පමණි) (දෙහිවල පොලිස් ස්ථානය අසල) - 071 8059784, 077 2055098 ■ සෙනාරෝ සෙන්ටර් - අංක 35, රාජගිරිය පාර, රාජගිරිය - 075 5569555 ■ සීදේවි හෝටලය, වේයන්ගොඩ පාර, කිරිඳිවැල. 071 0118101 ■ කුමාර අයන් වර්ක්ස් - 209 ඒ, ගලහිටියාව, ගනේමුල්ල - 076 9604682, 071 3329621 ■ පෝලර් රීජන්ස් 402 සී, ගාලු පාර, පානදුර 038 2235369 ■ සරසවි පොත්හල - 330/ඒ, ගාලුපාර, අළුත්ගම - 077 3474081 ■ සුධීර කොමිනිකේෂන්, පිටිගල පාර, පැලවත්ත. - 071 2103177, 075 2679202 ■ සහන ෆාමසි - මූණගම, හොරණ - 071 2608776 ■ උපාලි පූජා භාණ්ඩ මන්දිරය - හොරණ 077 7722531 ■ සමනල පොත්හළ - නෙළුව - 071 2837757 ■ ස්ටුඩියෝ සෙවන් සීරෝ, තවලම හන්දිය, තවලම (ඉන්ධන පිරවුම් හල අසළ) 071 5827923 ■ ගේට්වේ අධ්‍යාපන ආයතනය - කලේගාන, ගාල්ල - 091 2242610 ■ නිව් මෙට්‍රෝ කම්පියුටර්ස් - කාලිදාස මාවත, මාතර - 041 2225118 ■ හෙළ බොදු සිසිල සෙනසුන - මුරුතමුරේ, හක්මන - 041 3021878 ■ පත්මසිරි ස්ටෝර්ස් - මුරුතමුරේ (පන්සල අසල) හක්මන - 071 4133487 ■ මෝලෙ කඩේ - මුදුන, වලස්මුල්ල - 071 1662643 ■ දිලුනෙත් - පාසල් මාවත, කඹුරුපිටිය - 071 9856555 ■ රාජපක්ෂ වෙළඳසැල - බැද්දෙගෙදර, මිද්දෙණිය පාර, වීරකැටිය - 07 12136329 ■ සංජීව සුපර් ග්‍රොසරි - ප්‍රධාන වීදිය, බඩල්කුඹුර 075 5863883, 055 2250051 ■ හොරණ වාසනා බේකර්ස්, අංක 31, තිස්ස පාර, වැල්ලවාය - 071 8375871 ■ අමර බුක් ෂොප් ඇන්ඩ් කොමියුනිකේෂන් - අංක 113/11 ඒ, බණ්ඩාරනායක මාවත, රත්නපුර - 071 2404242, 072 2404242 ■ සොබා දහම් ගොවිපොළ, සණස, උකුවෙල, මාතලේ - 071 8261500 / 066 2245353 ■ චන්ද්‍රල වෙළඳ විමන, අංක 124, කෙලින් වීදිය, මාතලේ - 077 3632966 ■ ඒකනායක මන්තින්දරාමය - ඉහළගම, මහඋඩගම, ගම්පොළ, නුවර - 077 541 64 61 / 081 020 57572 ■ අමිල ට්‍රේඩර්ස් , අංක ඩී1, ඒ. ඒ. ධර්මසේන මාවත, මහනුවර - 075 7246797 ■ අරිය චින්තාශ්‍රම හෙළ බොදු සෙනසුන, බාලදක්ෂ මාවත, ගල්කඩවල, අනුරාධපුර - 076 6442125 ■ අරි සිතුම් අරණ දහම් මැදුර, දේවගිරිපුර, ගල්ගමුව - 071 1211876 ■ හොරණ වාසනා බේකර්ස්, මැදවච්චිය (ඔරලෝසු කණුව ඉදිරිපිට) - 071 8375871 ■ ප්‍රජාපතී ගෝතමී ආරාමය, පහලගම, සියඹලන්ගමුව, මාස්පොත - 037 4902817 ■ පිවිතුරු අරණ සෙනසුන - කට්ටකඩුව, ආඬියාගල, දඹුල්ල - 025 5789988 ■ සීගිරි පොත්හළ, පොළ හන්දිය, මහව - 077 6243804 ■ ශෛල පබ්බතාරාමය, ගිජිදගම, පොල්ගහවෙල - 071 212 5880 ■ රුහුණු ෆුඩ් ලයින්, අංක 05, හලාවත පාර, කොච්චිකඩේ - 031 2277726 ■ චන්දන පූජා භාණ්ඩ - 100, බදුල්ල පාර, හාලිඇල - 055 2294999 ■ සෙව්වන්දි පොත්හළ, පාසල් මාවත (වැරෙන්කටගොඩ මහා විද්‍යාලය ඉදිරිපිට), වැරෙන්කටගොඩ, අම්පාර 077 4182684 / 077 0844980

**තැපෑලෙන් ගෙන්වා ගැනීම සඳහා විමසන්න - ඩී. සී. ආර්. ඇක්සස් මුද්‍රණාලය - අංක 33, තලවතුගොඩ පාර, පිටකෝට්ටේ - 0777794676**

***ඉහත ආයතන හිමි පින්වතුන් මෙම සද් කාර්ය ඉටු කරනු ලබන්නේ කිසිදු වෙළඳ ලාභයකින් තොරව සාසනික කටයුත්තක් වශයෙන් පමණි.***

# කට්ඨාරි ජාතකය



යට ගිය දවස බරණැස් නුවර රජ කළ
සෙට මහ රජෙකි බඹදත් නමැති සුප තල
දුට රජු උයන් කෙළියට දිනක ගිය කල
බට සුරඟනක පරයන ලියක එහි තුළ

ඇඟ පත රුසිරු රුව දෙස රජු දෙනෙත හෙළා
නැග ණිය ඔබ මටය හිමි ඇය වසඟ කළා
රඟ පෑමට රජුගෙ මැය වුන බැවිනි මුළා
මග වැරදුනා ඇය දැන් ගැබිණියක වෙලා

එය ඇසු රජු සුරතෑ පේ රුස් මුදුව ගෙන
මැය අත තබා මෙපරිදි ඔහු දුනිය අණ
බිය වනු කිම දුවණියක ඔබ ලබපු දින
මෙය විකුණනු මුදල් ගෙන ඇය රකිනු මැන

එන මුදු පුතෙකු ලදහොත් මවෙත ගෙන එනු
අණ පිළිපදිනු මුදුවද නැවත මට දෙනු
දින ගත වුනා පුතෙකුය ඇයට බිහි වුනු
දැන මුතු වුනා පුතු ගැන රහස සැඟ වුනු

පසු කල පුතු අසයි පවසනු මව්නි දයා
බිහි කළ මව ඔබය එනමුදු කව්ද පියා
එම කල මව කියයි ඔහු මහ රජුය කියා
හෙළි කළ පසු රහස පුතු එහි රැගෙන ගියා

පුතු මගෙ නොවේ මුදුවද මට අයිති නැත
යුතු නැත බොරුව ඇයි මහ රජ වැරදි මත
තතු හෙළි කරමි පති ගුණයට යොමමි සිත
පැතු මකි බලනු පුතු අහසෙහි රැඳෙනු ඇත

පවසයි පුත් කුමරු අහසෙහි රැඳී සිට
ඔබ වෙයි මගෙ පියා අදහමි අගේ කොට
බලුවොයි තිරිසනුයි හැකි නොවෑ තැනීම ට
සිදු වෙයි ඔබට තම පුතු රැක ගැනීම ට

අසිරිය පුතුගෙ දැක පිය රජු මවිත වුනා
පදවිය යුව රජිඳු පුතු හට උරුම වුනා
මෙහෙසිය වුනා මව මහ රජු සතුටු වුනා
කුමරුය එදා මම අද බුදු සමිඳු වුනා

(පන්සිය පනස් ජාතක පොත ඇසුරෙනි)

පබැඳුම - කාව්‍ය ශිරෝමණී පානදුරේ එස්. ඒ. එස්. පෙරේරා



# කවුරු කළත් පින්කම් දැක සතුටු වෙමු...

උදෙසා කෙරෙන කටයුතු බුදු සසුන නිසා
නිදොසා වෙමැයි තුන් ලොවටම අඳුර නසා
නොදෙසා වදන් එරෙහිව භව ගමන වසා
සලසා ගනු නිවන එහි මහ බලය අසා

සතුරෙක් කළත් පින නම් දැක සතුටු වෙමු
පැතුමක් පතා නිවනට මං සලස ගමු
මෙතුවක් කරපු තරහව දැන් අහක ලමු
සසුනක් නිසා කළ පින් ලොව පතුර වමු

තමන් කළොත් හොඳමයි අන් අයට නැත
වදන් පිළිකුලයි දොස මිස නොමැත සෙත
අනුන්ටද තමන්ටද ඉන් අවැඩ වෙත
දැනන් ඉඳිනු දුගතියකට ඉඩද ඇත

යන්නට එපා උන්ගේ පින්කමට මෙදා
එන්නට බලව් අපෙ පින්කම වැඩිය තෙදා
වන්නට හැකිද මෙලෙසින් කී අයට හොඳා
ඉන්නට වෙනව සසරේ දුක් කඳුළු බදා

නොකළත් තමන් අනුමෝදන් විය හැකි නම්
මෙකලත් ලද හැකියි එහි එල නොඅඩුව තුම්
දැකලත් පහර ගහනව නම් කළ පව් කම්
රැකලත් කුමට දුගතිය නම් එමහණ දම්

වියදම් නොකර කර ගත හැකි දෙයක් වෙද
එය නම් පිනයි නුවණැති අය නොවෙත් ඇද
තහනම් කළොත් කෙනෙකුගෙ යහපතක් සිඳ
මතු යම් දවසකදි එයි මහ දුකක් හද

හැම කල් නොමැත මහ පින් කළ හැකි වන්නේ
එමටයි නොකල් අන් දහමකි පවතින්නේ
මම යැයි සිතා පිනටත් ලොබ නොකරන්නේ
ගිමනක් නොමැති දුගතියෙ මතු උපදින්නේ

පෙළ දහමෙහිද එන එදවස මෙවැනි කතා
හළ යුතු නොවේ ගත යුතුමැයි නිවන පතා
මළ විට නොඇසෙනා මේ බණ දහම යතා
කළ කම් දැනන් දිවි ගෙව්වොත් පිහිට ඇතා

පබැඳුම - නීතිඥ චන්දන සිරිවර්ධන



1084 RS.25.00
HELA BODHU PIYUMA 84

නීතිඥ චන්දන සිරිවර්ධන විසින් සංස්කරණය කර නුගේගොඩ ගංගොඩවිල වනාත පාරේ අංක 96/A දරණ ස්ථානයේ පිහිටි ඉමාෂි මුද්‍රණාලයේ මුද්‍රණය කරවා ප්‍රසිද්ධ කරන ලදී.